# සිංහල සාහිත්‍ය සංග්‍රහය

## 10 - 11 ශ්‍රේණි

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



**සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.**

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අතිසෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර දා නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

ලෝකය දිනෙන් දින සංවර්ධනය කරා පියමනින විට අධ්‍යාපන ක්ෂේත්‍රය ද සැමවිටම අලුත් වෙයි. එබැවින් අනාගත අභියෝග සඳහා සාර්ථක ලෙස මුහුණ දිය හැකි ශිෂ්‍ය ප්‍රජාවක් බිහිකරලීමට නම් අපගේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය ද නිරතුරුව සාධනීය ප්‍රවේශ වෙත ළඟාවිය යුතු ය. එයට සවියක් වෙමින් නවලොව දැනුම සමීප කරන අතරම, යහගුණයෙන් පිරිපුන් විශ්වීය පුරවැසියන් නිර්මාණය කිරීමට සහයවීම අපගේ වගකීම වේ. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යයෙහි සක්‍රිය ලෙස ව්‍යාවෘත වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ සඳහා දායක වනුයේ දූයේ දරුවන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොතක් යනු දැනුම පිරි ගබඩාවකි. එය විටෙක අප වින්දනාත්මක ලොවකට කැඳවාගෙන යන අතරම තර්ක බුද්ධිය ද වඩවාලයි. සැඟවුණු විභව්‍යතා විකසිත කරවයි. අනාගතයේ දිනෙක, මේ පෙළපොත් හා සබැඳි ඇතැම් මතක, ඔබට සුවයක් ගෙන දෙනු ඇත. මේ අනගි ඉගෙනුම් උපකරණයෙන් ඔබ නිසි පල ලබාගන්නා අතරම තව තවත් යහපත් දැනුම් අවකාශ වෙත සමීප වීම ද අනිවාර්යයෙන් සිදු කළ යුතු ය. නිදහස් අධ්‍යාපනයේ මහරු තිළිණයක් ලෙස නොමිලේ මේ පොත ඔබේ දෝතට පිරිනැමේ. පාඨ ග්‍රන්ථ වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පෙළපොත හොඳින් පරිශීලනය කර නැණ ගුණ පිරි පුරවැසියන් වී හෙට ලොව එළිය කරන්නට ඔබ සැමට දිරිය සවිය ලැබෙන්නැයි සුබ පතමි.

මෙම පෙළපොත් සම්පාදන සත්කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ප්‍රණාමය පළකරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2020. 05. 26

| | |
|---|---|
| **නියාමනය හා අධීක්ෂණය** | ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **මෙහෙයවීම** | ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| **සම්බන්ධීකරණය** | ප්‍රගීතිකා ජයසේකර<br>නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සංස්කාරක මණ්ඩලය**

| | |
|---|---|
| ජයන්ත අමරසිංහ | මහාචාර්ය<br>රුහුණු විශ්වවිද්‍යාලය |
| පී. ඒ. ඩී. රුවනි සිසිජා | සහකාර කථිකාචාර්ය<br>ජාතික අධ්‍යාපන ආයතනය |
| ශ්‍රියානි අබේවික්‍රම | නියෝජ්‍ය අධ්‍යක්ෂ<br>භාෂා හා මානව ශාස්ත්‍ර අංශය<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| එච්.ජී. සුසිල් සිරිසේන | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>අධ්‍යාපන විද්‍යා පීඨය, හාපිටිගම |
| ප්‍රගීතිකා ජයසේකර | නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**භාෂා සංස්කරණය**

| | |
|---|---|
| පූජ්‍ය අගලකඩ සිරිසුමන හිමි | මහාචාර්ය<br>කොළඹ විශ්වවිද්‍යාලය |

## ලේඛක මණ්ඩලය

| | |
|---|---|
| පුෂ්පා කළුආරච්චි | ගුරු උපදේශිකා<br>කලාප අධ්‍යාපන කාර්යාලය, රත්නපුර |
| එම්. ඒ. ඒ. පී. මල්ලවආරච්චි | ගුරු උපදේශක<br>කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, නිකවැරටිය |
| කේ. වී. ඩී. සී. එන්. අබේසිංහ | ගුරු සේවය<br>ගිරි/ දඹදෙණිය මහා විද්‍යාලය, දඹදෙණිය |

## සෝදුපත් කියවීම

ජයත් පියදසුන්

## පිටකවර නිර්මාණය

| | |
|---|---|
| ජේ. එච්. මනෝරිකා ප්‍රියංගනී | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## පරිගණක අක්ෂර සංයෝජනය

| | |
|---|---|
| එස්. වී. ජී. එරංගා දිල්රුක්ෂි | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| ජේ. එච්. මනෝරිකා ප්‍රියංගනී | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| නෙල්කා ප්‍රසාදිනී | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන

පිටු අංක

# සංස්කාරක සටහන

2015 වර්ෂයේ සිට ක්‍රියාත්මක වීමට නියමිත නව විෂය නිර්දේශයට අනුකූල ව සම්පාදනය කර ඇති මෙම 10-11 ශ්‍රේණි සිංහල සාහිත්‍ය සංග්‍රහය පෙළපොත, අතීතයේ සිට වර්තමානය දක්වා විවිධ ලේඛකයන් විසින් සම්පාදනය කෙරුණු නිර්මාණාත්මක සාහිත්‍ය කෘතිවලින් උපුටා ගැනුණු උද්ධෘත ඇතුළත් සාහිත්‍යමය උද්ධෘත සමුච්චයකින් සමන්විත ය. ජාතික අධ්‍යාපන ආයතනය විසින් නිර්දිෂ්ට එම සාහිත්‍යමය උද්ධෘතවලට අදාළ සංක්ෂිප්ත විස්තරයක් හෝ නිර්මාණයේ කර්තෘ පිළිබඳ හැඳින්වීමක් ද මෙම පොතේ අන්තර්ගත වේ. මෙහි පාඩම් අනුපිළිවෙළ ජාතික අධ්‍යාපන ආයතනය විසින් සම්පාදිත පාඩම් අනුක්‍රමයට අනුකූල ව සකස් කර ඇත.

මෙම පෙළපොතේ ඇතුළත් සාහිත්‍යමය උද්ධෘත ඉගෙනීමේ දී වැදගත් වන සම්භාව්‍ය සිංහල සාහිත්‍යය පිළිබඳ ඓතිහාසික විස්තරයක් සැකෙවින් පොත අවසානයේ උප ග්‍රන්ථයක් ලෙස ඔබගේ අමතර දැනුම සඳහා එක් කර ඇත. එපමණක් නොව සම්භාව්‍ය සිංහල සාහිත්‍ය කෘතිවලින් උපුටා ගත් උද්ධෘතවල ඇතැම් දුරවබෝධ යෙදුම් සඳහා අර්ථ පැහැදිලි කිරීම් ඇතුළත් කර තිබීම ඔබගේ අධ්‍යයන කාර්යයට පහසුවක් වෙතැයි අපේක්ෂා කළෙමු.

ඔබේ ගුරුවරයාගේ මග පෙන්වීම සහිත ව මෙම සාහිත්‍යමය උද්ධෘත හදරා සිංහල සාහිත්‍යය පිළිබඳ මනා අවබෝධයක් ලබා ගැනීමටත් තව තවත් සිංහල සාහිත්‍යය හැදෑරීමට යොමු වීමටත් ඔබට හැකි වනු ඇත. එමෙන් ම සාහිත්‍ය පරිශීලනයෙන් ලබන ජීවිත පරිඥානය ඔබේ මතු ජීවිතය සාර්ථක කර ගැනීමට ද ඉවහල් වේවා යන්න අපගේ ප්‍රාර්ථනයයි.

මෙම පොතේ ඇතුළත් ලේඛනවල මුල් කර්තෘවරුන්ට අපගේ ප්‍රණාමය පිරිනමන අතර මෙම පෙළපොත සම්පාදනයේ දී විවිධ ආකාරයෙන් සහයෝගය දැක්වූ සියලු දෙනා කෘතඥතා පූර්වක ව සිහිපත් කරමු

**සංස්කාරක මණ්ඩලය**

# 1 සතර කන් මන්ත්‍රණය

(කුරුණෑගල අවධිය)

පන්සිය පනස් ජාතක පොත 14 වන සියවසෙහි කුරුණෑගල රජ කළ සතර වන පණ්ඩිත පරාක්‍රමබාහු රජ දවස වීරසිංහ ප්‍රතිරාජ නමැති ඇමැතිවරයාගේ අනුග්‍රහයෙන් සිංහලයට නගා ඇති බව කියැවේ. මේ සඳහා මූලාශ්‍රය කොට ගත් ග්‍රන්ථය වන්නේ පාලි ජාතකට්ඨකථාව යි.

සිංහල පන්සිය පනස් ජාතක පොත මුල් කෘතියෙහි ඍජු පරිවර්තනයක් නො වේ. ජාතක ගාථා ස්වල්පයක් දක්නට ලැබීමත්, වෛයාකරණ (ගාථාවල අදහස් හා වචන විස්තර) කොටස දක්නට නො ලැබීමත්, අතීත කතාව අඛණ්ඩව ඉදිරිපත් කිරීමත් සිංහල ජාතක කතා පොතෙහි ලක්ෂණ වේ. 'පන්සිය පනස් ජාතක කතා පොත' ලෙස හැඳින්වුව ද එහි සැබවින් ම ඇත්තේ ජාතක කතා 547කි.

සිංහල ජාතක කතාවන්ට නියමිත ආකෘතියක් දක්නට ඇත. ඒ අනුව,

වර්තමාන කතාව,<br>
අතීත කතාව,<br>
සමෝධානය<br>
යන ලක්ෂණ, සිංහල ජාතක කතාව තුළ දක්නට ලැබෙන අංග යි.

ජාතක පොත ඇසුරු කර ගෙන රචිත පරිවාර ග්‍රන්ථ රාශියක් ද වේ. ජාතක පොත සිංහලයට නැගුණු පසුව ද වෙන් වෙන් වශයෙන් ජාතක කතා ලියවී ඇත. **උම්මග්ග ජාතකය, එළු උමංදාව, උම්මදන්ති ජාතකය** එබඳු ග්‍රන්ථ කීපයකි. **මුවදෙව්දාවත, සසදාවත** හා **කව්සිළුමිණ** ජාතක කතා ඇසුරෙන් රචිත ගී කාව්‍ය යි. **කාව්‍යශේඛරය, ගුත්තිල කාව්‍යය, සඳ කිඳුරු දා කව, කුස ජාතක කාව්‍යය, දහම් සොඬ දා කව, වෙස්සන්තර ජාතකය, මුව ජාතකය, නිමි ජාතකය, කව්මිණි කොඬොල, කව්මිණි මල් දම** ආදිය ද ජාතක පොත ඇසුරෙන් බිහි වූ කාව්‍ය ග්‍රන්ථ යි.

උම්මග්ග ජාතකය රචනා කිරීමේ අරමුණ වී ඇත්තේ මහෞෂධ පඬිතුමාගේ බුද්ධි මහිමය ප්‍රකාශ කිරීම යි. ජාතක කතා අතර දීර්ඝතම කතාව වන මෙහි මහෞෂධ පඬිතුමා කුඩා අවධියේ සිට සිය නුවණ මෙහෙයවා කටයුතු කරන ආකාරයත් රජුට සේවය කිරීමේ දී සතුරු කුමන්ත්‍රණ පරදා රාජ්‍යය හා ජීවිත බේරා ගැනීමට උපායශීලීව කටයුතු කරන ආකාරයත් විස්තර කෙරේ. ඒ ජයග්‍රහණය ලබන්නේ කිසි දු ජීවිත හානියක් සිදු නො වන ආකාරයට වීම මෙහි විශේෂත්වයකි. උම්මග්ග ජාතකයේ එන සතර කන් මන්ත්‍රණයේ සිට ධර්ම යුද්ධය තෙක් කොටස මේ පාඩමට ඇතුළත් වේ.

## සතර කන් මන්ත්‍රණය

එ සමයෙහි උත්තර පඤ්චාල නුවර බ්‍රහ්මදත්ත නම් රජ්ජුරු කෙනෙක් රාජ්‍යය කෙරෙති. ඒ රජ්ජුරුවනට කේවට්ට නම් බමුණු කෙනෙක් අර්ථයෙන් ධර්මයෙන් අනුශාසනා කරන්නාහ. උඟු තුමූ නුවණැත්තාහ, වියත්තාහ. ඒ කේවට්ටාචාරි එක් දවසක් තුමූ අලුයම් වේලෙහි පිබිද, සුවඳ තෙලෙහි නඟන ලද පහන් ආලෝකයෙන් ගන්ධදාම පුෂ්පදාමාවලම්බිත නා නා වර්ණ විචිත්‍ර විතානෝපලක්ෂිත අලංකෘත ශ්‍රී යහන් ගර්භය බලන්නාහු මහත් වූ සම්පත් දැක, ‘මේ මාගේ යසස කවුරුන් සන්තක දෝ හෝ’ යි සිතන්නාහු ‘අනෙක් කෙනෙකුන් සන්තක නො වෙයි; චූලනී බ්‍රහ්මදත්ත නම් රජ්ජුරුවන් සන්තක ය. මෙබඳු සම්පත් දුන් රජ්ජුරුවන් සියලු දඹදිවට අග රජ කළොත් යහපත. එ සේ වුව හොත් මමත් අග්‍ර පුරෝහිත වෙමි’ යි සිතා, උදෑසනක් සේ ම රජ්ජුරුවන් සමීපයට ගොස් රෑ දවස සුවයෙන් නිඳි ලත් පරිදි විචාරා, “දේවයන් වහන්ස, කොට-පිය යුතු කථාවෙක් ඇත”යි කීහ. රජ්ජුරුවෝ, “කියව, ආචාරීනි” යි කීහ. “දේවයන් වහන්ස, ඇතුළු නුවර දී රහස් කියන්නට නොපිළිවන. මඟුල් උයනට යම්හ” යි කීහ. රජ්ජුරුවෝ “යහපත ආචාරීනි” යි කියා බමුණන් හා සමග උයනට ගොස්, සේනාව පිටත සිටුවා වට කොට රකවල් ලවා බමුණන් හා සමග ඇතුළු උයනට වැද මඟුල් සල් වටෙහි හුන්හ.

ගිරා පණ්ඩිතයෝ මේ ක්‍රියාව දැක, ‘මේ එක් කාරණයක් වුව මැනැව. අද පණ්ඩිතයන් වහන්සේට කිය යුතු කිසිවක් අසමි’ යි උයනට වැද, මඟුල් සල් ගස කොළ අතර සැඟවී හුන්හ. රජ්ජුරුවෝ බමුණාණන්ට, “කිය යුතු රහස් කියව, ආචාරීනි” යි කීහ. “දේවයන් වහන්ස, නුඹ වහන්සේගේ කන මැතට නමා ලුව මැනැව. මේ මන්ත්‍රණය සතර කන් මන්ත්‍රණය නම් වන්නේ ය. ඒ හෙයින් නුඹ වහන්සේගේ දෙ කන හා මගේ දෙ කන මුත් අනෙක් කනකට නොයා යුතු වන්නේ ය. ඉදින් දේවයන් වහන්ස, මා කීවා කරන සේක් නම් සියලු දඹදිවට නුඹ වහන්සේ අග රජ කොට ලමි” යි කීහ. චූලනී බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ ද මහත් වූ රාජ්‍ය ලෝභයෙන් යුක්ත බැවින් බමුණන්ගේ බස් අසා සතුටු වැ, “කියව ආචාරීනි, තොප කීවාක් කෙරෙමී” යි කීහ.

“දේවයන් වහන්ස, අපි සේනාව රැස් කොට ගෙන පළමු කොට කුඩා නුවරක් වට කොට ගනුම්හ. මම කුරුබිලියෙන් ඇතුළු නුවරට වැද, ඒ නුවර රජ්ජුරුවනට, ‘දේවයනි, තොප හා අප හා සටන් කොට කාරියෙක් නැති; හුදෙක් අප නතු වව. තොපගේ රාජ්‍යය තොපට ම වන්නේ ය; සටන් කොළෝ නම් අපගේ සේනා වාහන මහත් හෙයින් ඒකාන්තයෙන් ම පරදුව’ යි කියමි. ඉදින් මා කී ලෙස නොකොළෝ නම්, සටන් කොට අල්ලා ගෙන මරා පියා උන්ගේ සේනාවත් හැර ගෙන අනෙක් නුවරකට යම්හ. ඒ නුවරත් එසේ ම යටත් කොට ගෙන, ඉන් අනෙක් නුවරෙකැ යි මේ සැටියේ ම සියලු දඹදිව රාජ්‍යය ගෙන ‘ජය පානය අනුභව කරම්හ’ යි කියා එක් සියයක් රජදරුවන් අපගේ නුවරට ගෙන’වුත් උයනැ දී රා මණ්ඩලයක් සාදා උන් හැම දෙනා ‘රා බොන්නට යැ’ යි රා මැඬිල්ලේ හිඳුවාලා විෂ යොදා කරන ලද්දා වූ රා අනුභව කරවා උන් හැම දෙනා ම ජීවිත විනාශයට පමුණුවා ගඟ දියට දමා එක් සියයක් රාජධානියෙහි රාජ්‍යය අත් පත් කොට ගනුම්හ. එ සේ කල්හි නුඹ වහන්සේ සියලු දඹදිවට අග රජ වන සේකැ” යි කීහ. රජ්ජුරුවෝ “යහපත ආචාරීනි, තොප කී ලෙස ම කෙරෙමී” කීහ. “දේවයන් වහන්ස, මේ මන්ත්‍රණය සතර කන් මන්ත්‍රණය

නම් වෙයි; අනෙක් කෙනකුන් දත නො හැක්කේ ය. එසේ හෙයින් කල් නොයවා යහපත් නැකැතෙකින් වහා නික්මුණු මැනැවැ'' යි කීහ. රජ්ජුරුවෝ ''යහපතැ'' යි ගිවිස්සාහ.

ගිරා පෝතකයෝ ඒ මන්ත්‍රණය අසා නිමවා, උන් දෙදෙනා මන්ත්‍රණය කොට අන්තයෙහි දී, සාල්ලෙක ලාලා පාතට බාන කෙනකුන් මෙන් කේවට්ට බමුණා හිසැ වර්චස් පිඬක් හෙළා, 'කිමෙක් දැ' යි කට දල්වා ගෙන උඩ බැලූ තැනැත්තවුන්ගේ මුඛයේ නැවැත වර්චස් පිඬක් හෙළා, ''ක්‍රීන්'' යන අනුකරණයෙන් හඬමින් කොළ'ත්තෙන් උඩ නැඟී, ''කේවට්ටය, තෝ තමාගේ මන්ත්‍රණය සතර කන් මන්ත්‍රණ යැ යි සිතයි ද? දැන් ම සකන් වැ ගියේ ය. නැවැත අට කනකට ගොස්, පසු ව නොයෙක් සිය කනකට යන්නේ යැ'' යි කීහ. ගිරවා ''කොල, ගනුව'' යි කියද්දී ම පවනට බඳු වූ වේගයෙන් පියාසර කොට මියුලු නුවරට ගොස් මහෞෂධ පණ්ඩිතයන් වහන්සේගේ ප්‍රාසාදයට වන්හ.

ඒ ගිරා පණ්ඩිතයන්ගේ මෙ බඳු වතෙක් ඇත්තේ ය. ඉදින් කිසි තෙනෙකින් ගෙනා හස්නක් පණ්ඩිතයන් වහන්සේට පමණක් කිය යුතු වී නම් උන් වහන්සේගේ දසරුවට බස්නාහ; ඉදින් අමරා දේවීනුත් ඇසුව මනා වී නම් ඇකයෙහි ගොස් හිඳිනාහ; ඉදින් බොහෝ දෙනා ඇසුව මනා වී නම් බිමට බස්නාහ. එදවස් ගිරා පණ්ඩිතයෝ පණ්ඩිතයන් වහන්සේගේ දසරුවෙහි බැස උන්හ. ඒ සලකුණෙන්, 'රහසැ බිණිය යුතු යැ' යි අමරා දේවීන් හා බොහෝ දෙන ඉවත්ව ගියහ. පණ්ඩිතයන් වහන්සේ සුව පෝතකයන් හැර ගෙන මතු මාල් තලයට නැඟී, 'සබඳ, තොප විසින් කුමක් දක්නා ලද ද; කුමක් අසන ලද දැ' යි විචාළ සේක. ඉක්බිති ගිරා පණ්ඩිතයෝ බෝධිසත්ත්වයන් වහන්සේට, ''මම, දේවයෙනි, සියලු දඹදිව අනෙක් රජ්ජුරු කෙනකුන් සමීපයෙන් කිසි භයක් නො දිටිමි. උත්තර පංචාල නුවර චූලනී බ්‍රහ්මදත්ත රජ්ජුරුවන්ගේ කේවට්ට නම් පුරෝහිතයාණෝ රජ්ජුරුවන් උයනට ගෙන ගොස්, සතර කන් මන්ත්‍රණයක් කළහ. මම මඟුල් සල් ගසැ අත්තක් ඇතුළේ සැඟැවී හිඳ, මන්ත්‍රණය අසා නිමවා ගෙන කේවට්ට බමුණා කටැ වර්චස් පිඬක් හෙළා පියා ආමී'' යි කියා සියලු තමන් දුටු දෙයත් ඇසූ දෙයත් පණ්ඩිතයනට දැන්වූහ. උන් වහන්සේ විසින් "රජ්ජුරුවෝ ගිවිස්සෝ දැ'' යි විචාළ කල්හි, ''ගිවිස්නා ලද යැ, දේවයෙනි'' යි කීහ. පණ්ඩිතයන් වහන්සේ ගිරා පෝතකයනට කළ මනා සත්කාර කොට හෙවත් මීයෙන් හැනූ විලඳ කවා, මී පැන් පොවා, බේත් තෙලින් පියා සඟළ මැඬ, මොළොක් ඇතිරිලි අතුරන ලද රන් මැදිරියෙහි සතප්පා, ''කේවට්ටයා මා මහෞෂධ පණ්ඩිත බව නො දනිතී'' යි සිතමි. ''දැන් ඔහු කළ මන්ත්‍රණය මුදුන් පැමිණ නො දෙමි'' යි සිතා, ඇතුළු නුවර හුන් දිළිඳුන් පිටත් කරවා පිටි නුවර ලැවූ සේක. පිටි රටින් දනවුවලින් සතර වාසල නියම් ගම් සතරින් වස්ත්‍රාභරණ ධනධාන්‍යාදීන් සමෘද්ධ වූ ඉසුරුමතුන් ගෙන්වා ඇතුළු නුවර වැස්වූ සේක; බොහෝ ධනධාන්‍ය රැස් කරවූ සේක.

චූලනී බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ ද කේවට්ටයන්ගේ බස් ගෙන, හස්ත්‍යශ්වාදි සෙනඟ පිරිවරා ගොස් එක් කුඩා නුවරක් වටලා ගත්හ. කේවට්ට බමුණු තමා යට කී සැටියේ ම කුරුබිලියෙන් ඇතුළු නුවරට වැද කාරණාකාරණ ඒ රජ්ජුරුවනට කියා තමන් වසඟ කොටගෙන, දෙ සේනාව එක් කොටගෙන අනෙක් නුවරෙක රජ්ජුරුවනැයි මෙ සේ චූලනී බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ කේවට්ටාචාරීන්ගේ අවවාදයෙහි සිට ඒ වේදේහ රජ්ජුරුවන් තබා සෙසු සියලු දඹදිව රජ දරුවන් තමන් නතු කළහ. බෝධිසත්ත්වයන් වහන්සේ විසින් ඒ ඒ රජ්ජුරුවන් සමීපයෙහි සිටුවන ලද පුරුෂයෝ ද, ''බ්‍රහ්මදත්ත රජ්ජුරුවන් විසින් අද වකට මෙතෙක්

නුවර ගන්නා ලද, පණ්ඩිතයන් වහන්ස, නොපමා වන සේක්වා'' යි කියා නිරන්තරයෙන් හසුන් එවන්නාහ. උන් වහන්සේ ද ඒ යෝධයනට, ''මම මෙහි පමාවක් නැත්තෙමි. තෙපි උකටලී නො වැ නොපමා වැ වසව'' යි කියා යවන සේක.

බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ සත් හවුරුදු සත් මස් සත් දවසෙකින් වේදේහ රජ්ජුරුවන්ගේ රාජ්‍යය තබා සෙසු දඹදිව රාජ්‍යයන් ගෙන කේවට්ට බමුණානට, ''ආචාරීනි, මියුලු නුවර වේදේහ රජ්ජුරුවන්ගේ රාජ්‍යය ගනුම්හ'' යි කීහ. ''දේවයන් වහන්ස, මහෞෂධ පණ්ඩිතයන් වසන නුවර රාජ්‍යය ගන්නට නොපොහොසතුම්හ. ඒ පණ්ඩිතයෝ වනාහි මෙ බඳු නුවණැත්තාහ. ඉතා ම උපායවන්තයහ'' යි, මෙ සේ ඒ කේවට්ට බමුණු ආචාරි විස්තර කොට, සඳ මඬලෙහි අඳනා කෙනකුන් මෙන් මහ බෝසතාණන් වහන්සේගේ ගුණ රජ්ජුරුවනට කීහ. ඒ ආචාරි තුමූත් උපායවත්හු ම ය. එසේ හෙයින් ''මියුලු නුවර රාජ්‍යය නම් ඉතා ස්වල්ප ය. සියලු දඹදිව රාජ්‍යය අපට සෑහෙයි. එක් රාජ්‍යයකින් අපට කාරිය කිම් ද?'' යි උපායෙන් රජ්ජුරුවන් ගිවිස්සූහ. සෙසු රජ දරුවෝ ''අපි මියුලු නුවර රාජ්‍යය ගෙන ම ජන පානය බොම්හ'' යි කියන්නා, කේවට්ට ආචාරි උනුන් කාරණ කියා වළකා, ''වේදේහ රාජ්‍යය ගෙන කුමක් කරමෝ ද? ඒ රජ්ජුරුවෝත් අප නතුවෝ ම ය. නවතුව'' යි එක් සියයක් රජ දරුවන් උපායෙන් ගිවිස්සූහ. ඒ රජ්ජුරුවෝ කේවට්ට නම් බමුණාන්ගේ බස් අසා මියුලු නුවරට යන ගමන් නැවැත්තාහ. බෝසතාණන් වහන්සේට ඔබ වහන්සේගේ චර පුරුෂයෝ, ''බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ එක් සියයක් රජ දරුවන් පිරිවරා මියුලු නුවරට නික්මුණාහු නැවත තමන්ගේ නුවරට ම නැඟී ගියහ'' යි හසුන් එවූහ. බෝධිසත්ත්වයන් වහන්සේ ද ඒ පුරුෂයනට ''මෙ තැන් පටන් කොට රජ්ජුරුවන් කරන ක්‍රියාවන් දැන එවන්නේ යැ'' යි කියා නැවත හසුන් යැවූ සේක. බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ ද කේවට්ටයන් හා සමග ''විෂ මිශ්‍ර සුරා පානය අනුභව කරවා රජ දරුවන් මැරීම් සංඛ්‍යාත ඒ කටයුත්ත දැන් කරම්හ'' යි මන්ත්‍රණය කොට, ''අපි ජය පානය බොම්හ'' යි කියා, ''මඟුල් උයන නඳුන් උයනක් සේ සරසා දහස් ගණන් කුඩම්වල රා පුරා තබ්බා අනේක ප්‍රකාර මසවුළු ඒ ඒ ස්ථානයෙහි වළන් පුරා රැස් කොට තබව''යි අමාත්‍යයන්ට විධාන කළහ. එ පවත් පණ්ඩිතයන් වහන්සේට අන්තස්සර පුරුෂයෝ කියා යැවූහ. ඔහු වනාහි විෂ යොදා රජ්ජුරුවන් මරනු කැමැති නියාව නො දනිති; මහ බෝසතාණන් වහන්සේ වනාහි ගිරා පෝතකයන් අතින් ඇසූ බැවින් දන්නා සේක. එ සේ හෙයින් උන් වහන්සේගේ අන්තස්සරයන්ට ''ජය පානය බොන දවස් නියම කොට කියා එවවු'' යැ යි නැවත හසුන් යැවූ සේක. ඒ යෝධයෝ වදාළ ලෙස ම දවස් නියම කොට යැවූහ.

ඒ අසා පණ්ඩිතයන් වහන්සේ 'මා බඳු පණ්ඩිත කෙනකුන් ජීවත් වැ හින්ද දී ම මෙතෙක් රජ දරුවන් මිය යාම යුක්ත නොවන්නේ ය. උනට මා පිටුවහල් වුව මැන වැ' යි සිතා, තමන් වහන්සේ හා එක දවසැ උපන් යෝධයන් දහස බණවා ''සබඳිනි, චූලනි බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ උයන සරහවා එක් සියයක් රජ දරුවන් පිරිවරා සුරා පානය අනුභව කරනු කැමැත්තෝ ය. තෙපි ඔබ ගොස් රජ්ජුරුවන්ට අසුන් පනවාලූ කල කිසි කෙනකුන් නොහිඳිනා තුරු ම චූලනී බ්‍රහ්මදත්ත රජ්ජුරුවන් හිඳිනට පැනැවූ අස්නට ඉක්බිති පැනැවූ මා ඇඟි අස්නක්, 'අපගේ රජ්ජුරුවන්ට යැ' යි ගෙන, ඒ රජ දරුවන්ගේ සේනාව විසින්, 'තෙපි කවුරුන්ගේ සේනා ද?' යි කී කල 'වේදේහ රජ්ජුරුවන්ගේ සේනා වම්හ' ය කියව. 'කිමෙක් ද? අපි සත් හවුරුදු සත් මස් සත් දවසක මුළුල්ලෙහි දඹදිව රාජ්‍ය ගන්නමෝ,

එක දවසකුත් වේදේහ රජ්ජුරු කෙනකුන් නුදුටුම්හ. වේදේහ රජ්ජුරුවෝ නම් කවරහු ද? යව, උනට වුවමනා වී නම් කෙළවර අස්නක් ගනුව' යි තොප හා සමඟ කලහ කරන්නාහ. තෙපි 'බ්‍රහ්මදත්ත රජ්ජුරුවන් විනා අපගේ රජ්ජුරුවන්ට වැඩි තරම් කෙනෙක් නැතැ' යි කලහ වඩා ගෙන, 'අපගේ රජ්ජුරුවනට අස්න පමණකුත් නොලබන්නමෝ, දැන් තොප රාත් පිය නො දෙම්හ' යි 'මස් අවුළු ආදියත් කෑ නො දෙම්හ' යි වාසි බෙණෙමින් සිංහ නාද ඇසූ මුව පොල්ලන් පරිද්දෙන් තොපගේ අභීත ශබ්දයෙන් ම උන් භය ගන්වා යමුගුරු බා ලා සියලු රා මස් පිරූ සැළවල් බිඳ තු තු කොට පියා වහා රා මස් අවුළු විසුරුවා නො කෑ හැකි පරිද්දෙන් කොට දිවීමෙන් ගොස් සේනා මධ්‍යයට වැද, ශක්‍ර පුරයට වන් අසුර භටයන් පරිද්දෙන් මහත් අරගල කොට, 'අපි මියුලු නුවර මහෞෂධ පණ්ඩිතයන්ගේ යෝධයම්හ. පිළිවන් වී නම් අප අල්ලා ගනුව' යි තොප ගිය බව හඟවා එව'' යි කියා යෝධයන් දහස යැවූ සේක.

ඒ යෝධයෝත් බෝධිසත්ත්වයන් වහන්සේ වදාළ බස් මුදුනින් පිළිගෙන වැඳ සමු ගෙන දුනු, මුගුරු, අඩයටි, පත්කොහොල්, පාරාවළලු යැ යන පඤ්චායුධ සන්නද්ධ වැ උතුරු පසල් දනවුවැ නුවරට ගොස් නඳුන් උයන මෙන් සරහන ලද උයනට වැද, නඟන ලද දළ පුඞු සේසත් ඇති එක් සියයක් රාජාසන ආදි වූ පිළියෙල කොට තබන ලද ශ්‍රී විභූතීන් දැක, මහ බෝසතාණන් වහන්සේ විසින් වදාරන ලද ක්‍රමයෙන් ම සියල්ල කොට සේනා මධ්‍යයට වැද බොහෝ දෙන ක්ෂෝභ කොට තමන්ගේ මියුලු නුවරට පලා ගියහ.

## මියුලු නුවර වටලෑම

චූලනී රජ ද 'එක් සියයක් රජ දරුවන් මරන පිණිස ශෘංගි ලා ඉදි කරන ලද මෙබඳු සුරා පානය මහෞෂධ පණ්ඩිතයන් විසින් බාධා කෙළේ යැ' යි කිපියේ ය. එක් සියයක් රජ දරුවෝ ද, 'අපට ජය පානය බී ගත නුදුන්හ' යි කිපියෝ ය. සේනාව ද, 'අපි නොමිලයේ බොන සුරා පානය නොලද්දම්හ' යි කිපියහ. බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ ද එක් සියයක් රජ දරුවන් බණවා, ''එව, පින්වත්නි, මියුලු නුවර ගොස් වේදේහ රජ්ජුරුවන්ගේ ඉස තල්පැන් පලක් මඬනා සේ කඩුවෙන් කපා පියා දෙ පයින් මැඬ ගෙන හිඳ ජය පානය බොම්හ. සේනාව ගමනට සැරසී ගෙන එන පරිද්දෙන් විධානය කරව'' යි කියා නැවත රහසිගත වැ කේවට්ටයනට ද ඒ පවත් කියා, ''අපගේ මෙබඳු මන්ත්‍රණයට බාධා කළා වූ පසමිතුරා ගනුම්හ; එක් සියයක් රජ දරුවන් හා අටළොස් අක්ෂෞහිණියක් පමණ සේනාව හා පිරිවරා ඒ මියුලු නුවරට යම්හ. අප හා කැටි ව එව, ආචාරීනි'' යි කී හ. බමුණාණෝ තමන් නුවණැති හෙයින් 'මහෞෂධ පණ්ඩිතයන් දෑ ගන්නට නොපිළිවන. ගියොත් අපට මහත් ලජ්ජා වන්නී ය. කාරණ කියා රජ්ජුරුවන් නවතමි' යි සිතා, රජ්ජුරුවන්ට ''දේවයෙනි, මේ වේදේහ රජහුගේ බලයෙක් නො වෙයි, මහෞෂධ පණ්ඩිතයන්ගේ විධාන යැ. උඹ තුමූ මහානුභාව ඇත්තාහ. ඒ මහෞෂධ පණ්ඩිතයන් විසින් රක්නා ලද මිථිලා නම් රාජධානිය සිංහයකු විසින් රක්නා ලද රන් ගල් ගුහාවක් පරිද්දෙන් වෙන කිසි කෙනකුන් විසින් ගන්නට නොහැක්කී ය. ගියොත් හුදෙක් අපට ම ලජ්ජා වන්නී ය. ඔබ ගමන නොකැමැත්තෙමි'' යි මෙසේ කීහ. රජ්ජුරුවෝ වනාහි රාජ මානයෙන් ද ඉසුරු මදයෙන් ද මත් වැ දණ්ඩකින් පහරන ලද සර්ප රාජයකු සේ කෝපයෙන් දිලිහී, ''ඒ මහෞෂධයා කුමක් කෙරේ දැ?'' යි කියා, එසේ ම අභිමානපුරස්සර වූ එක් සියයක් රජදරුවන් පිරිවරා වේරම්බ වාතයෙන්

හැළලී ගිය මහා සාගරය සේ කෝප නමැති වාතයෙන් හැළලී ගිය අටළොස් අක්ෂෞහිණියක් සේනාවෙන් යුක්ත වැ නික්මුණාහ. කේවට්ටයෝ ද තමන්ගේ බස් රජ්ජුරුවන් සිතට නංවා ගත නොහී, 'රජ්ජුරුවන්ට පටහැණි වීම නම් යුක්ත නො වෙයි' සිතා, රජ්ජුරුවන් හා සමග නික්මුණාහ.

බෝධිසත්ත්වයන් වහන්සේ විසින් බ්‍රහ්මදත්ත රජ්ජුරුවන්ගේ ජය පානය විධ්වංසනය කරන්නට එවන ලද්දා වූ දහසක් යෝධයෝ තමන් ආ කටයුතු සම්පාදනය කොට එක් දවසින් ම රාත්‍රිය මුළුල්ලෙහි ගොස් මියුලු නුවරට පැමිණ, තමන් කළ කටයුතු පණ්ඩිතයන් වහන්සේට දැන්වූහ. පළමු ඒ ඒ රජ්ජුරුවන් සමීපයට යවන ලද්දා වූ චර පුරුෂයෝ ද පණ්ඩිතයන් වහන්සේට, "චූලනී බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ 'වේදේහ රජ්ජුරුවන් ගනුම්හ' යි එක් සියයක් රජුන් පිරිවරා එන්නාහ. පණ්ඩිතයන් වහන්ස, පමා නොවන සේක්ව" යි හසුන් එවූහ; "අද අසුවල් තෙන ලැගුම් ගත්තාහ. අද වනාහි නුවරට එන්නාහ" යි පණ්ඩිතයන් වහන්සේට නිරන්තරයෙන් හසුන් එවන්නාහ. ඒ අසා මහ බෝසතාණන් වහන්සේ වඩාලා ම කළ මනා විධානයෙහි නොපමා වූ සේක. වේදේහ රජ්ජුරුවෝ වනාහි "මේ නුවර ගන්නට එත් ල" යි පරම්පරා ශබ්දයෙන් ඇසූහ.

ඉක්බිති බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ පෙර සන්ධ්‍යාවෙහි ම ගන්නා ලද්දා වූ ලක්ෂ ගණන් දඬු වැට පහන් ආලෝකයෙන් ගොස් සියලු සත් යොදුන් මියුලු නුවර පිරිවරා ගත්හ. කෙසේ වට කොළෝ ද යත්:- පළමු කොට පා පොළෝ අගල වටා රන් සන්නාහ ලන ලද්දා වූ, රන් සැත්, රන් පොරෝදු ආදි හස්ත්‍යාලංකාරයෙන් සරහන ලද්දා වූ, සොඬින් ගන්නා ලද මුගුරු ඇති, ලෝහ ප්‍රාකාර වී නමුත් පිටින් ඇන සුනු විසුනු කරන්නට සමර්ථ ශක්ති ඇති, දෙකපොලය හා කෝෂය හා යන තුන් තැනින් වැහෙන්නා වූ එක් මදයෙකින් ද එම යථෝක්ත ස්ථාන තුන හා දෙකන් සිදුරු හා දෙඇස් සිදුරු හා යැ යි යන සප්ත ස්ථානයෙන් වැහෙන්නා වූ එක් මදයකින් ද සප්ත ස්ථානය හා දෙනාසාපුටය, ගුද මාර්ගය හා යන දශ ස්ථානයෙන් වැහෙන්නා වූ එක් මදයෙකින් දැ' යි මෙසේ ගිලිහෙන තුන් මදයෙකින් යුක්ත වූ, සර්වාභරණයෙන් විභූෂිත ජය අකුසු හා තෝමරාදි ආයුධ ගත් අත් ඇති ව පිට හිඳිනා ඇතරුවන් විසින් ගැවසී ගත්, ඒ රජ්ජුරුවන්ගේ කෝප නමැති ගින්නෙන් නැඟි දුම් කඳ සේ උස් වී, කන්තලින් කන්තල ගසා සිටුවන ලද්දා වූ ඇත් වළල්ලෙකින් ද යුද්ධයට ලන ලද්දා වූ සන්නාහ ඇති අශ්වාලංකාරයෙන් සරහන ලද සින්දු කාම්බෝජ යෝනකාදි උත්තම දේශයෙහි උපන්නා වූ නානාභරණ ප්‍රතිමණ්ඩිත වැ සන්නාහ සන්නද්ධ වැ පිට හිඳිනා අසරුවන් විසින් ගැවසී ගත් 'සතුරා හසු කොට ගනිමි' යි ඔද වැඩියා වූ රජ්ජුරුවන්ගේ සිත් නමැති ආකාශ ගංගායෙහි බිඳි-බිඳී දිවෙන්නා වූ රළපතර සේ යුද්ධයට පිඹිනා ලද කාහල ශබ්දයෙන් සතුටු වැ පැන-පැන සිටිනා වූ ග්‍රීවය ගසා සිටුවන ලද්දා වූ අස් වළල්ලෙකින් ද සිංහ සම්, ව්‍යාඝ්‍ර සම් ආදි සම් අතුරන ලද්දා වූ රථාලංකාරයෙන් සරහන ලද නඟන ලද නානා වර්ණ ධ්වජ පඞ්ක්ති ඇති, සෛන්ධවයන් යොදන ලද, සර්වාලංකාරයෙන් සැරැහී පිටැ බඳිනා ලද හියොවුරු ඇති වැ නැඟෙන ලද ධනුර්ධරයන් විසින් උපලක්ෂිත වූ සේනා නමැති සමුද්‍රයෙන් නැංගා වූ මහ තල් මස් කැල සේ රිය සකින් රිය සක ගසා සිටුවන ලද රථ වළල්ලෙකින් ද 'සිද්ධාර්ථ කුමාරයන් සම තිස් පැරුම් පුරා මුළු කොට ගෙන බෝධි දැමයෙක පිටිවහල් ලදින් සත් තිස් බෝධිපාක්ෂික ධර්ම සංඛ්‍යාත යෝධයන් බල කොට ගෙන විදුරසුන් අරා බුදු වන්නට උන් වේලෙහි ජය ගැන්ම පිළිවන් වේ ව යි, නොපිළිවන් හෝ වේ ව යි, දුර තබා ම අන්‍යතර ජාතියෙක අන්‍යතර යුද්ධයක් කොට බැලුව මැනැවැ' යි

සිතා චූලනී රාජ ව්‍යාජයෙන් ආ වශවර්ති මාරයාගේ සිංහ මුඛ, හස්ති මුඛ, අශ්ව මුඛ, ව්‍යාඝ්‍ර මුඛාදි වූ නොයෙක් භයංකර මුඛ මවා අසි, ශක්ති, තෝමර, භෙණ්ඩිවාල, කරවාලාදි වූ දීප්තිමත් නා නා විධ අවි ගනිමින් අනේක ප්‍රකාර විකාර වේශයෙන් ආ දස බිම්බරක් මාර සේනාව සේ භයංකර වූ සේනාවෙහි බාහුවෙන් බාහුව ගසා සිටුවන ලද්දා වූ යෝධ වළල්ලෙකින් ද යි මෙසේ සතර වළල්ලෙකින් ඒ සත් යොදුන් මියුලු නුවර වට ලවා ඒ ඒ ස්ථානයෙහි බළ ඇණි සිටුවූහ.

මනුෂ්‍යයෝ ඔල්වර හඬ දෙන්නාහු, අත්පොළසන් දෙන්නාහු, පනන්නාහු, 'වටලා ගතුම්හ' යන සමාධියෙන් නටමින්, ගර්ජනා කරමින් සිට ගත්හ. අටළොස් අක්ෂෞහිණියක් පමණ සේනාවෙහි නඟන ලද මිණි දඬු වැටෙහි ලක්ෂ ගණන් පහන් ආලෝකයෙන් ද එක් සියයක් රජ දරුවන් හා හස්ත්‍යශ්වාදි සේනාව හා පලන් ආභරණයෙහි ආලෝකයෙන් ද සියලු සත් යොදුන් මියුලු නුවර ඒ මහෞෂධ පණ්ඩිතයන්ගේ ප්‍රඥා නමැති සූර්යයා පහළ ව සත්ත්වයන්ගේ සිත මෝහාන්ධකාර විගමනයෙන් හෙළි වූ කලක් පරිද්දෙන් ආලෝක විය. ඇතුන්ගේ කුඤ්ච නාදයෙන් ද අසුන්ගේ හේෂාරවයෙන් ද රථයෙහි චක්‍ර නාදයෙන් ද පා බළ සෙනඟෙහි ගර්ජනාවෙන් ද සක්, සින්නම්භර, තන්තිරිපට, ගැටපහටු, මහබෙර, පනාබෙර, රන් සක්, රිදී සක් ආදි වූ පඤ්චාංගික තූර්ය නාදයෙන් ද පොළොව පැළී යන පරිද්දෙන් වූයේ ය.

සේනකාදි වූ පණ්ඩිතවරු සතර දෙන මහත් වූ කෝලාහල ශබ්දය අසා කුමන අරගලයක් බවත් නොදන්නාහු වේදේහ රජ්ජුරුවන් සමීපයට ගොස් "දේවයෙනි, මහත් වූ කෝලාහල ශබ්දයෙක, අපි කුමක් බවත් නො දනුම්හ. 'කුමන අරගලයෙක් දැ' යි විමසුව හොත් යහපතැ" යි කීහ. එ බස් අසා රජ්ජුරුවෝ, 'යළි බ්‍රහ්මදත්ත රජ්ජුරුවන් ආ වනැ' යි සී මැඳුරු කවුළුව හරවා පිටත බලන්නාහු, උන් ආ බව දැන භයින් ත්‍රස්ත වැ "ඉතිකින් අපගේ දිවි නැති. බ්‍රහ්මදත්තයා තෙමේ දැන් දැන් අප හැම මරන්නේ යැ" යි සේනකාදීන් හා සමග කථා කරමින් හුන්හ. මහ බෝසතාණන් වහන්සේ වනාහි චූලනී රජ්ජුරුවන් ආ බව දැන, සිංහයකු මෙන් කිසි භයක් නැති වැ නුවර මුළුල්ලෙහි රකවල් සකස් කොට ලවා 'රාජාදීහු භයින් දිලිහීලා හිඳිති. මා උන් අස්වසා ලුව මැනැවැ' යි රජ ගෙයි මතු මාලට නැඟී රජ්ජුරුවන් වැඳ එකත් පස් වැ සිටි සේක. රජ්ජුරුවෝ මහ බෝසතාණන් වහන්සේ දැක ලබන ලද අස්වස් ඇති වැ, 'මපුතණුවන් මහෞෂධ පණ්ඩිතයන් විනා අනෙක් මා මේ දුකින් මුදන්නට සමර්ථ කෙනෙක් නැතැ' යි සිතා, පණ්ඩිතයන් වහන්සේ හා සමග කථා කරන්නාහු, "මහෞෂධ පණ්ඩිතයෙනි, පඤ්චාල දේශ වාසී වූ බ්‍රහ්මදත්ත රජ තෙමේ එක් සියයක් රාජධානියෙහි සියලු අටළොස් අක්ෂෞහිණියක් පමණ සේනාව හා සමග ආයේ ය. පඤ්චාල රාජධානිය සන්තක වූ මේ සේනා තොමෝ මෙතෙකැ යි පමණ නැත්තී ය. ඉතා මහත් ද්වාරට්ටාල සාලාදි වූ නොයෙක් කර්මාන්තයට පිටින් ගෙන එන්නා වූ දැව පත්‍ර, සංගාලියම්, වෙට්ටම් ලෑලි ආදි වූ දාරු සම්භාරයන් ගෙන ඇවිදිනා වඩු සෙනඟින් යුක්ත වුව; සියලු සංග්‍රාමයෙහි දක්ෂ වූ ඇතුන් අසුන් ආදි වූ බළ සෙනඟ ඇත්තී ය. ගහන බැවින් තමා අතුරට වන්නවුන් නො පෙනෙන පරිද්දෙන් පය බිම ගෑවිය නො දී උර පිටින් ගෙන යන්නී ය; හස්ති ශබ්ද යැ, අශ්ව ශබ්ද යැ, රථ ශබ්ද යැ, වීණා ශබ්ද යැ මෘදංග ශබ්ද යැ, ගීත ශබ්ද යැ, තාල ශබ්ද යැ, 'විඳුව, ගනුව, අනුව' යි මෙ සේ දශ විධ ශබ්දයෙන් යුක්ත වුව; ඇතුන් ආදි වූ සිවුරඟ සෙනඟෙහි පවත්නා නාදය මූදු පරගානා සේ පවත්නා හෙයින්,

'මුඛ එව, ඔබ යව, යුද්ධ කරව, පමා නොවව,' යනාදි වූ ඒ ඒ කටයුත්තෙහි නියෝග වචන වාග් භේදයෙන් දන්වන්නට නොපිළිවන් හෙයින් මෘදංග, මද්දලාදි වූ නා නා ප්‍රකාර භේරි ශබ්දයෙන් හා සංඛ කාහල ශබ්දයෙන් හා හඟවන්නා වූ ඒ ඒ කටයුතු ඇත්තී ය; සත් රුවනින් විසිතුරු වූ සන්නාහයෙන් හා ස්වර්ණ ජාල හස්ති කුන්ත විශේෂයෙන් ද රාජ රාජ මහාමාත්‍යාදීන් විසින් පළඳනා ලද්දා වූ කනක, කටක, රසනා, නූපුර, තාඩංක, වළය, තිසර පට, අවුල් හර, උදර බන්ධන, ගැට නිමුල් හර, පස් රූ පස් වළලු, පේරුස්, එක්වැටි, පාමුදු, පාඩගම්, පාසලඹ, පාදජාලා, පාදත්‍ර-පාදාභරණාදි වූ ශරීරාභරණයෙන් ද හොබනී ය. කනක රජතාදීන් විචිත්‍ර වූ රක්ත නීලාදි වූ නා නා වස්ත්‍රයෙන් සමුජ්වලිත රථාදියෙහි නඟන ලද නා නා ප්‍රකාර ධවලච්ඡත්‍ර පංක්තියෙන් ගැවැසී ගත්තී ය. ඇත් වාහන, අස් වාහන රථ වාහනයෙන් යුක්ත ය. හස්ති ශිල්ප යැ, අශ්ව ශිල්ප යැ, රථ ශිල්ප යැ, ධනුශ්ශිල්ප යැ ආදි වූ අටළොස් මහා ශිල්පයෙහි කෙළ පැමිණියන් විසින් විශේෂයෙන් සමෘද්ධ ය. මේ සේනා තොමෝ සිංහ සමාන වික්‍රම ඇත්තී ය. ශූර යෝධයන් විසින් සුප්‍රතිෂ්ඨිත ය. මේ සේනාවෙහි පොළොව හා සමාන නුවණ ඇති රහස් මන්ත්‍රණ කරනසුලු වූ හෙවත් දෙදවසක් තනි වැ හිඳ සිතුව හොත් මහ පොළොව පෙරළන්නට ද අහස හා පොළොව හා ගැට ලන්නට ද පොහොසත් වූ පණ්ඩිතවරු දස දෙනෙක් ඇත්තාහ. ඒ පණ්ඩිතවරුනට වඩා අධික වූ ප්‍රඥා ඇති රජ්ජුරුවන්ගේ මෑණියෝ තලතා දේවී පණ්ඩිතවරුන් දස දෙනාට එකොළොස් වැනි ව හිඳ චූලනී රජ්ජුරුවන්ගේ සේනාවට අනුශාසනා කරන්නාහු ය.

"වැළිදු ඒ තලතා දේවීන්ගේ ප්‍රඥාව කෙසේ ද යත හොත්:- එක් දවසක් මිනිසෙක් සාල් නැළියක් ද බත් මුළක් ද මසුරන් දහසක් ද හැරගෙන 'ගඟින් එතෙර යෙමි' යි ගඟ මැදට ගොස් දිය සැඩ සෙයින් එතෙර වැ ගත නොහී, එතෙර සිටි මිනිසුන්ට "පින්වත්නි, මා අතැ සාල් නැළියක් හා බත් මුළක් ද මසු දහසක් ද ඇති. මෙකී තුනින් මට යමක් රුචි වී නම් ඒ දෙමි; තොප හැම දෙනා කෙරෙන් යම් කෙනෙක් මා එතෙර කළ හොත් නම් ඌ මා එතෙර කෙරෙත්ව" යි මෙසේ කී ය, ඉක්බිති ශක්ති සම්පන්න පුරුෂයෙක් කච්චිය තර කොට හැඳ ගෙන ගඟට බැස ඒ පුරුෂයා අත අල්ලා ගෙන එතෙර කොට, "මට දිය යුතු දෙය දෙව" යි කී ය. ඒ තෙමේ "සාල් නැළිය හෝ බත් මුළ හෝ ගනුව" යි කී ය. ඒ අසා දියෙන් එතෙර කළ පුරුෂයා, "මම මාගේ ජීවිතය නොසලකා තොප එතෙර කෙළෙමි. මට සාල් නැළියෙන් හා බත් මුළින් හා ප්‍රයෝජන නැති. මසු දහස දෙව" යි කී ය. ඒ අසමින් "යමක් මට රුචි වී නම් ඒ දෙන්නෙමී, කීයෙමි. දැන් මට යමක් රුචි වී නම් ඒ දෙමි. කැමැත හොත් ගනුව" යි කී ය.

ඒ තෙමේ සමීපයෙහි සිටි එකකුට එපවත් කී ය. එයිත්, "යමක් තමනට රුචි වී නම් ඒ තොපට දෙමීයි කියා වේ ද උන් කීයේ? උන් දෙනු කැමැති දෙයක් හැර ගනුව" යි කීයේ ය. ඒ පුරුෂයා උන් කී බසැත් නො සිට, "එසේ මා ගන්නේ නැතැ" යි ඔහු ඇරගෙන අධිකරණ නායකයන්ට සරුප කී ය. අධිකරණයේ ඇත්තෝ ද දෙන්නාගේ බස් අසා, "ඌ දුන් දෙයක් ගනුව" යි එ ලෙස ම කිවූ ය. ඒ පුරුෂයා අධිකරණ නායකයන්ගේ යුක්තියෙහි නො සිට රජ්ජුරුවන්ට දැන්වී ය. රජ්ජුරුවෝ අධිකරණ නායකයන් ගෙට ගෙන්වා ගෙන උන් මැදයේ දෙන්නාගේ බස් අසා, එලෙස ම කියා යුක්තිය පසිඳිනා සේ නොදන්නාහු, තමාගේ ජීවිතයෙහි ආසාවක් නැති වැ ගඟට බට තැනැත්තවු ම පැරැදවූහ. එවේලෙහි රජ්ජුරුවන්ගේ මෑණියෝ තලතා දේවී තුමූ එ තැනට නුදුරු තැනෙක හුන්නාහු

රජ්ජුරුවන් යුක්තිය නපුරු කොට පසුන් බව දැන, “පුත, මේ යුක්තිය සලකා පියා කියව” යි කීහ. “මැණියන් වහන්ස, මා දන්නේ මෙපමණෙක් ම ය. ඉදින් නුඹ වහන්සේ අමුත්තක් දන්නා සේක් වී නම් පසිඳුව මැනව” යි කීහ.

තලතා දේවී, “යහපත, යුක්තිය පසිඳිමි” කියා ඒ දියෙන් යන්නට සිටි පුරුෂයා බණවා, “මෙසේ එව දරුව, තොප අත තුබූ සාල් නැළියත් බත් මුළත් මසු දාසත් තුන පිළිවෙළින් බිම තබාලව” යි කියා පිළිවෙළින් ම තබවා ‘තෝ දියෙන් යන්නෙහි මූට කුමක් කී ද?”යි විචාරා, ‘මෙලෙස කීමි’ කී කල්හි “එසේ වී නම් තට රුචියක් හැර ගෙන යව” යි කීහ. ඒ තෙමේ මසු දාහ අතට ගත. ඉක්බිති ඌ මඳ තැනක් ගිය කල බිසොවු ඌ ගෙන්වා, “දරුව, මසු දහස තොපට අභිප්‍රාය ද?” යි විචාරා, “එසේ ය, කැමැත්තෙමි” කී කල “දරුව, තොප විසින් මින් මට යමක් රුචි වී නම් ඒ දෙමී” මෝහට කියන ලද ද, නොකියන ලද දූ යි කියා, “කියන ලද ය, දේවයන් වහන්සැ” යි කී කල, “එසේ වී නම් මේ මසු දාස මෝ හට දෙව” යි කීහ. ඒ තෙමේ හඬමින් වලපමින් මසු දාස ඕ හට දුන්නේ ය. එ වේලෙහි රජ්ජුරුවෝ ද අමාත්‍යයෝ ද සතුටු වැ සාධුකාර දුන්හ. එ තැන් පටන් තලතා දේවීන්ගේ නුවණ දඹදිව මුළුල්ලෙහි පතළ වී ය. මේ නිසා ය මා ‘චූලනී රජ්ජුරුවන්ගේ මැණියන් තලතා දේවීන් එකොළොස්වනු වැ සේනාවට අනුශාසනා කෙරෙතී’ යි කීයේ, නැවැත ඒ සේනාවෙහි පඤ්චාල රාජ්‍යයෙහි අනූන වූ පරිවාර සම්පත් ඇති බ්‍රහ්මදත්තයා විසින් හැර ගත් රට ඇති, මරණ භයින් තැති ගත් එක් සියයක් රජ දරුවෝ මේ චූලනී රාජයා සමග යෙති. අටළොස් අක්ෂෞහිණියක් සේනාවෙන් මේ මිථිලා නම් රාජධානිය වට ලා පළමු ඇත් පවුරෙක, දෙවැනි ව අස් පවුරෙක, තුන්වැනි ව රථ පවුරෙක, සතරවැනි වැ යෝධ පවුරෙකැයි මෙසේ සතර වළල්ලක් හා ඇත් වළල්ලට හා අස් වළල්ලට හා අතුරෙහි එක් වීථියෙක; අස් වළල්ලට හා රථ වළල්ලට අතුරෙහි හා එක් වීථියෙක; රථ වළල්ලට හා බළ වළල්ලට හා අතුරෙහි එක් වීථියෙක; මෙ සේ තුන් සන්ධියකින් වට කරන ලද වේදේහ රට වාසීන්ගේ මිථිලා නම් රාජධානිය හාත්පසින් කැණ උඩ නඟන කලක් පරිද්දෙන් පවුරු පදනම් බිඳ, දූන් සුනු විසුනු කරනු ලැබෙයි. මහෞෂධ පණ්ඩිතයෙනි, හාත්පසින් යම් බඳු සේනාවක් විසින් පිරිවරන ලද ද, ඒ සේනාවට මත්තෙහි පෙනෙන නොයෙක් සිය දහස් ගණන් මිණි දඬු වැට පහන් කරණ කොට ගෙන තරුවැලින් ගහන වූ ආකාශය වැන්න. පණ්ඩිතයෙනි, නුවණ නම් මෙ සේ වූ තැනට වේ ද? තොප හා සම නුවණැති කෙනෙක් නම් නැති, මෙ සේ වූ මහා සේනාවෙන් අපට ගැලැවීමක් කෙසේ වේ ද?” යි කීහ.

මෙසේ රජ්ජුරුවන් මරණ භයින් යුක්ත වැ කියන්නා වූ බස් අසා මහ බෝසතාණන් වහන්සේ, ‘මේ රජ්ජුරුවෝ ඉතා මරණ භයින් භයපත් වැ ගියාහ. රෝගයෙන් පෙළෙන එකක් හට අවස්ථා පිළියමක් දන්නා වෙදකු පිළිසරණ වන්නා සේ ද සා දුකින් පෙළෙන එකකුට භෝජනය මුත් අනෙකක් පිළිසරණ නොවන්නා සේ ද පිපාසා ඇති එකකුට පැන් පුව හොත් මුත් ඒ පිපාසය නොසන්සිඳෙන්නා සේ ද මේ රජ්ජුරුවනට මා මුත් අනෙක් පිළිසරණක් නැති. රජ්ජුරුවන් අස්වසාලමි’ යි සිතා ඉක්බිති රජ්ජුරුවනට මහ බෝසතාණන් වහන්සේ සැට යොදුන් රග්ගල් තලා මස්තකයෙහි නාද කරන ලද සිංහ රාජයකු මෙන් “නො බව මැනැව, දේවයන් වහන්ස, රාජ්‍ය සුව අනුභව කළ මැනැව, මම කැටක් ගෙන කපුටු රැසක් පලවන එකක්හු මෙන් ද දුන්නක් අල්ලා ගෙන වඳුරු මුළක් පලවන එකක්හු පරිද්දෙන් ද මේ අටළොස් අක්ෂෞහිණියක් පමණ සේනාව බඩ බත් කඩ පමණකටත්

අස්වාමික කරවා නිගණ්ඨ සේනාවක් පරිද්දෙන් ඉස් ලූ ලූ අත ලුහුබඳවා පියමි. එය මට භාර ය. 'සටනෙකැ'යි සිතක් නො තබා භය නො ගෙන සුව සේ රාජ්‍ය ශ්‍රී අනුභව කළ මැනැවැ'' යි කී සේක.

මෙ සේ කියා රජ්ජුරුවන් අස්වසාලා මාළිගයෙන් බැස නුවර බෙර ලවා හැම දෙනාට වදාරන සේක් ''පින්වත්නි, තෙපි හැම 'සතුරෝ වටලා ගත්තෝ වේ දැ' යි නො සිතා, මල් ගඳ විලෙවුන් හා අටළොස් වර්ගයේ කැවුම් හා රා මස් ආදි නොයෙක් අන්නපාන සපයා වස්ත්‍රාභරණයෙන් සැරැහී උත්සවයට පටන් ගනුව; සමහර කෙනෙක් තොප තොපට සුදුසු පරිද්දෙන් බොවු නම් මහා පානයත් බොව; බෙර ගසව; ගී කියව; එළු සන්, ඔල්වර සන්, අසුරු සන් දෙව. සියල්ලක් නැති කෙනකුට මාගෙන් දෙමි. මහෞෂධ පණ්ඩිතයෝ නම් මම ය. කිසි භයක් නො කරව; මාගේ අනුභාව බලව'' යි කියා අස්වසා වදාළ සේක. ඒ බසින් නුවර වාසීහු සත් අවුරුද්දේ පටන් ඔබගේ බල තමන් ඇම ඉඳුරා දන්නා හෙයින් කිසි භයක් නැති වැ සංකා රහිත වැ නැටුම් ආදි සියල්ලෙන් ම මහතාණන් වදාළ පරිද්දෙන් උත්සවයට පටන් ගත්හ.

## යුද්ධෝපාය යෙදීම

නුවර ඇතුළෙහි ගී කියන වයන අරගල පිටත සිටි සතුරෝ අසන්නාහ. සතුරන්ගෙන් බොහෝ දෙන කුරුබිලියෙන් ඇතුළු නුවරට වදනාහ. සතුරු වැ ආ විටෙක මුත් දුටු දුටුවන් නො අල්ලන්නාහ. එ සේ හෙයින් සතුරන්ගේ සඤ්චාරය නො සිඳෙන්නේ ය. නුවරට වන් වන් මනුෂ්‍යයෝ උත්සව කෙළනාත් ජය පානය බොන්නාත් ජන කෝලාහලත් දක්නාහ. බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ ඇතුළු නුවර කෝලාහල අසා සමීපයෙහි සිටියවුන්ට කියන්නාහු ''පින්වත්නි, අටළොස් අක්ෂෞහිණියක් පමණ මේ සේනාව ගෙන'වුත් තමන්ගේ නුවර වටලා ගත් නියාවට කිසි භයක් වත් තැති ගැන්මක් වත් නැත්තේ ය. සන්තෝෂයෙන් යුක්ත වැ පස්වනක් ප්‍රීතින් පිනා ගියවුන් සේ අත්පොළසන් දෙන්නාහ; අඬ ගසන්නාහ; එළුසන් දෙන්නාහ; ගී කියන්නාහ; බෙර ගසන්නාහ. කොල කුමන අශ්චර්යයෙක් දැ?'' යි කීහ. එ සේ කී රජ හට චරපුරුෂයෙක් බොරුවක් ගොතා ගෙන කියන්නේ, ''දේවයන් වහන්ස, මම කිසි කටයුත්තක් නිසා කුරුබිලියෙන් ඇතුළු නුවරට වන්නෙමි. සැණකෙළි කෙළනා ජනයන් දැක, 'පින්වත්නි, සියලු දඹදිව රජ දරුවන් සේනා සහිත වැ අවුත් තොපගේ නුවර වට ලා ගෙන සිටිය දී තොප හැම මෙසේ ප්‍රමාද වැ වසන්නට කාරණා කිමි දැ''යි විචාළෙමි. ඔහු මට කියන්නාහු, 'අපගේ රජ්ජුරුවන් කුමාර කල මෙසේ වූ දොළෙක් විය. කෙසේ ද යත්: දස දහසක් යොදුන් දඹදිව රජුන් මුළුල්ල සේනාව පිරිවරා අවුත් මා උන් නුවර පිරිවරා සිටි කල සැණකෙළි කෙළිමී' යි දොළක් උපන. ඒ දොළ දැන් මුඳුන් පැමිණියේ ය. එබැවින් සත් දවසක් සැණකෙළි කෙළුව යි නුවර බෙර ලවා තමන් වහන්සේ මාළිගයේ මතු මහලේ අමාත්‍ය මණ්ඩලය පිරිවරා හිඳ මහා සන්තෝෂයෙන් මත් වැ ජය පානය බොන සේක් යැ' යි කීහ. මම එ බස් අසා 'රජකු බොළඳ නියා යැ' යි නින්දා කෙළෙමි' යි කී ය.

බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ එ බස් අසා දණ්ඩෙන් ගසන ලද ආශීර්විෂයක්හු මෙන් ක්‍රෝධයෙන් දිලිහී කිපුණාහු ''කොල, වහා මේ නුවර ඒ ඒ දිගින් අගල මැඩ හස්වා පවුරු, දොරටු,

අටලු, වාසල්, බලකොටු ආදිය බිඳ, සුනු විසුනු කෙරෙමින් වහා නුවරට වැද, ගැල් පුරා ගෙන'වුත් කොමඩු බානා සේ මහා ජනයා ඉස් කපා ගනුව; වේදේහ රජහු ඉසත් වහා ගෙනෙව'' යි කීහ. එ බස් අසා බලසම්පන්න යෝධයෝ නොයෙක් ආයුධ ගත් අත් ඇතිව, ''නුවර ගනුම්හ'' යි පවුරු වාසල් සමීපයට ගියාහු, බෝධිසත්ත්වයන් වහන්සේගේ යෝධයන් විසින් දමන ලද කලල් වැලි ආදියෙන් මහා විනාශයට පැමිණ නුවර බිඳිනා තබා පවුර සමීපයටත් යා නොහී, නැවත යන්නාහ. ඉදින් සමහර කෙනෙක් නොනැවත, "පවුර බිඳුම්හ'' යි වාසි කියා සාහසික වැ ගොස් අගලැ බටවු නම් අන්තරට්ටාලවල සිටියෝ ඊ, දඬු, මුණ, කොහොල්, තෝමර, හෙණ්ඩිවාලාදීන් දමා මහා විනාශයට පමුණුවන්නාහ. බෝධිසත්ත්වයන් වහන්සේගේ යෝධයෝ බ්‍රහ්මදත්තයන්ගේ යෝධයනට අතින් මුහුණින් උසුළු පෑ නොයෙක් ප්‍රකාරයෙන් ආක්‍රෝෂ පරිහව බෙණෙමින් ගහට කරන්නාහ. මච්ඡ මාංස හා කන බොන දෑ හා රා විත් ඔඩම් ආදිය පුරා ගෙන පිටත සිටියවුන්ට දික් කොට පුළු ගන්වා නැවත තුමූ ම කන්නාහ; බොන්නාහ. මෙසේ සතුරන් කිපෙනසුලු වූ නොයෙක් විකාර කෙරෙමින් පවුරින් ඇතුළේ පදනමැ උන්ට පෙනෙන නියාවෙන් සක්මන් කරන්නාහ. බ්‍රහ්මදත්ත රජ්ජුරුවන්ගේ යෝධයෝ උනට කිසිවකුත් කොට ගත නො හී ගෙඩි බැට කා, අත පය හිස නළලැ ලේ පිස පසු බල-බලා දිවන්නාහු, රජ්ජුරුවන් සමීපයට ගොස් ''දේවයන් වහන්ස, ඍද්ධිමත් කෙනකුන් ආකාශයෙන් ගොසින් වදුත් මුත් මිනිසුන් විසින් මේ නුවර වදනා තබා සිතන්නටත් බැරි යැ'' යි කීහ. එබස් අසා රජ්ජුරුවෝ නොසතුටු වැ කීප දවසක් රඳා නුවර ගන්නා උපායක් නොදන්නාහු කේවට්ටයා විචාළහ; ''ආචාරීනි, නුවර ගන්නා තබා පවුර ළඟට යන්නටත් සමර්ථ එක ද සත්ත්වයෙක් නැති. කුමක් කරමෝ දැ?'' යි කීහ. එබස් අසා බමුණා කියන්නේ, ''වන්නා ව මහ රජ, නුවරට පැන් නම් පිටතින් වන්නේ ය. කීප දවසක් පැන් නවතා ලන්නා පැන් නොලදින් ක්ලාන්ත වූවාහු දොර ඇර පියන්නාහ. එවිට අපි සිත් වූ පරිද්දෙන් සතුරන්ට කට යුතු කියම්හ" යි කී ය. "කොල, එයිත් උපායකැ''යි එතැන් පටන් පැන් වැද්ද නො දෙන්නාහ. එපවත් බෝධිසත්ත්වයන් වහන්සේගෙන් රජහු සමීපයෙහි සිටි චර පුරුෂයෙක් පතක ලියා ඊ දණ්ඩක බැඳ, ඇතුළු නුවරට විද පී ය. බෝධිසත්ත්වයන් වහන්සේ ද සතුරන් ආ දවස් විධානයක් කරන සේක්, ''යමෙක් ඊදණ්ඩක බැඳ විද පී පතක් දුටුයේ වී නම් වහා ගෙන'වුත් මට දෙව'' යි වදාළ සේක. එ බැවින් එක් පුරුෂයෙක් ඒ පත ගෙන'වුත් දින.

ස්වාමි දරුවාණෝ ඒ බව දැන 'මේ කේවට්ට මහල්ලා ඇතුළු වූ අඥාන ජඩයෝ මා තව ම මහෞෂධ පණ්ඩිත බව නොදන්නා වන්හ' යි සිතා, සැට රියන් උණ දණ්ඩක් ගෙන්වා සරියේ දෙකක් කොට පළා ඇතුළ පිට ගැට හරවා ශුද්ධ කොට නැවත එක් කොට තබා සමින් වසා බඳවා පිට මැටි ගාවා තපස්වීන් ලවා හිමාලයෙන් ගෙන්වූ මැටි හා ඇඹුල බිජු හා ගෙන පොකුණු අසැ දියෙහි බිජුවට රෝපණය කරවා මැටි පිට උණ දණ්ඩ සිටුවා ඇතුළේ පැන් පුරවා ලූ සේක. එක රැයින් ම පැළය නැඟී උණ දණ්ඩ මුඳුනින් රියනක් පමණ වඩා මලෙක් පිපී සිටියේ ය. ඒ අභිමතාර්ථසාධක වූ චින්තා මාණික්‍යයක් බඳු වූ මාගේ ස්වාමි දරු වූ බෝධිසත්ත්වයන් වහන්සේ ඒ මල් දඬු මුලින් උදුරුවා ''මේ බ්‍රහ්මදත්ත රජ්ජුරුවනට දෙව'' යි තමන් වහන්සේගේ පුරුෂයන්ට දුන්හ. ඔහු ඇඹුල දණ්ඩ වළල්ලේ ලා ''කොල, බ්‍රහ්මදත්තයන්ගේ පුරුෂයෙනි, සයින් නො මියැ තෙල මල කඩා හිස පැලඳ ගෙන ඇඹුල දඬු හුයා ගෙන බඩ පුරා කා පියව" යි පවුරින් පිටත දමා ලූහ.

එයිත් බෝධිසත්ත්වයන් වහන්සේගෙන් ම සිටි චර පුරුෂයෙක් හැර ගෙන රජ්ජුරුවන් සමීපයට ගොස්, ''බැලුව මැනව, දේවයන් වහන්ස, මෙබඳු ඇඹුල මලක් හා මේ සා දිග ඇඹුල දණ්ඩක් දුටු විරූ දෑ නැතැ'' යි කී ය. රජහු, ''මැන බලව'' යි කී හෙයින්, චර පුරුෂයා මනන්නේ සැට රියන් දණ්ඩ අසූ රියන් කොට මැන පී ය. රජහු ''මේ කෙසේ වූ තැනක ඇති වී ද?'' යි කී හෙයින්, ඉන් ම එකෙක් රජහු කටින් බස උදුරා ගත්තා සේ බොරුවක් ගොතා ගෙන කියන්නේ, ''මම එක් දවසක් රා ටිකක් බී පියනු කැමැති ව කුරුබිලියෙන් ඇතුළු නුවරට වන්නෙමි, නුවර වාසීන් දිය කෙළිනා මහ පොකුණක් දිටිමි. බොහෝ මනුෂ්‍යයෝ ඔරු අඟුළු ආදියෙහි ඉඳගෙන මල් කඩා දිය කෙළ ඇවිදිනාහ. මේ වූ කලි ඒ පොකුණේ ගොඩ අස පිපි මලක සැටි ය. ඉදින් ගැඹුරු තැනෙක පිපි මලෙක් වී නම් සියක් රියනටත් වඩා ඇත්තේ වේ දෑ'' යි කී ය. ඒ අසා, ''ආචාරීනි, 'පැන් නවතා මේ නුවර ගනුම්හ' යි නො සිතව. ඒ තොපගේ උපායෙක් නො වෙය'' කීහ.

''එ සේ කල දේවයන් වහන්ස, මෙ විට මා සිතූ දෙය ඉතා ම යහපත. නුවරට වී සාල් නම් පිටතින් ම වන්නේ ය. ඒ වී සාල් වැද්ද නො දෙම්හ. බතින් පීඩිත වූ මනුෂ්‍යයෝ දොර හැර පියන්නාහ. එවිට අල්ලා ගෙන කැමැත්තක් කරම්හ'' යි කී ය. ඒ මන්ත්‍රණයත් පළමු පරිද්දෙන් ම පතෙකින් දන ''මේ නිවට වූ කේවට්ටයා මා නුවණැති නියාව නොදන්නා වනැ'' යි කියා, අනුප්‍රාකාර යැ යි කියන ලද පදනම් මුඳුනේ කලල් අතුරුවා, ඊ පිට වී ඉස්වාලූ සේක. බෝධිසත්ත්වයන්ගේ අභිප්‍රාය නම් සිද්ධ වන්නේ ය. එබැවින් එක රැයින් පැළ නැඟී සත් යොදුන් මියුලු නුවර වටා පවුරු මුඳුනින් ඉතා නිල් වලා සමූහයක් සේ අතිනීල වැ පෙනෙන්නට වන. ඒ දුටු රජ්ජුරුවෝ, "පවුරු මුඳුනේ ඉතා නිල් වැ අර මේ පෙනෙන්නේ කිම් ද?'' යි සිටියවුන් විචාළහ. චර පුරුෂයෙක් කියන්නේ ''දේවයන් වහන්ස, ගොවියා පුත් මහෞෂධ පණ්ඩිතයා තමා ප්‍රඥ බලයෙන් මතු වන්නා වූ භය දන, තමාගේ විධාන වැටෙන්නා වූ මේ ජනපදයෙහි වී ටිකක් ඇයි තිබී දැ යි එක හෙළා ගෙන්වා ගෙන මේ සා මහත් නුවර හැම දෙනාගේ කොටු ගෙවල් පුරවා, ඉතිරි වී පවුර පිට හා වීථියේ ඒ ඒ ස්ථානයෙහි හා ලවා පී ය. ඒ වී තාක් මුළුල්ල අවුචේ වියළී වැස්සේ තෙමී පැළ නැඟී ගොයම් වැ ගියේ ය. මම එක් දවසක් කටයුත්තක් පිණිස කුරුබිලියෙන් ඇතුළු නුවරට වන්නෙමි පවුර අසැ තුබූ වියෙන් වී ටිකක් ඇර ගෙන ''කොල, ඉතා යහපත් වීයෙක, ඉස්නෙමි, කියා වීථියට දමා පීමි. ඒ දක එතැන සිටි ජනයෝ මා වෙහෙසන්නාහු, ''ඉතා ම බඩ සා සැටි ය. කැමැත්තෙහි වී නම් තිලින් පොදියක් කොට බැඳ ගෙන ගොස් පැහැර පියා පිස ගෙන බඩ පුරා කා නො මිය'' යි කීහ. ''ඒ වී මා ඇල්ලූ සේ ඉතා නපුරැ'' යි මම ලජ්ජාවට පැමිණියෙමි'' යි කී ය. ඒ අසා රජ කේවට්ටයාට කියන්නේ ''වී නවතාත් මේ නුවර ගත නොහැක්ක. තාගේ එයිත් උපායෙක් නො වෙයි. හැර පියව'' යි කීහ.

''දේවයන් වහන්ස, නොසිතා වදාළ මැනව, අනෙක් බලවත් මාගේ උපායෙක් ඇති. නුවර ඇතුළේ වලක් නැති හෙයින් දර නම් පිටතින් ගෙන මුත් නොහැක්කේ ය. දර නවතා ලා නුවර ඇර ගනුම්හ'' යි කීයේ ය. ඒ මන්ත්‍රණයත් පෙර පරිද්දෙන් ම දන වදාරා පවුරු පිටින් වී හා ගොයම් හා හරවා පිටතට පෙනෙන නියායෙන් දර රැස් කරවා පී සේක. පවුරේ උන් මනුෂ්‍යයෝ බ්‍රහ්මදත්ත රජ්ජුරුවන්ගේ යෝධයනට සිනා සිසී වෙහෙසන්නාහු ''කොල, දර නැති වැ පිස කෑ නොහී සයින් පීඩිත වැ නො හිඳ, නැති කෙනෙක් උළු කැන් බත් ආදිය පිස කව; බොව'' යි කියමින්, ''තෙල ඇර ගන්ව'' යි මහත් දර කඳන් ඇඟට දමා

ලන්නාහ. සමහරු ඒ වැද ගෙන තැළි-තැළී මහත් දුක්ට පැමිණෙන්නාහ. රජ්ජුරුවෝ දර රාශිය පෙනෙන්නා දැක "තෙල කිමෙක් දැ?" යි විචාළහ. එතැන ද සිටි චර පුරුෂයන්ගෙන් එකෙක්, "ඇයි මහ රජ, නො දන්නා සේක් ද? ගොවියා පුත් මහෞෂධයා මතු වන්නා වූ භය දැන වලැ දරෙක් තිබී ද? එක හෙළා අද්දා ගෙන'වුත් නුවර ගෙයක් පණහා පැළ දෙරවල් පුරා ලා ඉතිරි වන දර පවුරු පිට රැස් කරවා පී යැ" යි කී ය. ඒ අසා කේවට්ටයාට "මේ නුවර දර නවතාලා ඇර ගන්නට නොපිළිවන. තාගේ එයිත් උපායෙක් නො වෙයි. ඇර පියව" යි කීහ. ඉතා ඇවිලි අවන්නා වූ නිවට වූ කේවට්ටයා කියන්නේ, "මහරජ, නො සිතා වදාළ මැනව. මාගේ බලවත් අනෙක් උපායක් ඇතැ" යි කී ය. ඒ අසා "ආචාරීනි, උපාය නම් තමා කිම් ද? මේ සා මහත් වූ තොපගේ උපායෙකින් වැඩකුත් නිමාවකුත් දුටු දැ නැති. මෙ නුවර වේදේහ රජු අල්ලා ගන්නට නොපිළිවන. එබැවින් අපගේ නුවරට යම්හ" යි කීහ.

## ධර්ම යුද්ධය

නැවත අඥාන වූ මහලු බමුණු කියන්නේ, "දේවයන් වහන්ස, 'බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ එක් සියයක් රජ දරුවන් හා ඒ සා මහත් චතුරංගිනී සේනාවන් ගෙනවුත් වේදේහ රජු අල්ලා ගත නො හී පැරැද පලා ගියහ' යි අපට මහත් ලජ්ජා වන්නී ය. නුවණැත්තෝ නම් මහෞෂධ පණ්ඩිතයෝ මතු නො වෙති. මමත් මහා නුවණැත්තෙමි. එක් ලෙසකින් ඔහු පරදවා පියම්හ" යි කී ය. "ආචාරීනි, එ ලෙස නම් තමා කිම් දැ?" යි කී හ. "ධර්ම යුද්ධය නම් දෙයක් කෙරෙමි" යි කී ය. "ධර්ම යුද්ධ නම් කිම් දැ?" යි කීහ. "මහරජ, දෙසේනාව සටන් නොකොට මැනව, රජ දරුවන් දෙදෙනාගේ පණ්ඩිත දෙදෙන එක තැනකට එද්ද, ඉන් එක් කෙනෙක් වැන්දවු නම් වැඳි පක්ෂයේ රජ හට පරාජය වන්නේ ය. වැඳුම් ලත් පක්ෂයේ රජ හට ජය වන්නේ ය. ඒ මන්ත්‍රණ මහෞෂධ පණ්ඩිතයෝ නොදන්නාහ. මම ඉතා වැඩිමහල්ලෙමි. මහෞෂධ පණ්ඩිතයෝ බාලයෝ ය. ආචාර දන්නා නුවණැති පණ්ඩිතයන් හෙයින් ඔහු මා දුටු කල සැක නැති වැ වඳනාහ. එවේලෙහි වේදේහ රජු සැබැවින් පැරැද්දා නම් වන්නේ ය. එ සේ කොටත් වේදේහ රජු පරදවා පියා නැඟී යම්හ. එසේ කලැ අපට ලජ්ජා නොවන්නී ය. ධර්ම යුද්ධ නම් මේ යැ" යි කීහ. එසේ රහස් කථාවත් පෙර පරිද්දෙන් ම දැන වදාරා, 'කේවට්ටයාට මිනුත් මම පැරැද්දෙමි නම් මාගේ කුමන පණ්ඩිත කමක් දැ?' යි සිතු සේක. බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝත්, "ආචාරීනි, ඒ උපාය ඉතා යහපත, සෙට උදෑසන ධර්ම යුද්ධ වන්නේ ය. ඉදින් ධර්ම යුද්ධයට නො අවු නම් එයිත් පැරැද්දා නම් වන්නේ යැ" යි ලියා කුරුබිලියෙන් වේදේහ රජ හට යැවූහ.

ඒ අසා වේදේහ රජ්ජුරුවෝ බෝධිසත්ත්වයන් දැ කැඳවා එ පවත් කී හ. ඒ අසමින් සකල ජනානන්දකර වූ තිලෝගුරු බෝධිසත්ත්වයන් වහන්සේ "යහපත, දේවයන් වහන්සැ" යි කියා, බස්නාහිර වාසලින් පිටත ධර්ම යුද්ධ මණ්ඩලය සැරැහූ සේක. එතෙකුදු වුවත් ඒ ඒ රජුන් කෙරෙහි සිටි චර පුරුෂයෝ එක් සියයක් දෙන, 'කවුරු දනිද්ද, කිම් දැ' යි බෝධිසත්වයන් වහන්සේට ආරක්ෂාව පිණිස කේවට්ටයා පිරිවරා සිට ගත්හ. බ්‍රහ්මදත්තයන් හා එක් සියයක් රජදරුවෝ ධර්ම යුද්ධ මණ්ඩලයට ගියාහු පුර දියවක යහපත් දවස් සඳ බලන්නට එක් සිත් වැ එක දිසාව බලන්නවුන් පරිද්දෙන් පැදුම් දිග බලා සිටියහ. එසේ ම නිවට වූ කේවට්ටයාත් නැඟෙනහිර දිසාව බල-බලා "කල් යේනු, කල් යේනු" යි කිය-කියා සිටියේ ය.

තමන් පා පියුම් ලෝ මුදුන් කළ තිලෝගුරු බෝධිසත්ත්වයන් වහන්සේ, එ දවස් උදෑසන සොළොස් කළයක් සුවඳ පැනින් ඉස් සෝධා නහා ලක්ෂයක් අගනා කසී සළුවක් හැඳ සර්වාභරණයෙන් විභූෂිත වැ, නොයෙක් රසයෙන් අග්‍ර වූ, අමරා දේවීන් විසින් පිසින ලද භෝජනය අනුභව කොට, මහත් පෙරහරින් වාසල් දොරකඩට ගොස්, ආ නියාව කියා යවා "මපුතණුවෝ වහා එත්ව" යි රජ්ජුරුවන් විසින් කී කල්හි රජ ගෙට වැද, රජ්ජුරුවන් වැඳ එකත්පස් වැ සිට, "කිමෙක් ද පුත, මහෞෂධ පණ්ඩිතයෙනි?" යි රජ්ජුරුවන් කී කල්හි, "ධර්ම යුද්ධයට යෙමි" යි වදාළ සේක. "පුත මා විසින් කුමක් කළ මනා ද?" යි කීහ. "දේවයන් වහන්ස, කේවට්ටයා මැණිකෙකින් වඤ්චා කරනු කැමැත්තෙමි. එ බැවින් අෂ්ටවංක මාණික්‍ය රත්නය ලද මැනැවැ" යි වදාළ සේක. "පුත, එයිත් මට කියා ද ගන්නේ? ඇර ගන්ව" යි කී කල්හි, ශක්‍රයන් පළමුත් තමන් වහන්සේට දුන් මාණික්‍ය රත්නය ශ්‍රී හස්තයෙන් ගෙන, රජහු වැඳ මාළිගයෙන් බට සේක; තමන් වහන්සේ හා එක දවස උපන් යෝධයන් දහස හා සිවුරඟ සෙනඟ හා පිරිවරා, අනූ දහසක් රන් වටනා හැළි අසුන් යොදන ලද, සර්වාලංකාරයෙන් සැරහූ රථයකට පැන නැඟී, දවල් මේ නිමවන වේලාවට වාසල සමීපයට පැමිණි සේක.

කේවට්ටයෝ ද 'මහෞෂධ පණ්ඩිතයන් දැන් එති, දැන් එති' මහ බෝසතාණන් වහන්සේ වඩනා පෙර මඟ කර ඔසව-ඔසවා බලා ගෙන සිටීමෙන් කොක් කරක් සේ දික් වූ කර ඇති වූහ; මහා බෝධිසත්ත්වයන්ගේ දිගන්තරයෙහි පතළා වූ තේජස් පරිද්දෙන් පහරන්නා වූ හිරු රැසින් ඩා වෑහෙන්නා වූ ශරීර ඇති වූහ. මහ බෝසතාණන් වහන්සේ ද, ඔද වැඩියා වූ සාගරය පරිද්දෙන් පොළොව මැඩ පියන්නා සේ වීථිය පුරා ගෙන යන්නා වූ ඇත් අස් ආදි වූ පරිවාරයෙන් යුක්ත වැ අසම්භීත වැ, වාසල් දොර හරවා, නුවරින් නික්ම, රථයෙන් බැස, කෙසරු සලා විදහා කිලිපොළන්නා වූ සිංහ රාජයකු සේ විජෘම්භනය කෙරෙමින්, ධර්ම යුද්ධ මණ්ඩලයට ම වැඩි සේක. එක් සියයක් රජ දරුවෝ ඒ මහතාණන් වහන්සේ රූපෛශ්වර්යය දැක, 'නුවණින් සියලු දඹදිව තමන්ට දෙවන, කෙනකුන් නැති, සිරිවඩ්ඪන සිටාණන් පුතණුවෝ මහෞෂධ පණ්ඩිතයෝ නම් මොහු යැ' යි සමාධීන් ඔල්වර හඬ සිය ගණන් පැවැත්තූහ. පණ්ඩිතයන් වහන්සේ ද දෙව්ලොව දෙවියන් පිරිවරා අසුර යුද්ධයට නික්මුණු සක්දෙව් රජහු පරිද්දෙන් උපමාවිෂයාතික්‍රාන්ත වූ ශ්‍රී සෞභාග්‍යයෙන් යුක්ත වැ ඒ අෂ්ටවංක මාණික්‍යරත්නය අතින් ගෙන, කේවට්ටයන් ඉදිරියෙහි ළංව වැඩි සේක.

කේවට්ට බමුණා මහ බෝසතාණන් වහන්සේ දැක, ඔබගේ තේජසින් සිටි පළ සිටින්නට අපොහොසත් වැ පෙර ගමන් කොට, "මහෞෂධ පණ්ඩිතයෙනි, අපි දෙන්නමෝ ම පණ්ඩිතවරුම්හ. තොප නිසා අවුත් මෙතෙක් කල් මෙතැන වසන අපට තෙපි අමුතු පඬුරක් පමණ වත් නොඑවූ විරූ ය. කුමක් නිසා ද මෙසේ ම සාදරයක් නොකළෝ?" යි කී ය. එසේ කී කේවට්ටයන්ට බෝසතාණන් වහන්සේ "පණ්ඩිතයෙනි, තොපට සුදුසු පඬුරක් සොයන්නෙම් අද මේ මිණි රුවන ලදිමි. හැර ගනුව. මෙ බඳු මිණි රුවනක් මේ මුත් නැතැ" යි වදාළ සේක. කේවට්ටයෝ පණ්ඩිතයන් වහන්සේ අත දිලියෙන මිණි රුවන දැක, 'මේ පණ්ඩිතයෝ මට මිණි රුවනක් ගෙනා වන්නාහ' යි සිතා, "එසේ වී නම් දෙව" යි අත දික් කළහ. බෝසතාණන් වහන්සේ ද "හෙ ද ගනුව" යි අත දික් කොට, අත ඇඟිලි අග මැණික එළාලූ සේක. බමුණාණෝ බර වූ මිණි රුවන ඇඟිලි අගින් රඳවා ගත නුහුණුවහ. මැණික පෙරළී ගෙන ගොස් බෝසතාණන් වහන්සේගේ පාමුල වැටී ගියේ ය.

බමුණාණෝත් ලෝභයෙන් 'මැණික ගනිමි' යි බෝධිසත්ත්වයන් වහන්සේගේ ශ්‍රී පාද මූලයට නැඹුරු වූහ. ඒ දැක බෝසතාණන් වහන්සේ බමුණා නැඹුරු වූ තැනැත්තවු කර ඔසවා ගත නොදී ම එක් අතෙකින් පිටිකර හා එක් අතෙකින් පිටි මුල හා තරයේ අල්ලා ගෙන, "නැඟී සිටුව! ආචාරීනි, නැඟී සිටුව! ආචාරීනි, මම බාලයෙමි; තොපගේ මුනුබුරු තරමට ඇත්තෙමි. මා නො වඳුව" යි කිය-කියා මුඛය හා සමග නලළ පෙරළ-පෙරළා කොරසැඩි බිම උලා රත් වද මලක් සේ ලේ හා පස් හා වකා, "නුවණ නැත්තව, තෝ මා අතින් වැඳුම් ගන්නට සිතයි දැ?" යි බොටුව අල්ලා ගෙන දමා ලූ සේක. මෙ තෙමේ ඉස්බක් පමණ තැන වැටී ගොස් නැඟී සිට වැලි පිස-පිස පලා ගියේ ය. මැණික වනාහි මහ බෝසතාණන් වහන්සේගේ මිනිස්සු ම ඇර ගත්හ.

"නැඟී සිටුව! ආචාරිනි, මා නො වඳුව" කියා මහ බෝසතාණන් වහන්සේ බැණ නැගි හඬ සියලු චතුරංගිනී සේනායෙහි අරගල මැඩ ගෙන සිටියේ ය. "කේවට්ට බමුණා විසින් මහෞෂධ පණ්ඩිතයන් වහන්සේගේ පා වඳනා ලද" යි සියලු පර්ෂත් කොක් සන් දී පිළී හිස සිසාරා අත්පොළසන් දී කෝලාහල කළහ. බ්‍රහ්මදත්ත රජ්ජුරුවන් හා එක් සියයක් රජ දරුවන් හා ඇතුළු හැම දෙන ම කේවට්ටයා මහෞෂධ පණ්ඩිතයන් පා පිට නැමුණා දුටුවාහු ම ය. නැවත කියන්නාහු, "අපගේ කේවට්ට ආචාරීන් විසින් මහෞෂධ පණ්ඩිතයෝ වඳනා ලද. එ බැවින් අපි පැරැද්දම්හ. අපගේ ජීවිතය මෙ විට නො දෙන්නාහ" යි භයින් තැති ගෙන, තමන්-තමන්ගේ අසුන් පිට නැඟී උත්තර පඤ්චාල නුවරට මූණ ලා නමා ගත්හ. ඒ යන්නවුන් දැක බෝධිසත්ත්වයන් වහන්සේගේ පිරිස එක පැහැර කියන්නාහු, "කොල බ්‍රහ්මදත්ත රජු එක් සියයක් රජුන් හා සේනාව හා ඇරගෙන බිඳී පලා යන්නාහ" යි මහත් කොට හඬ ගසා කෝලාහල කළහ. ඒ අසා රජදරුවෝ තාක් මුළුල්ල වඩ-වඩා භයපත් වැ පලා යන්නාහු ම ය. ඔවුනොවුන් නො බලා මහා සේනාවෝත් බිඳී ගියහ. බෝධිසත්ත්වයන්ගේ පිරිස ඒ දැකත් වඩ-වඩා කෝලාහල පැවැත්වූහ. කරුණානිධාන වූ මාගේ ස්වාමිදරුවාණෝ 'බිඳී යන්නවුන් ලුහුබඳව' යි යන බසකුත් නො කියා, තමන් වහන්සේගේ සේනාව පිරිවරා නුවරට වන් සේක. බ්‍රහ්මදත්ත රජ්ජුරුවන් හා ඒ සා මහත් සේනාව හා දොළොස් ගව්වක් තැන් බිඳී පලා ගියහ.

ඉතා අලජ්ජී වූ දුෂ්ට වූ කේවට්ටයා අසු නැඟී, කටින් ලේ දම-දමා නළලේ ලේ පිස-පිස දිවන්නේ ය; සේනාවට ආසන්න ව අසු පිට ම හිඳ, "පින්වත්නි, නො යව; මම ගොවියා පුතු නොවැන්දෙමි. සිටුව, සිටුව" යි කී ය. එසේ කීවත් සේනාව නොරඳා ම දිවන්නාහු මෙසේ කියන්නාහ: "කොල පව්ටු දුෂ්ට අධර්මිෂ්ඨ වූ නිකෘෂ්ට අනාචාර ස්වරූප ඇති අවලක්ෂණ වූ අඥාන බමුණු මහල්ල, තෝ, 'ධර්ම යුද්ධය කෙරෙමි' යි කියා ගොසින් තට මුනුබුරු තරමටත් නැති ඉතා බාල තැනැත්තන් වැඳ පී ය. මේ මනුෂ්‍ය ලෝකයෙහි උපන් සත්ත්වයන්ගෙන් ජඩ වූ යම් එකක්හු කළ මනා යම් නොකටයුත්තක් ඇති නම් ඒ සියල්ලෙන් තා විසිනුත් නොකළමනා දෙයක් ඇද්ද? ජඩය, මැත නොදොඩා තොයිත් තාගේ පණ නො නසා යන අතෙක නැඟී යා" යි යනාදීන් කිය-කියා ඔහුගේ බස් තමන් කනෙක නො හෙළා ඕ හට ආක්‍රෝශ පරිභව බෙණෙමින් නොරඳා ම දිවන්නාහ.

එ බමුණා වහ-වහා ම දිව ගෙන ගොස් සේනාව මැදට පැන මෙසේ කියා ලී ය: "ඇයි? කුමක් කියවු ද? මම ගොවියා පුතු නො වැන්දෙමි. මම ගොවියා පුතු නොවැන්දෙමි. කොල,

වඳනා කෙනෙක් නළල දණ වැලමිටි ලේ ලා ගෙනත් වදිද්ද? මේ වැඳීම් මාන තොප අතින් අද ඇසීමි! ඒ ගොවියා පිත් මාණික්‍ය රත්නයෙකින් මා වංචා කොට පී යැ'' යි නොයෙක් කාරණ කියා ගිවිස්වා තමා වසඟ කොට, එසේ මිදී තුන් යොදුනක් පලා ගිය ඒ සා මහත් සේනාව රඳවා නැවත ගෙන'වුත් පළමු පරිද්දෙන් මැ වට ලා ගත. බෝධිසත්ත්වයන් වහන්සේගේ අනුහාවයෙන් නො සිතූ හෙයින් මුත් ඉදින් ඒ සේනාව එක් එක් පස් මිටක් වත් දමුයේ වී නම් අගල් තුන පුරා ගෙන අටළොස් රියන් පවුර පිට නැවත එපමණ ගොඩ කරන්නටත් වඩා ඇති වන්නේ ය. ඒ එසේ මැ යි. තිලෝගුරු බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී මුඛයෙන් ම ''බෝධිසත්තානං අධිප්පායා නාම ඉජ්ඣන්ති-'' ''බෝසතුන්ගේ අදහස් නම් සිදු වේ'' යි වදාළ බැවින් අභිමතාර්ථසාධක වූ චින්තාමාණික්‍යයක් බඳු වූ මාගේ බෝධිසත්ත්වයන් වහන්සේගේ තේජසින් ම පස් මිටක් වත් කැටක් වත් නුවර දිසාවට දමන්නා තබා සිතිනුත් සිතූ එක ද සත්ත්වයෙක් නැත්තේ ය. සියල්ලෝ ම අවුත් තමන් පළමු උන්නා වූ ස්ථානයෙහි ම හිඳ ගත්හ.

## අරුත් පැහැදිලි කිරීම

### සතර කන් මන්ත්‍රණය

| | | |
|---|---|---|
| අකුසු | - | හෙණ්ඩුව |
| ආක්‍රෝශ පරිභව | - | නින්දා අපහාස |
| අන්තස්සර | - | ඔත්තුකාර/ ඇතුළත හැසිරෙන/චරපුරුෂ |
| ගන්ධ දාම | - | සුවඳ මල්/වැල් |
| පුෂ්පදාමාවලම්බිත | - | මල් වැල් එල්ලන ලද |
| විතානොපලක්ෂිත | - | වියනකින් යුක්ත වූ |
| කොට-පිය පුතු කථාවක් | - | කිව යුතු කථාවක් |
| කුරුබිලියෙන් | - | කුඩා රහස් දොරින් |
| දසරුවට | - | උරහිසට |
| ඇකයෙහි | - | උකුළෙහි |
| සුව පෝතකයන් | - | ගිරා පැටවා |
| පියා සඟළ | - | පියාපත් යුවළ |
| ඉසුරුමතුන් | - | ධනවතුන් |
| උකටලී | - | අලස/ උදාසීනව |
| නතුවෝ ම ය | - | සතු වූහ |
| යමුගුරු බාලා | - | යකඩ පොලුවලින් ගසා |
| පසල් දනවුවැ නුවරට | - | පංචාල දේශයට අයත් නුවරට/පිටිසරට අයත් නුවරට |
| ක්ෂෝභ | - | කැලඹීමට පත් කොට |
| දළ පුඬු සේසත් | - | ඇත් දත් මිට සහිත සුදු කුඩ |

### මියුරු නුවර වටලෑම

| | | |
|---|---|---|
| ශෘංගි ලා | - | විෂ යොදා |
| වේරම්බ වාතයෙන් | - | අහසෙහි යොදුනක් පමණ එපිට ඇතැයි සැලකෙන වාතයෙන් |
| හැළලී ගිය | - | කැලඹී ගිය |
| රන් පොරෝදු | - | රත්රන් සැරසිලි |

| | | |
|---|---|---|
| තෝමර | - | කුන්තායුධ |
| ප්‍රතිමණ්ඩිත | - | සමන්විත |
| කාහල | - | හොරණෑ |
| ධ්වජ පඞ්ක්ති | - | කොඩිපේළි |
| හියොවුරු | - | හී කොපු |
| ධනුර්ධරයන් | - | දුනුවායන් |
| උපලක්ෂිත | - | අලංකාර වූ |
| නිකෘෂ්ට | - | නින්දිත |
| විදුරසුන් | - | වජ්‍රාසන |
| අන්‍යතර | - | එක්තරා |
| අසි | - | කඩු |
| ශක්ති | - | හෙල්ල |
| කරවාල | - | කෙටි කඩු විශේෂයක් |
| හෙණ්ඩිවාල | - | අතින ආයුධ |
| විගමනයෙන් | - | දුරුවීමෙන් |
| සින්නම්හර | - | හොරණෑව |
| තන්තිරි පට | - | වීණා විශේෂයක් |
| ගැටපහටු | - | දෙණ්ඩිම නම් බෙර |
| පනා බෙර | - | කළ බෙර |
| මූදු පරගානා | - | මුහුදු ඝෝෂා කරන්නාක් මෙන් |
| කනක | - | කරාබු |
| කටක | - | වළලු |
| රසනා | - | මෙවුල් දම/ හවඩිය |
| නූපුර | - | පයේ බඳින ආභරණ |
| තාඩංක | - | කනේ පළඳින ආභරණයකි |
| වළය | - | මුද්ද |
| අවුල් හර | - | පපුව මත පලඳින ආභරණ විශේෂයක් |
| උදර බන්ධන | - | උදරය (බඩ) වටා බඳින ආභරණ |
| ඉස්බක් | - | රියන් එකසිය හතළිහක දුර |
| ගැට නිමුල් හර | - | ශරීරාභරණ |
| පේරුස් | - | රජුගේ නම කෙටූ මුද්ද |
| එක්වැටි | - | එක් පටකින් යුත් මාල විශේෂයක් |
| පාදජාලා | - | පයෙහි දමන ලද දැල් ආභරණ |
| පාදනු | - | පාදයේ ආරක්ෂාවට දමන වැසුම් |
| එළුසන් | - | ප්‍රීතියෙන් නගන හඬ |
| ඔල්වරසන් | - | ජය ඝෝෂා |
| අසුරුසන් | - | මහපටැඟිල්ල හා මැදඟිල්ල එකට ගැටීමෙන් ශබ්දයක් නිකුත් කිරීම |

**යුද්ධෝපාය යෙදීම**

| | | |
|---|---|---|
| ආශීර්විෂයක්හු | - | විෂ සහිත සර්පයකු |

| | | |
|---|---|---|
| දිගන්තරයෙහි | - | සෑම දිසාවෙහි |
| අසම්භීතව | - | එඩිතරව/නොබියව |
| විජෘම්භනය | - | වැජඹෙන |
| සෛන්ධවයන් | - | අශ්වයන් |
| උපමා විෂයාතික්‍රාන්ත | - | උපමා කළ නොහැකි |
| අක්ෂෞහිණිය | - | අංග සම්පූර්ණ මහා යුධ සේනාව (ඇතුන් 21870, අශ්වයන් 65510, රථ 21870, පාබළ 109350) |
| ධවලඡත්‍ර | - | සුදු කොඩි |
| සුප්‍රතිෂ්ඨිත | - | ස්ථිරව/ නො සැලෙන සේ පිහිටි |
| සමෘද්ධ | - | සඵල වූ |
| සමුජ්වලිත | - | බබළන |

**අභ්‍යාස**

01. මහෞෂධ පණ්ඩිතයන්ගේ උපාය කෞශල්‍යය හේතුවෙන් වෛදේහ රාජ්‍යය ආරක්ෂා වූ ආකාරය පැහැදිලි කරන්න.

02. හාස්‍යයෙන් හා උපහාසයෙන් යුක්තව කේවට්ට බමුණාගේ චරිතය නිර්මාණය කර ඇති අන්දම පාඩම ඇසුරෙන් විමසන්න.

03. "උම්මග්ග ජාතක කථාවෙහි සාර්ථකත්වයට එක් හේතුවක් වී ඇත්තේ එහි යොදා ගත් භාෂා රීතියයි" නියමිත කොටස ඇසුරින් සාකච්ඡා කරන්න.

04. මහෞෂධ පණ්ඩිතයාගේත් කේවට්ට බමුණාගේත් චරිත තුළ ඇති සම විෂමතා දක්වන්න.

05. වචන විනාශකාරී ලෙස භාවිතයෙන් සමාජයකට විය හැකි හානි පාඩම ඇසුරෙන් විමසන්න.

# 2 ගුත්තිල වෙණ නද

(වැත්තෑවේ හිමි - කෝට්ටේ අවධිය)

**ගුත්තිල කාව්‍යය** රචනා කරන ලද්දේ වැත්තෑවේ හිමියන් විසිනි. උන් වහන්සේ වයඹ පළාතේ සත් කෝරළයේ පහළ දොළොස් පත්තුවේ වැත්තෑව නම් ගමෙහි උපන්නෙකි. පද්‍ය 511කින් සමන්විත ගුත්තිල කාව්‍යය ගුත්තිල ජාතකය ඇසුරෙන් නිර්මාණය වූවකි. ගුත්තිල කාව්‍යය රචනා කරන ලෙස ආරාධනය කරන ලද්දේ සිරි පැරකුම්බා රජුට සේවය කළ අගමැතිවරයෙකු වූ සලාවත ජයපාල මැතිඳුන් විසිනි.

ගුත්තිල කාව්‍යයට පාදක වූ කථා වස්තුව සැකෙවින් මෙසේ ය. උදේනී පුරයට පැමිණි වෙළෙඳුන් අතින් ගුත්තිල ඇදුරුතුමාගේ කීර්තිය පිළිබඳව දැන ගත් මූසිල නම් තරුණ ගාන්ධර්වයා බරණැසට පැමිණියේ වීණා ශිල්පය හැදෑරීමට යි. තම ගුරුවරයා දැන සිටි සියලු ශිල්පයෙහි කෙළ පැමිණි මූසිල, රාජ සභාවෙහි සේවයට ගියේ ගුත්තිල ඇදුරුතුමාගේ උදව්වෙනි. එහි දී තමා ගුරුවරයා හා සමාන යැයි සිතූ මූසිල තෙමේ සමාන සේවයට සමාන වැටුප් ඉල්ලා සිටියේ ය. ගෝලයා ගුරුවරයා තරම් ම දක්ෂ යැයි රජතුමා නො පිළිගත් හෙයින් රජුගේ නියෝගය පරිදි මූසිල තරුණයා තම ගුරුවරයා හා වාදයකට සූදානම් විය. මේ අභියෝගය නිසා ගුරුවරයාගේ සිත කෙතරම් වේදනාවට පත් වී ද යත් ඒ හේතුවෙන් සක්දෙව් රජුගේ පඬුපුල් අස්න ද හුණු විය. සක්දෙව් රජු මැදිහත් වීමෙන් තරග බිමේ දී ප්‍රතිවාදියා අපකීර්තියට පත් කිරීමට ගුත්තිල ගාන්ධර්වයාට හැකි විය. දෙව්ලොවෙන් බට සුරඟනන්ගේ රැඟුම් බලන්නට බරණැස් නුවරුන්ට හැකි විය. සක් දෙවිඳුගේ ඇරයුමෙන් දෙව්ලොව දී වීණා වාදනයක් පවත්වන්නට ද ගුත්තිල ඇදුරුතුමාට සිදු විය. එහි දී දෙවඟනෝ තමන් දෙව් ලොව උපත ලැබූ සැටි ඇදුරිඳුට හෙළි කරමින් කුසලානිසංස මහිමය කියා පෑහ.

වැත්තෑවේ හිමි තම කාව්‍ය සංග්‍රහය නිර්මාණය කිරීමට හේතු වූ සිදුවීම පිළිබඳ ප්‍රකට ජනප්‍රවාදයක් වෙයි. වැත්තෑවේ හාමුදුරුවෝ තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන්ගේ ගෝලයෙක් වූහ. කාව්‍යකරණයෙහි ලා වැත්තෑවේ හිමියන් සතුව පැවති හැකියාව දුටු රාහුල හිමි උන්වහන්සේ කෙරෙහි තමා තුළ පැවති අප්‍රසාදය පළ කරන්නට උපායක් යෙදී ය. තම අතවැසියකු අමතා වැත්තෑවේ හිමියන්ට දිනපතා පලා කොළ තුන් පංගුවක් බෙදන ලෙසට උපදෙස් දුන්නේ ය. තමාට 'පල නො කියා පලා බෙදන' බව වටහා ගත් වැත්තෑවේ හිමි පෙරළා ගමට වැඩි අතර, තමා අකෘතඥයකු නො වන බව ගුරුතුමාට ඇඟවීම සඳහා ගුත්තිල කථාව අත්‍යාර්ථයෙන් ම උචිත බැවින් ඒ ඇසුරෙන් කාව්‍යයක් පබඳින්නට උන්වහන්සේ සිතූහ.

සිය පින් සිරින් සරු
දෙතිස් ලකුණෙන් විසිතුරු
කෙලෙසුන් කෙරෙන් දුරු
වදිම් මුනි උතුමන් තිලෝගුරු

යනුවෙන් ලඝු අකුරු දෙකක් හා ගුරු අකුරකින් යුතු 'වායු ගණයෙන්' කාව්‍යය ආරම්භ කළේ ද එහි අනිෂ්ට විපාක දුන දුන ම බව ජනප්‍රවාදයේ එයි.

1. ගුත්තිල ඇදුරු සඳ
වීණා වයන ලෙස ඉඳ
පසෙක පනවන ලද
සුදුසු අස්නෙක ගොසින් උන් සඳ

**අන්වය*** : ගුත්තිල ඇදුරු සඳ ඉඳ වීණා වයන ලෙස පසෙක පනවන ලද සුදුසු අස්නෙක ගොසින් උන් සඳ,

**අර්ථය** : ගුත්තිල ඇදුරුතුමා ඉඳ ගෙන වීණා වයනු පිණිස පසෙක පනවන ලද සුදුසු අස්නෙක ගොසින් උන් කල්හි,

**විස්තර (1)** **පසෙක පනවන ලද** : පැනවීම නම් නියම කිරීම යි. කාටත් පොදුවේ නොව මේ අසවලාට ය, යන නියමය ඇතිව කෙනකුට සුදුසු පරිදි පිළියෙල කරන ලද අසුන, පනවන ලද අසුන යි.

2. නො දැන ම තමා බල
සබයට අවුත් නො පැකිළ
වැඳ රද පද කමල
දෙසෙක මූසිලයා ද උන් කල

**අන්වය** : පහසු ය.

**අර්ථය** : තමාගේ බලය දන්නේ නැති ව මූසිල ද පැකිළීමක් නැති ව සභාවට අවුත් රජුගේ පා කමල වැඳ, පැත්තක උන් කල්හි,

**විස්තර (1)** මූසිල පැකිළීමක් නැතිව සභාවට ආවේ තමාගේ බල නො දත් නිසා ය. තම බලයේ පමණ දන්නේ නම් වාදයෙන් තමාට ජය ගත නො හැකි බව වටහා ගනී. එසේ වූ කල සිතේ ධෛර්යයක් ඇති නො වන හෙයින් පැකිළීමක් ඇති වේ.

* අන්වය යනු අර්ථය ගැනීම සඳහා පද ගළපන පිළිවෙළ යි.

**විස්තර (2)** : කමල යනු රතු නෙලුම් ය. රජුගේ පාද රත් පැහැ බව සැලකීමෙන් පද කමල යයි කීහ.

3. සිදු වේ මැ යි වෙසෙස
මහ බෝසතුන් අදහස
ඉන් සුර පුරෙන් බැස
අවුත් බෝසත්හු දිනවන ලෙස

**අන්වය :** වෙසෙස මහ බෝසතුන් අදහස සිදු වේ මැ යි. ඉන් සුරපුරෙන් බැස බෝසත්හු දිනවන ලෙස අවුත්,

**අර්ථය :** විශේෂයෙන් මහ බෝසතුන්ගේ අදහස සිද්ධ වන්නේ ම ය. එසේ හෙයින් දිව්‍ය ලෝකයෙන් බැස බෝධිසත්ත්වයන් දිනවන පරිද්දෙන් පැමිණ,

4. කැර මිණි බරණ රැස්
රසින් සුර සැවු සුවහස්
සුරන් සහ සහසැස්
නො කැර සිටියේ අහස් කුස හිස්

**අන්වය :** මිණි බරණ රැස් රසින් සුවහස් සුර සැවු කැර සුරන් සහ සහසැස් අහස් කුස හිස් නොකර සිටියේ.

**අර්ථය :** මාණික්‍යාභරණ රාශීන්ගේ රශ්මියෙන් බොහෝ දේදුනු ලක්ෂ ගණන් ඇති කොට ශක්‍ර තෙමේ දේව සේනාවන් හා අහස් කුස පුරවා සිටියේ ය.

**විස්තර (1)** ශක්‍රයාගේ හා සෙසු දෙවිවරුන්ගේ ආභරණවල මාණික්‍යයන්ගේ රශ්මිය අහසට නැගුණ විට දෙව්දුනු රාශියක් නැගුණා සේ ය.

(2) **සහසැස්** : සහස් ඇස් = සහසැස්. ශක්‍රයා ය.

5. දෙදෙන ම ඉඳ දෙ පිට
සව් සත සතන් තුටු කොට
සුර ගඳඹුන් ලෙසට
පටන් ගෙන වෙණ ගායනාවට

**අන්වය :** පහසු ය.

**අර්ථය :** ගුත්තිල මූසිල දෙදෙනා දෙපැත්තෙහි හිඳ ගෙන, සියලු සත්ත්වයන්ගේ සිත් සතුටු කරමින් දිව්‍ය ගාන්ධර්වයන් මෙන් වීණා ගායනාවට පටන් ගෙන,

**විස්තර (1)** **ගායනාවට :** ඇතැම් අකාරාන්ත සංස්කෘත ශබ්ද සිංහලයට තත්සම ව එන විට ආ කාරාන්ත වී, 'ව' කාරය එක් වේ. වන බැව් පෙනේ. දේශන-දේශනාව යෝජන-යෝජනාව, අරාධන-ආරාධනාව ආදිය නිදසුන් ය.

6.

| | |
|---|---|
| නවතා | ගිගිරියේ |
| අසන ලෙස සිත් | පිරියේ |
| කැර කන් | බිහිරියේ |
| කරත වෙණ ගායනා | සරියේ |

**අන්වය :** ගිගිරියේ නවතා, සිත් පිරියේ අසන ලෙස, කන් බිහිරියේ කැර, සරියේ වෙණ ගායනා කරත,

**අර්ථය :** ගිගිරිය හෙවත් ඝෝෂාව නවත්වා චිත්ත ප්‍රීතියෙන් යුක්තව අසන ලෙස, කන් බිහිරි කර, සමාන ලෙස වීණා ගායනා කරන කල්හි,

**විස්තර :** වීණා වාදනය පටන් ගත් කෙණෙහි ම මිනිසුන් අතර කතාබහ නැවතුණු බවත්, අන් කිසි නාදයක් නෑසෙන පරිදි ඉතා උස් හඬින් වීණා නාදය නික්මුණු බවත් මෙයින් කියැවිණි.

7.

| | |
|---|---|
| අප බෝසතුන් | මිස |
| අනෙකකු නො ම අසන | ලෙස |
| සුර රජ සිට | අහස |
| තතක් සිඳුව යි කී ය එ | විගස |

**අන්වය :** පහසු ය.

**අර්ථය :** අප බෝසතුන් හැර අනෙකකු නො අසන පරිද්දෙන් සුර රජ අහසෙහි සිට, එ කෙණෙහි ම "තතක් සිඳුව" යි කී ය.

**විස්තර :** තරගයේ ඉතා ම උග්‍ර අවස්ථාවේ දී සුර රජ අහසෙහි සිට, බෝසතුන්ට පමණක් ඇසෙන පරිද්දෙන් "තතක් සිඳුව" යි කීවේ ය. පිරිසේ ප්‍රබෝධය දියුණු කොට, ඔවුන් ලවා බෝසතුන්ගේ උසස් ජයග්‍රහණය හැම අත ප්‍රසිද්ධ කරවනු සඳහා ය.

8.

| | |
|---|---|
| ගුත්තිල මහ | සිපී |
| සක් දෙව් බසින් | සැතපී |
| මින් දිනමැ යි | දපී |
| බමර තත පළමුවෙන් | සිඳපී |

**අන්වය :** පහසු ය.

අර්ථය : මහා ශිල්පී ගුත්තිල සක් දෙවිගේ වචනයෙන් සන්තෘප්ත ව, 'මෙයින් දිනිමි' යි ආඩම්බරපයට පත්ව පළමු කොට බමර තත සිඳ දූමී ය.

(1) **සැතපී** : සතප (සැතපුම්හි) ධාතුවෙන් සිද්ධ පූර්ව ක්‍රියා ය. සන්තෘප්ත වී, හොඳට ම සැනසීමට පත් වී යනු අර්ථ යි.

(2) **බමර තත** : වීණාවෙහි ප්‍රධාන තත ය.

(3) **සිඳපී** : 'සිඳ' පූර්ව ක්‍රියාවකි. 'පී' යනු පිය (පියුම්හි) ධාතුවෙන් සිද්ධ අතීත කාල ප්‍රථම පුරුෂ ඒක වචන ආඛ්‍යාතය යි.

9. තත මතු ද සින්දේ
පිළිමල් දප ද සින්දේ
යස දිගත ඇන්දේ
විජය සිරි සඳ ගෙන වැලැන්දේ

අන්වය : පහසු ය.

අර්ථය : සින්දේ වීණා තත පමණක් ද? ප්‍රතිමල්ලවයාගේ දර්පය ද සින්දේ ය; කීර්තිය දිගන්තයෙහි චිත්‍රණය කළේ ය; විජය ශ්‍රී කාන්තාව කැඳවා වැලඳ ගත්තේ ය.

විස්තර (1) ගුත්තිල ඇදුරු තත සිඳීමත් සමග විරුද්ධවාදියාගේ ආඩම්බරය ද සුන් කළ බවත්, කීර්තිය සකල දිගන්තයෙහි පැතිරවූ බවත් ජය තමා වෙතට පමුණුවා ගැනීමෙන් ඓශ්වර්යය ලද බවත් මේ පද්‍යයෙන් කියැවේ.

10. සුන් එ තතින් එ සඳ
පසු කැර සුරන් වෙණ නද
දියුණු දියුණු ව නද
නික්ම පැතිරෙත දසත විනිවිද

අන්වය : පහසු ය.

අර්ථය : එකල්හි සින්දා වූ ඒ තතින් දෙවියන්ගේ වීණා නාදය පසු කර දෙගුණ දෙගුණ ව නාදය නික්මී දශ දිශාව පසා කර ගෙන පැතිරෙන කල්හි,

විස්තර (1) **සුන්** : සිඳ (සිඳීමෙහි) ධාතුවෙන් සිද්ධ අතීත කෘදන්ත ය.

11. කෙළෙහි ගුණ සින්දේ
මුසිල අන්ද මන්දේ
ජයෙහි ලොබ බැන්දේ
තමා වීණා තත ද සින්දේ

අන්වය : පහසු ය.

අර්ථය : කළ උපකාරයෙහි ගුණය සින්දා වූ මූසිල අන්දමන්ද වූයේ, ජයග්‍රහණයෙහි ලෝභය බැන්දේ තම වීණාවෙහි තත ද සින්දේ ය.

විස්තර (1) තත සිඳ වයන කල ගුත්තිල ඇදුරුගේ වීණාවෙන් නික්මුණේ දිව්‍ය වීණාවෙන් නික්මෙන හඬ ද පරයන, දියුණු දියුණු ව ඇසෙන නාදයකි. සිදු වූ දෙයින් අන්ද මන්ද වූ මූසිල තමාගේ වීණාවේ තත ද සින්දේ ය.

(2) **සින්දේ :** (සිඳීමෙහි) ධාතුවෙන් සිද්ධ අතීත ක්‍රියා, පුරුෂ ලිංග, ඒක වචන ආඛ්‍යාතය යි.

12. අනුවණකම් කෙළේ
ගුරුන් ගුණ සිහි නො කෙළේ
නද ඉන් නො පතළේ
අයස ම ය මුළු දියත පතළේ

අන්වය : සුගම ය.

අර්ථය : ගුරුවරයාගේ ගුණය සිහි නො කළේ ය අනුවණකම් කළේ ය. ඒ කාරණයෙන් නාදය නො පතළේ ය; මුළු ලෝකයෙහි ම පැතුරුණේ අපකීර්තිය ම ය.

13. දෙ වැනි තුන් වැනි තත
සතර වැනි පස් වැනි තත
ස වැනි සත් වැනි තත
මෙ සේ සිඳි සඳ මෙ අප බෝසත

අන්වය : මෙසේ මෙ අප බෝසත, දෙ වැනි තුන් වැනි තත, සතර වැනි පස් වැනි තත්, ස වැනි සත් වැනි තත ද සිඳි සඳ,

අර්ථය : මේ ආකාරයෙන් මේ අපේ බෝධිසත්ත්වයන් දෙ වන තුන් වන සතර වන පස් වන ස වන සත් වන තත් ද සිඳ ලූ කල්හි,

14. දිය දිය ගොස පළ කෙරෙමින් සපැමිණි
ගිය ගිය තැන ඉස්වා රන් මුතු මිණි
ගිය ගිය දිය නද එන මෙන් ගෙන මිණි
සිය සිය ගුණයෙන් වෙණ නද නික්මිණි

අන්වය : සපැමිණි දිය ගොස දිය පළ කෙරෙමින්, ගිය ගිය තැන රන් මුතු මිණි ඉස්වා, ගිය ගිය දිය නද මිණි ගෙන එන මෙන් වෙණ නද සිය සිය ගුණයෙන් නික්මිණි.

**අර්ථය :** පැමිණියා වූ ජය ඝෝෂාව ලෝකයෙහි ප්‍රකට කරමින්, ගිය ගිය ස්ථානයන්හි රන් මුතු මිණි ඉස්වා, ගිය ගිය ජය ඝෝෂා මිණි ගෙන එන්නා සේ වීණා නාදය සිය සිය ගුණයෙන් නික්මිණි.

**විස්තර (1) :** තත් සියල්ල සිඳ නද නංවත් ම ගුත්තිලයන්ට ජය පැමිණියේ ය. නික්මුණු වෙණ නද කෙමෙන් දියුණු විය. නාදය දියුණු වන තරමට එය පැතිරෙන දුර ද කෙමෙන් වැඩි වෙයි. ගුත්තිලයන් ජය ලබත් ම වීණා නාදය දියුණු වූයේ පැමිණි ජය ගොස ලොව පතළ කරමින් යන්නාක් මෙනි. එය කෙමෙන් දියුණු වූ බැවිනි. ඒ නාදය යම් දුරකට ගියේ නම් එහි සිට එය ඇසුවෝ තුටු ව රන් මුතු මිණි ඉස්සාහ. අවසන ඒ නද සිය සිය ගුණයෙන් දියුණු විය. එවිට නික්මුණු වෙණ නද කොතරම් තියුණු වී ද යත් පැතිර ගියාවූ ජයනාදය ප්‍රතිරාව නංවන්නා වැනි විය.

(2) **දිය ගොස :** ජය ඝෝෂාව

(3) **දිය :** ලෝකයෙහි

(4) **නික්මිණි :** නිකුම් (නික්මීමෙහි) ධාතුවෙන් සැදුණු නිරුත්සාහක ක්‍රියාවකි. අතීත කාල ය.

15.

පිය සන් නො ව බිඟු දැල් රැඳි කොපුලී
අවසන් නො ව වෙණ නදට ම කුහුලී
මද සන් සුන් පියොවින් සිටි නොසැලී
ගජ සෙන් සිතියම් ගජ සිරි කියෙලී

**අන්වය :** පිය සන් නොව බිඟු දැල් රැඳි කොපුලී, වෙණ නදට ම කුහුලී අවසන් නොව, මද සන්සුන් පියොවින් නොසැලී සිටි ගජ සෙන් සිතියම් ගජ සිරි කියෙලී.

**අර්ථය :** පියාපත් සැලුම් නැති මී මැසි සමූහයා රැඳි කොපුල් ඇති, වීණා නාදයට ම කුහුල අවසන් නො වන, මද සන්සිඳුණු ස්වභාවයෙන් නොසැලී සිටි ඇත් සේනාව සිතියම්වල ඇතුන්ගේ ස්වභාවය ප්‍රකාශ කළේ ය.

**විස්තර (1)** ඇතුන් මද කිපුණු කල දෙකොපුලින් ගලන මද ජලය පානය කිරීමට මී මැස්සෝ එති. එසේ එන මී මැස්සන්ට නිතර පියාඹමින් යළි යළිත් වැසීමට සිදු වන්නේ ඇතුන් නිතර කන්තල ගසන බැවිනි. මෙහි මී මැස්සන් පියාපත් නො සලා සිටීමට සමත් වූයේ වීණා වාදනයට ආකර්ෂණය වී සිටි ඇතුන්ට කන් සැලීම ද අමතක වූ හෙයිනි.

(2) **ගජ සෙන්...කියෙලී :** ප්‍රාණීන් සමූහයක් ඒකාබද්ධව ක්‍රියාවක යෙදෙන බව හඟවන පදය උක්තව සිටිනා කල ක්‍රියාව ඒක වචන ගත් තැනකි. සිතියම් ගජ සිරි කියෙලීම එක් එක් ඇතා වෙන වෙන ම නො කරන ලද හෙයින් යෙදේ.

(3) **කියෙලී :** කියොල (පැවසීමේ) ධාතුවෙන් සිද්ධ අතීතාඛ්‍යාත යි. ඒක වචන යි.

(4) **දැල් :** ජාලාව. සමූහය.

16. කන් කලු වෙණ නද ඇසුමෙහි ලොබිනේ
රන් රසු දැල් කොලහල වන බියෙනේ
සන් සල නොව එහි පිළිරූ ලෙසිනේ
නන් හය සෙන් සිටියෝ සිටි මතිනේ

අන්වය : කන්කලු වෙණ නද ඇසුමෙහි ලොබිනේ, රන් රසු දැල් කොලහල වන බියෙනේ, සන්සල නො ව එහි පිළිරූ ලෙසිනේ නන් හය සෙන් සිටි මතිනේ සිටියෝ.

අර්ථය : කනට මිහිරි වූ වීණා නාදය ඇසීමෙහි ආශාවෙන් රන් රසු දැල් කොලහල වෙතැයි යන බියෙන්, චංචල නො වී එහි පිළිරූ මෙන් නොයෙක් අශ්ව සේනාවෝ නිසල ව හිටිවන ම සිටියෝ ය.

විස්තර (1) නොයෙක් වර්ගවලට අයත් අශ්ව සේනාවෝ පිළිරූ ලෙසින් නොසෙල්වී සිටියහ. මක් නිසා ද? ගෙලෙහි බැඳි රන් මිණි ගෙඩි වැල් සෙලවුණොත් මිහිරි වීණා නාදය නොඇසෙන බැවිනි.

(2) සන්සල : චංචල යන සංස්කෘත ශබ්දය සිංහලට සකසා ගත් සැටි ය.

(3) හය සෙන්...සිටියෝ පෙර කවියේ 'සෙන්' (ගජ) යන වදන ඒක වචන ස්වරූපයකින් අවසාන ක්‍රියාවට බල පෑ නමුත්, මෙහිදී බහු වචනයක් ලෙසට යෙදී තිබේ.

17. නිති නිරිඳුගෙ රැකවලෙහි නියුත්තෝ
රැති ලෙස රුපුනොද බිඳ ජය ගත්තෝ
පැති රෙන වෙණ නද බැඳුණු සිතැත්තෝ
අති නවි ගිලිහෙන බව නොම දත්තෝ

අන්වය : පහසු ය.

අර්ථය : නිරතුරු රජුගේ රැකවලෙහි යෙදී සිටි, කැමති පරිදි සතුරන්ගේ ඔද බිඳ ජය ගත්, පැතිරෙන වීණා නාදයෙහි බැඳුණු සිත ඇත්තෝ අතින් ආයුධ ගිලිහෙන බව නො ම දත්හ.

විස්තර (1) රජුගේ නිත්‍ය රැකවරණයෙහි යෙදී සිටි ආරක්ෂක භටයන් අතින් අවි ගිලිහීම ඔවුන්ට දඬුවම් ලැබීමට හේතු වෙයි. එසේ විය හැකි විපත පවා වීණා නාදය ඇසීමෙන් සිහිපත් නො වී ගිය බව මෙයින් හැඟවිණි.

(2) අතිනවි : අතින්+අවි - අතිනවි (ස්වර සන්ධිය)

18. මන මත් කරවන දන මුළු දෙරණා
රසවත් වන වෙණ නද නද කරණා
සවනොත් සඳ පුරඟන ලොබ දිවුණා
නොදනිත් දරුවන් ඇකයෙන් වැටුණා

අන්වය : මුළු දෙරණ දන මනමත් කරවන, කරණ නද රසවත් වන වෙණ නද සවනොත් සඳ ලොබ දිවුණා පුරඟන දරුවන් ඇකයෙන් වැටුණා නො දනිත්.

අර්ථය : මුළු පොළෝ තලයෙහි ජනයන්ගේ සිත් මත් කරවන, කරණයන් නද්ධ වූ, රසවත් වන වෙණ නද, කන්වල වැටුණු කල ආශාව වැඩි කළ පුරාංගනාවෝ දරුවන් ඇකයෙන් වැටුණු බව නො දනිත්.

විස්තර (1) තරඟ වීණා වාදනයේ රසවත් බව මැනවින් පැහැදිලි කරවන වැනුමකි.
(2) **කරණ නද** : කරණ නම් වැයුමේ සමත්කම් පළ කෙරෙන අංග යි. ඒවායෙන් වැසුණු නද්ධ (නද) යි.
(3) **රසවත්** : රස ඇතියේ රසවත්. අස්ත්‍යර්ථයෙහි වත් ප්‍රත්‍යය යෙදී සැදුණු තද්ධිත පදයකි.
(4) **වැටුණා** : වට (වැටීමෙහි) ධාතුවෙන් සිද්ධ අතීත භාව කෘදන්තය.
(5) **පුරඟන** : ශබ්ද ප්‍රකෘතිය ප්‍රථමා බහු වචනයෙහි යෙදී ඇත.

19. පන් සිළු වීණා නද පසු බැස්වූ
මන් පිනවන වෙණ නදයෙන් තොස්වූ
නන් දන කැන් දුටුව ද බිය සිස්වූ
මින් රළවුත් ගං වෙරළට රැස්වූ

අන්වය : පන්සිළු වීණා නද පසු බැස්වූ, මන් පිනවන වෙණ නදයෙන් තොස් වූ, නන් දන කැන් දුටුව ද බිය සිස් වූ, මින් රළ අවුත් ගං වෙරළට රැස් වූ.

අර්ථය : පංචශිඛයාගේ වීණා නාදය පසු බැස්වූ, මන් පිනවන වීණා නාදයෙන් සතුටට පැමිණි, නොයෙක් ජන සමූහයන් දකත් බියක් නැති වූ මත්ස්‍ය සමූහයෝ අවුත් ගං ඉවුර සමීපයට රැස් වූවෝ ය.

විස්තර (1) මධුර වීණා නාදය ළං ළං වී අසනු පිණිස මාළු රංචු ගං ඉවුරට ආහ.
(2) **මින් රළ** : එකා මෙන් ක්‍රියා නො කරන බැවින් රැස්වූ යි ක්‍රියාව බහු වචන විය.

20. වර වෙණ නද අසමින් සිත සතොසිනි
සර හැර සියොතුන් පියපත් විදමිනි
පුර ඔර වසමින් සිටි රඟ කුම් වැනි
සුර සෙනඟට සුරසුන් පැනවූ වැනි

අර්ථය : විශිෂ්ට වූ වීණා නාදය අසමින් සිත් සතුටින්, ගමන් හැර දමා, පියාපත් විදහමින් පක්ෂීන් නගරයේ අහස වසාගෙන සිටියා වූ ආකාරය කුමක් වැනි දැයි කියතොත්, දිව්‍ය සමූහයාට දිව්‍යාසන පැනවූ වැන්න.

**විස්තර** (1) වීණා නාදය අසමින් සතුටට පත් පක්ෂීන් ගමන් හැර, ගමනට විදහා ගත් පියාපත් විහිදා ගෙන ම අහසේ සිටීම පෙනුණේ දිව්‍ය සේනාවට දිව්‍යාසන පනවා තිබෙන්නාක් මෙනි.

(2) වැනි : සමාන කිරීම් අර්ථයෙහි නිපාත යි.

21. යොදා සවන් වෙණ නද රස සුලබව
නඳා එකඟ සිත් වත නො ම සකොබව
සදා කුලය නොහැර ම එන අසුබව
එදා ගියේ රිළවුන් සන්සල බව

**අන්වය :** සුලබ වෙණ නද රස සවන් යොදා, සිත් නො ම සකොබ ව නඳා එකඟ වත, කුලය හැර ම සදා අසුබ ව එන රිළවුන් සන්සල බව එදා ගියේ.

**අර්ථය :** පහසුවෙන් ලැබෙන්නා වූ වීණා නාද රසයට කන් යොමු කොට, සිත් නො කැලඹී සතුටින් එකඟ වන කල්හි, පරම්පරා පුරුද්දට හැමදා අශෝභන ලෙස පවත්වා ගෙන එන රිළවුන්ගේ චංචල භාවය එදා පහ විය.

**විස්තර** (1) රිළවු කවර දාත් චංචල ගති ඇත්තෝ ය. වීණා නාදයෙහි රස විඳීමෙන් සතුටට පත් ව ඔවුන්ගේ සිත් එකඟ වීම නිසා ඔවුන්ගේ ඒ පරම්පරාගත දුර්ගතිය පහ විය.
(2) **රිළවුන්** : රිළා + උන් = රිළවුන්. ව කාරය ආගම විය.
(3) **සකොබ** : කැලඹීම (සංක්ෂෝභ)

22. එමා සත්හු වෙණ නද අසමානය
සමා නො වෙති කොවුලෝ උපමානය
තමා නාද මිහිරැයි යන මානය
දමා එයින් වින්දෝ අවමානය

**අන්වය :** එ මාසත්හු අසමාන වෙණ නදට කොවුලෝ උපමානය සම නොවෙති. එයින් තමන් නාද මිහිරැයි යන මානය දමා, අවමානය වින්දෝ.

**අර්ථය :** මහසත්හුගේ ඒ අසමාන වෙණ නදට උපමා කිරීමට කොවුලෝ සුදුසු නොවෙති. එයින් උන් තමන්ගේ නාදය මිහිරි ය යන මානය හැර දමා, අවමානය වින්දෝ ය.

**විස්තර** (1) **මාසත්හු** : මහසත්හු. මෙහි මහසත්හු යන සම්බන්ධ විභක්ති අර්ථයෙහි ම යෙදේ.

(2) **වින්දෝ** : විඳ (විඳීමෙහි) ධාතුවෙන් සිද්ධ අතීත කෘදන්ත නාම යි.
විඳ+ඕ = වින්දෝ ප්‍රථමා විභක්තිය.

23. අසන රිසින් නයි කැල ඔසලෝයා
ඔවුන වෙත ම සිටිනා ගුරුළෝයා
වයන එ වෙණ නද ලොබ ම කළෝයා
එදින වයිර සිත සිහි නො කළෝයා

**අන්වය :** නයි කැල (එ වෙණ නද) අසන රිසින් ඔසළෝ ය. ඔවුන් වෙත ම සිටිනා ගුරුළෝ වයන එ වෙණ නද ලොබ ම කළෝ ය; එදින වයිර සිත සිහි නො කළෝ ය.

**අර්ථය :** නාග සමූහයා (ඒ වීණා නාදය) අසනු කැමැත්තෙන් රැස් වූහ. ඔවුන් ළඟ ම සිටි ගුරුළෝ වයන්නා වූ ඒ වීණා නාදයෙහි ලෝභය ම කළෝ ය; ඒ දවසෙහි වෛර සිත සිහි නො කළෝ ය.

**විස්තර (1)** ගුරුළෝ නාගයන් ළඟට ම වී සිටියහ. ගුරුළෝ නාගයන් බුදිති යි ප්‍රකට ය. වීණා නාදයෙහි මිහිර නිසා එදින ඔවුන්ට වෛරය අමතක විය.

**(2) ඔසළෝ ය :** ඔසර (රැස් වීමෙහි) ධාතුවෙන් සැදුණු අතීත කෘදන්ත නාම ය.

24. බැඳි දන මන වැයුමෙහි ඇදුරෝයා
විඳි සත්සර වෙණ සර මදුරෝයා
රැඳි සතොසින් සැනහුණු ඉඳුරෝයා
වැදි දන සිරි ගත්තුය කිඳුරෝයා

**අන්වය :** දන මන බැඳි වැයුමෙහි ඇදුරෝ, මදුර සත්සර වෙණ සර විඳි සතොසින් රැඳී ඉඳුරෝ සැනහුණු කිඳුරෝ වැඳි දන සිරි ගත්තු ය.

**අර්ථය :** ජනයාගේ සිත් ගන්නාසුලු වාදනයෙහි ආචාර්ය වූ, සත්වසාරයාගේ මධුර වීණා ස්වරය වින්දනය කළා වූ සන්තෝෂයෙන් රැඳි සැනහුණු ඉඳුරන් ඇති කිඳුරෝ වන්දීන්ගේ ආකාරය ගත්තාහු ය.

**විස්තර (1)** සැනහුණු : සනහ (සැනහීමෙහි) ධාතුවෙන් සිද්ධ අතීත කෘදන්ත ය.

**(2) ඉඳුරෝ :** ඇස, කන, දිව, නාසය, කය යන මේ පහ ඉන්ද්‍රියයෝ ය. වෙණ නද අසා කිඳුරන් එයට තුති කරන නිසා ඒ කිඳුරෝ වන්දිභට්ටයන්ගේ සිරි ගත්හ.

**(3) සත්සර*** : බෝධිසත්ත්වයා; සත්වසාරයා

25. සතොස් කරන වීණා නද ඇසුමට
නොගොස් සිටින පිල්බර ගණ ගොදුරට
වෙසෙස් රුවින් තම මැවුවත් බඹහට
සඳැස් සවන් නොකළැ යි වූ නොසතුට

**අන්වය :** සතොස් කරන වීණා නද ඇසුමට ගොදුරට නො ගොස් සිටින පිල්බර ගණ වෙසෙස් රුවින් තමා මැවුවත්, සඳැස් සවන් නොකළැ යි බඹ හට නොසතුට වූ.

* සප්ත ස්වර ලෙස ද අර්ථ දක්වේ.

අර්ථය : සන්තෝෂය උපදවන වීණා නාදය ඇසීමට ගොදුරු සොයා නොගොස් සිටින මොනර සමූහයා විශේෂ රූපයෙන් තමන් මැවූවත්, පිල් අග 'ඇස්' ලකුණු 'කන්' නො කළේ යැයි බ්‍රහ්මයාට අසතුට පළ කළහ.

විස්තර (1) පිල්බර ගණ : මොනර සමූහයා. පිල් රැසක් ඇත්තේ පිල්බර. උන්ගේ ගණ (සමූහයා) පිල්බර ගණ

(2) සඳැස් : සඳ + ඇස් = සඳැස් පූර්වස්වරලෝප සන්ධිය. සඳැස් නම් පිල් අග ඇති ඇස් ආකාර සලකුණු ය.

(3) වූ : ව (වීමෙහි) ධාතුවෙන් සැදුණු අතීතාඛ්‍යාතය. මෙහි පිල්බර ගණ යන සමූහවාචී බහු වචන උක්තයට යෙදිණ.

26. වෙසෙසින් යන නද දිගත පුරායා
අසමින් තුරු හිස රඳන ගිරායා
උමුවෙන් ගත් මී අඹ මියුරායා
දූමුවෙන් වෙණ නද ම ය මියුරායා

අන්වය : දිගත පුරා යන නද වෙසෙසින් අසමින් තුරු හිස රඳන ගිරා උමුවෙන් ගත් මියුරු මී අඹ දූමුවෙන් මියුරු වෙණ නද ම ය.

අර්ථය : දිගන්තය පුරා පැතිරී යන වීණා නාදය විශේෂයෙන් අසමින් ගස් උඩ ඉන්නා ගිරවුන් ආශාවෙන් ගත් මධුර මී අඹ දූමූ හෙයින් මිහිරි වූයේ වීණා නාදය ම යි.

විස්තර (1) ගස් මුදුන්වල සිටින ගිරවු මී අඹ කති. එහෙත් වීණා නාදය ඉතාමත් මිහිරි නිසා, එයට කන් පමණක් නොව සිත ද ඇදී යැමෙන්, ඔවුන් ගත් මී අඹ අහකට දමති. මක් නිසා ද? මී අඹ රසයට වඩා වැඩි රසයක් වීණා නාදයෙහි වූ නිසා ය.

(2) උමුවෙන් : උන්මුඛයෙන්. ඉතා ආශාවෙන්.

27. රැති වනපෙතිනැවිදින් සුමුවෝයා
නිති මියුරැති වෙණ නදළමුයෝයා
සිතිවිලි නැති රූ විලස මුවෝයා
තැති නොගනිති මිනිසුන් සමුවෝයා

අන්වය : රැති වන පෙතින් සුමුවෝ ඇවිදින්, නිති මියුරු ඇති වෙණ නද අළ මුවෝ මුවෝ සිතිවිලි නැති රූ විලස මිනිසුන් හමු ව තැති නො ගනිති.

අර්ථය : සිත්කලු වනපෙතින් රංචු පිටින් පැමිණ නිරන්තර මිහිරි බව ඇති වීණා නාදයට අරිනා ලද මුඛය ඇති මුවෝ සිතිවිලි නැති රූප විලස මිනිසුන් හමු ව බියපත් නො වෙති.

විස්තර (1) මිනිසුන්ට මුවන් ගැන ද මුවන්ට මිනිසුන් ගැන ද හැඟීමක් නො වී ය. ඔවුන් සිත්හි වූයේ වීණා නාදය පමණි.

(2) **වනපෙතිනැවිදින් :** වනපෙතින් + ඇවිදින් = වනපෙතිනැවිදින්

(3) **සුමුවෝ :** සමූහ ව

(4) **නදළ මුවෝ :** නද + අළ මුවෝ = නදළ මුවෝ අළ යනු අර (ඇරීමේ) ධාතුවේ අතීත කෘදන්තයි. නාදයට විස්මිත ව කට ඇර ගෙන සිටියා වූ අළ මුව යන්න විස්මාර්ථය දෙයි. හුස්ම උඩට ඇද කට ඇර ගෙන සිටින්නේ විස්මයෙනි.

(5) **සමුවෝ :** හමු ව සම්මුඛ ව

28. නොගොසින් සිට සිටි වන නිබඳේයා
වෙසෙසින් සුර නර සෙන් නො මඳේයා
සතොසින් විඳ විඳ ලොබ නො සිඳේයා
මෙලෙසින් වෙණ නද අසන සඳේයා

**අන්වය :** නොමඳ සුර නර සෙන් නොගොසින් නිබඳ සිටි වන සිට, වෙසෙසින් සතොසින් විඳ විඳ, ලොබ නො සිඳ, මෙලෙසින් වෙණ නද අසන සඳ,

**අර්ථය :** බොහෝ වූ දිව්‍ය මනුෂ්‍ය සේනාවන් බැහැර නොගොසින් නිතර ම සිටි තැන්වල ම සිට ගෙන, විශේෂ සතුටින් රස විඳිමින්, නොසිඳුණු ආශාවෙන්, මේ ආකාරයෙන් වීණා නාදය අසන කල්හි,

**විස්තර** (1) දිව්‍ය මනුෂ්‍ය මහා සේනාව සිටි තැන්වල ම සිට නොසිඳුණු ආශාවෙන් වීණා නාදයෙහි මධුර ස්වරය ශ්‍රවණය කරති.

(2) **සිටි වන :** සිටි සේ ම යන අර්ථයි. හිටි ඉරියව්වෙන් ම

29. පටන් සුරිඳු දුන් උපදෙස් සිහි කොට
ඉටන් බෙලෙන් දැමුවෙන් ගුළි අහසට
තුටන් වඩන සුර අඟනෝ බැස සිට
පටන් ගත්තු නව සියයක් නැටුමට

**අන්වය :** පටන් සුරිඳු දුන් උපදෙස් සිහි කොට, ඉටන් බෙලෙන් ගුළි අහසට දැමුවෙන්, තුටන් වඩන සුර අඟනෝ නව සියයක් බැස සිට නැටුමට පටන් ගත්තු.

**අර්ථය :** පළමු කොට සක් දෙව් රජු දුන් උපදේශය සිහි කොට, අධිෂ්ඨාන බලයෙන් ගුළි අහසට දැමූ හෙයින්, සතුට වඩන සුර අඟනෝ නව සීයක් බැස සිට නැටුමට පටන් ගත්හ.

**විස්තර** (1) **පටන් :** ප්‍රථමයෙන් යන අර්ථ යි. පටන් ගැන්ම ආදි තැන්හි ද යෙදේ.

(2) **ඉටන් :** අධිෂ්ඨාන

30. ළඟ ළඟ වා උනුනට කර වාදය
නො වරදවා වීණා පද වාදය
රඟ අඟ වා සුර-නරඟන බේදය
සෙද කරවා රජ සබය පබෝදය

**අන්වය :** වීණා පද වාදය නොවරදවා, ළඟ ළඟ ව උනුනට වාද කර සුරනරඟන රඟ බේදය අඟවා රජ සබය සෙද පබෝදය කරවා,

**අර්ථය :** වීණා පද වාදනය නොවරද්දා ළං ළං වී ඔවුනොවුන් හට තරග කර සුරාංගනාවන්ගේ හා නරාංගනාවන්ගේ නැටුම් වෙනස පෙන්වා රාජ සභාව වහා ප්‍රබෝධ කරවා,

**විස්තර (1)** සුරඟනෝ වරින් වර ඔවුනොවුන්ට ළං වී තරගයට නටති. එසේ නටන විට පවා ඔවුහු වීණා පදය නොවරද්දති. එයින් ඔවුහු සුරඟනන්ගේ හා නරඟනන්ගේ නැටුම්හි වෙනස මැනවින් දක්වා රාජ සභාව සතුටු කළහ.

(2) **රඟ :** නැටීමෙහි. රංගනයෙහි

(3) **අඟවා :** හඟව (හැඟවීමේ) ධාතුවෙන් සැදුණු ප්‍රයෝජ්‍ය පූර්ව ක්‍රියාව හඟවා යනු යි. හ කාර ලෝපයෙන් අඟවා යනුවෙන් ද ව්‍යවහාර කෙරේ.

(4) **සෙද :** ශීඝ්‍රාර්ථයෙහි නිපාත පදයකි.

31. යටැසින් ලන බැල්මෙන් සුර විලසී
වෙසෙසින් දන මන මත් කැර එකසී
අහසින් බැස රඟ ගත් රඟ කෙලෙසී
දිසි මෙන් විය විදුලිය සිය දහසී

**අන්වය:** සුර විලසී යටැසින් ලන බැල්මෙන් වෙසෙසින් දන මන එකසී මත් කැර, අහසින් බැස රඟ ගත් රඟ කෙලෙස? විදුලිය සිය දහස් දිසි මෙන් විය.

**අර්ථය :** දිව්‍ය විලාසිනීන් පහත බලා ගත් ඇසින් හෙළන්නා වූ බැල්මෙන් විශේෂයෙන් ජනයාගේ සිත් ඒකාන්තයෙන් මත් කොට, ආකාශයෙන් බැස නැටුම් ගත් ලීලාව කවරාකාර ද? විදුලිය ලක්ෂ ගණනක් එක විට දිස් වූවාක් මෙන් විය.

**විස්තර** (1) **යටැසින්** : යටි ඇසින් = යටැසින් පූර්ව ස්වර ලෝප සන්ධිය

(2) **සුර විලසී** : දිව්‍ය විලාසිනීන්. විලාසිනී යනු ස්ත්‍රිය යි.

(3) **එකසී** : ඒකාන්තයෙන්

32. දිමුතු යසස් වන් කුසුම සරාගේ
නුමුතු සුවඳ මල් පැලඳ සරාගේ
දකුතු රඟන සුරඟන රඟ ලාගේ
උමතු නො වෙ ද කෙලෙසක සිත කාගේ

**අන්වය :** කුසුමසරාගේ දිමුතු යසස් වන් සුවඳ නුමතු මල් සරාගේ පැලඳ රඟන සුරඟන රඟ ලාගේ දකුතු කාගේ සිත කෙලෙසක උමතු නො වෙ ද?

**අර්ථය :** අනංගයාගේ දීප්තිමත් කීර්තිය වැනි සුවඳ නො මිදුණා වූ මල් හිස් මුදුනෙහි පැලඳ නටන්නා වූ දිව්‍යාංගනා රංග විලාසය දක්නා කල්හි කවරකුගේ සිත කෙලෙසක උමතු නො වන්නේ ද?

**විස්තර** (1) සුරඟනෝ හිස් මුදුනේ සුවඳින් යුතු මල් පැලඳ ගෙන නටති. ඒ මල් කාමදේවයාගේ කීර්තිය මෙනි. කීර්තිය සුදු පාට ය. කුසුමසරා හෙවත් අනංගයා කාමය උපදවයි. හිස මත මල් පැලඳි මෙකී සුරඟනෝ ද කාමය උපදවත්.

(2) **කුසුමසරා :** කුසුම් සර (හී) කොට ඇත්තේ කුසුම්සරා අනංගයා ය. මොහුගේ දුන්න උක් දඬුවෙන් කරන ලද්දකි. දුනු දිය බමර වැලකි. හී මල් ය. ඒ මල් පස් වර්ගයකි. එනම් නෙළුම්, අසෝක, අඹ, දෑසමන්, නිලුපුල් යන මේවා ය.

(3) **සුවඳ නුමුතු :** සුවඳින් නො මිදුණ. නුමුතු : නු පූර්ව මුත් (මිදීමෙහි) ධාතුවෙන් සැදුණු අතීත කෘදන්තය නුමුත් යනු ය. එළිසමය සඳහා නුමුතු යනු විය.

(4) **සරාගේ :** හිස් මුදුනේ. සර (හිස) + අග + ඒ = සරාගේ.

(5) **දකුතු :** දිස් (දැකුම්හි) ධාතුවෙන් නිපන් අසම්භාව්‍ය ක්‍රියාව දකිත යනු ය. එළිසමය සඳහා දකිතු යනු වී ස්වර පරරූපයෙන් දකුතු යනු විය.

(6) **ලාගේ :** ලාග ශබ්දය ප්‍රකාරාර්ථයෙහි වැටේ. ප්‍රකාරය, සැටිය, විලාසය යනු අර්ථ යි.

33. රූ රැසේ අඳිනා ලෙසේ අත්
ලෙළ දිදී විදුලිය පබා
රන් රසේ එක් වන ලෙසේ වෙණ
නාදනු පා තබ තබා
කම්පසේ දෙන සැර ලෙසේ දෙස
බල බලා නෙතගින් සබා
මම් කෙසේ පවසම් එසේ වර
සුර ළඳුන් දුන් රඟ සුබා

**අන්වය :** රූ රැසේ අඳිනා ලෙසේ විදුලිය පබා අත් ලෙළ දිදී, රන් රසේ එක් වන ලෙසේ වෙණ නාද අනු පා තබ තබා, කම් පසේ සැර දෙන ලෙස නෙතගින් සබා දෙස බල බලා, එසේ වර සුර ළඳුන් දුන් රඟ සුබා මම් කෙසේ පවසම්?

**අර්ථය :** රූප රාශියක් අඳිනා ලෙස විදුලිය ප්‍රභා ඇති අත් ලෙළ දිදී, රන් හා රසදිය එක් වන්නාක් මෙන් වීණා නාදයට අනුව පා තබමින්, අනංගයා පස් හීය (නිලුපුල් මල්) විදින්නාක් මෙන් නෙතගින් සභාව දෙස බල බලා, ඒ ආකාරයට උත්තම සුරංගනාවන් දුන්නා වූ රංගනයේ ස්වභාවය මම් කෙසේ පවසම් ද?

**විස්තර** (1) සුරඟනන්ගේ අත් විදුලිය ප්‍රභාවෙන් (එළියෙන්) යුක්ත ය. ඔවුන්ගේ තාලානුකූල වේගවත් හස්ත චලනය රූප රාශියක් අඳින්නාක් වැනි ය. වීණා නාදය අනුව පාද තැබීම රනට රසදිය එක් වන්නාක් වැනි ය. නෙත් කොනින් සභාව දෙස හෙළන බැල්ම අනංගයා විදින්නාක් වැනි ය.

(2) **රන් රසේ එක් වන ලෙසේ :** රන් ද රස දිය ද එක් වන ලෙසින්. රන් ද රසදිය ද මනා ව එක් වේ. වීණා නාදයට අනුව තබන පාද වීණා නාදය සමග මනා ලෙස ගැළපේ.

(3) **නාදනූ :** නාද + අනු = නාදනු, නු යනු නූ වූයේ විරිත රකිනු සඳහා ය.

(4) **කම් පසේ සැර :** කම් නම් අනංගයායි. ඔහුගේ පස් වන හීය නම් නිලුපුල් ය. සුරඟනන්ගේ නෙත් නිලුපුල් වැන්න. ඒවායින් සබය දෙස බැල්ම අනංගයා පස් වන හීය විදීමක් වැනි ව කාමය උපදවයි. පස් (වන) සැර යන්න විරිත සඳහා පසේ සැර විය.

(5) **පවසම් :** පවස (පැවසීමේ) ධාතුවෙන් සැදුණු වර්තමාන කාල උත්තම පුරුෂ ඒක වචන ආඛ්‍යාතයි.

34. පුන් මදාරා මල් දමින් මුදු
දිගු සුනිල් වරලස ගොතා
මන් මදා කිතු ලිය ලෙසින් උර
තුර සරා දිලි මුතු ලතා
මන් නදා වන මිණි මෙවුල් නද
වෙණ නදින් එක් කොට ඉතා
උන් එදා දුන් රඟ දුටොත් තව
සක් සැපත් කවරෙක් පතා

**අන්වය :** පුන් මදාරා මල් දමින් මුදු දිගු සුනිල් වරලස ගොතා, මන්මදා කිතුලිය ලෙසින් දිලි මුතු ලතා උරතුර සරා, මන් නදා වන මිණි මෙවුල් නද වෙණ නදින් ඉතා එක් කොට උන් එදා දුන් රඟ දුටොත් තව සක් සැපත් කවරෙක් පතා?

**අර්ථය :** පිපුණු මදාරා මල් දමින් මෘදු වූ, ඉතා දික් වූ, ඉතා නිල් වූ කෙස් කලඹ ගොතා ගෙන, අනංගයාගේ කීර්ති ලතාව මෙන් දිලිසෙන්නා වූ මුතු වැලින් ළය මැද සරසා ගෙන, සිත් සතුටු වන මිණි මෙවුලෙහි හඬ වීණා නාදය හා අතිශයින් මිශ්‍ර කොට උන් එදා දුන්නා වූ රංගනය දුටුවොත් තව ශක්‍ර සම්පත්තියක් කවරෙක් පතත් ද?

**විස්තර** (1) **මදාරා මල් :** දෙව්ලොව ඇති මල් වෙසෙසකි.

(2) **මන්මදා කිතු ලිය ලෙසින් :** නාටිකාංගනාවන් ළය මැදට වැටෙන සේ පැලඳි මුතු මාල අනංගයාගේ කීර්ති ලතා වැනි ය. කීර්තිය සුදු යැ යි කවිසමයේ සැලකේ. මන්මදා යනු අනංගයා ය.

(3) **මිණි මෙවුල් නද :** පැරණි ස්ත්‍රීන්ගේ ඉඟටියෙහි බඳනා ලද මැණික් එබ්බූ ආභරණයකි. කුඩා මිණි ගෙඩි ද එල්වූ මෙය නටන විට සෙලවෙයි. ඉන් නාද පැතිරෙයි.

(4) **දුටොත් :** දුටුව හොත්. දුට + හොත්. හ කාර ලෝපයෙන් දුට + ඔත් = දුටොත්, පූර්ව ස්වර ලෝප සන්ධි ය. අසම්භාව්‍ය ක්‍රියාවකි.

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| ඇඳුරු සඳ | - ඇඳුරු උතුමා |
| උන් සඳ | - උන් කල්හි/උන්නු වේලාවේ |
| පද කමල | - පාද නමැති නෙලුම් මල (රූපකයකි) |
| වෙසෙස | - විශේෂයෙන් |
| රැස් රැසින් | - රශ්මි රාශියෙන් |
| සුර සැවු සුවහස් | - දේදුනු සිය දහස් ගණනින් |
| සුරන් | - දෙවිවරුන් |
| සහසැස් | - ශක්‍රයා (සහස්+ඇස්) |
| දෙපිට | - දෙපැත්තක |
| සව් සත සතන් | - සියලු සත්ත්වයන්ගේ සිත් |
| තුටු කොට | - සතුටු කොට |
| ගඳඹුන් | - ගාන්ධර්වයන්/වාදකයන් |
| ගිගිරියේ | - ඝෝෂාව |
| පිරියේ | - ආශාවෙන්, කැමැත්තෙන් |
| සරියේ | - සමානව |
| සුර රජ | - ශක්‍රයා |
| මහ සිපී | - මහා ශිල්පියා |
| සැතපී | - සතුටුව |
| දැපී | - එඩි ඇතිව |
| බමර තත | - වීණාවේ මුල් තත/ප්‍රධාන තත |
| මතු ද | - පමණක් නොව |
| පිළිමල් දප | - ප්‍රතිමල්ලවයාගේ/විරුද්ධකාරයාගේ ආඩම්බරය/එඩිය |
| යස | - කීර්තිය |
| දිගත | - දිශාවන් |
| ඒ සඳ | - ඒ කල්හි |
| සුන් එතතින් | - කැඩුණු ඒ තතින් |
| දියුණු දියුණු ව | - දෙගුණ දෙගුණ වී/වැඩි වැඩි වී |
| අන්ද මන්ද | - සිහි මුළා වූ/මෝඩ |
| නොපතළේ | - නොපැතිරුණේ |
| දිය ගොස | - ජය ඝෝෂාව |
| දිය | - ලෝකයෙහි |
| පළ කරමින් | - ව්‍යාප්ත කරමින්/පතුරවමින් |
| පිය සන් | - පියාපත් ගැසීමක් |
| බිඟු දැල් | - මී මැසි සමූහයා |
| කොපුල් | - කම්මුල් |
| මද සන්සුන් | - මද සිඳුණු |
| පියොවින් | - ස්වභාවයෙන් |

| | |
|---|---|
| රන්රසු දැල් | - රත්තරන් කිංකිණි/රන් මිණිගෙඩි යෙදූ දැල් |
| සන්සල නොව | - නොසෙල්වී |
| හය | - අශ්ව |
| පිළිරූ | - පිළිම |
| සිටිමතිනේ | - සිටි වන ම/සිටි ආකාරයෙන් ම |
| රුති | - කැමති |
| රුපුනොද | - සතුරන්ගේ එඩිය/ආඩම්බරය |
| සවනොත් සඳ | - ඇසුණු කල්හි (සවන්+ඔත් සඳ) |
| පන්සිළු | - පංචශිඛ නම් වූ සක් දෙවිඳුගේ වීණා වාදකයා |
| නන් | - නොයෙක් |
| දන කැන් | - ජන සමූහයා |
| වර | - උතුම් |
| සර | - සංචාරය |
| පුර'ඹර | - නගරයේ අහස |
| සුර සෙන් | - දිව්‍ය සේනාව |
| සුරසුන් | - දිව්‍ය ආසන (සුර+අසුන්) |
| සකොබව | - කැලඹී (සංක්ෂෝභ ව) |
| මාසත්හු | - බෝසතාණන් වහන්සේ |
| උපමානය | - උපමාව |
| ඔසළෝයා | - රැස් වූහ |
| සත්සර | - සප්ත ස්වරය (ස,රි,ග,ම,ප,ධ,නි) |
| වැඳි දන සිරි | - වන්දි භට්ටයන්ගේ ආකාරය |
| පිල්බර ගණ | - මොනර සමූහය |
| සඳැස් | - පිල්වල ඇති ඇස් වැනි පුල්ලි |
| තුරු හිස | - ගස් මුදුන් |
| උමුවෙන් | - උන්මුඛයෙන්/ආශාවෙන් |
| සමුවෝයා | - රංචු ගැසී/කණ්ඩායම් වශයෙන් |
| හමුවෝයා | - හමු ව |
| සුර නර සෙන් | - දෙව් මිනිස් සේනාව |
| පටන් | - පළමු කොට/මුලින් ම |
| ඉටන් | - අධිෂ්ඨාන |
| තුටන් වඩන | - සතුට වැඩි කරන |
| ළඟ ළඟවා | - ඔවුනොවුන් හා ළං ළං ව |
| රඟ අඟවා | - ආකාරය දක්වමින් |
| රඟ බේදය | - රංගනයෙහි වෙනස |
| සෙද | - වහා |
| සුර විලසී | - සුරඟනන්/දෙව්ලියන් |
| එකසී | - එක සේ |

| | |
|---|---|
| රඟ | - රංගනය/ නැටුම |
| රඟ කෙලෙසී | - ආකාරය කෙසේ ද |
| දිසි | - දිස් වූවා/ පෙනුණා |
| දිමුතු | - දීප්තිමත් |
| යසස් | - කීර්තිය |
| කුසුමසරා | - අනංගයා |
| නුමුතු | - තොර නොවූ/ නොමිදුණා වූ |
| සරාගේ | - පැහැපත්/ පැහැයෙන් යුත් |
| රඟ ලාගේ | - රංග ලීලාව/ රඟන ආකාරය |
| විදුලිය පබා | - විදුලිය බඳු කැලුම් ඇති/ විදුලිය බඳු කාන්තිය ඇති |
| රන්රසේ | - රත්තරන් හා රසදිය |
| කම් | - අනංගයා |
| සැර | - ඊතල/ ඊ සර |
| පුන් | - පිපුණු/ පිරුණු |
| මල්දමින් | - මල්මාලාවලින් |
| සුනිල් | - ඉතා නිල්පැහැති |
| මන්මදා | - අනංගයා |
| කිතු ලිය | - කීර්ති ලතාව |
| උරතුර | - ළපැත්ත/ ළමැද |
| සරා | - සරසා |
| මුතුලතා | - මුතුවැල් |
| මන් | - සිත් |
| නඳා වන | - සතුටු කරන |
| මිණි මෙවුල් | - මණි මේඛලාව (පුරාණයේ ස්ත්‍රීන් උකුළෙහි පැළඳි ආභරණයකි) |
| සක් සැපත් | - සක් දෙව් සැපත/ දෙව්ලොව සක් දෙව් වීමේ සැපත |

## අභ්‍යාස

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

01. ඒ ඒ අවස්ථාවට ගැළපෙන ලෙස චරිත වෙනස් කිරීමට කතුවරයා තුළ වූ ප්‍රතිභාව ගුත්තිල කාව්‍යය වඩාත් රසවත් වන්නට හේතු වී ඇත. උදාහරණ දෙමින් පැහැදිලි කරන්න.

02. ගුත්තිල ජාතක කථාව කාව්‍යයට නැඟීමේ දී වර්තමාන සරල වහර ද කාව්‍යමය වියත් වහර ද මනාව ගළපා ගන්නට කවියා සමත් වී ඇති බව උදාහරණ දෙමින් පැහැදිලි කරන්න.

03. තමාට තමා අමතක වන තරමට ම වීණා වාදනය මිහිරි බව පැවසීමට කතුවරයා කාව්‍ය සංකල්පනා යොදා ගත් ආකාරය අපූරු ය. උදාහරණ දෙමින් උක්ත කියමන පැහැදිලි කරන්න.

04. 'අර්ථය තීව්‍ර වන්නේ ශබ්දය ඒ හා ගැළපෙන ලෙස අනුගත කළ හොත් පමණි.' ගුත්තිල කාව්‍යය මේ සඳහා හොඳ ම නිදසුනකි. පැහැදිලි කරන්න.

05. පසෙකින් සුමධුර වීණා නාදයකි. දෙව්ලියෝ මනහර රංගනයක යෙදෙති. මේ සිදුවීම් පාඨකයා ඉදිරියේ ජීවමාන කරමින් අවස්ථා නිරූපණය කිරීමට කතුහිමියන් යොදා ගත් කාව්‍යෝක්ති උදාහරණ දෙමින් පැහැදිලි කරන්න.

06. 'වෑත්තෑවේ හිමියන්ගේ ප්‍රතිභාපූර්ණ කවිත්වය විදහාපාන කැටපත ගුත්තිල කාව්‍යය යි.' උදාහරණ දෙමින් සාකච්ඡා කරන්න.

07. 'වීණා වාදනයේ මිහිරියාව ධ්වනිතාර්ථවත් වන්නේ අවට රැස් වූවන්ගේ ස්වභාවය වර්ණනා කිරීමෙනි.' උදාහරණ දෙමින් මේ කියමන සනාථ කරන්න.

08. 'සක්දෙව් රජුගේ උපකාරයෙන් ගුත්තිල ගාන්ධර්වයා තම ගෝලයා පරාජය කළේ ය.' අදාළ සිදුවීම් උදාහරණ ලෙස ගෙන ඔබේ අදහස පැහැදිලි කරන්න.

# 3 භානා හීය පානා අඬහැරෙන් දැනේ

කිසි යම් භාෂාවක් හා බැඳුණු සාහිත්‍යය ඒ ඒ භාෂාව භාවිත කරන සමාජයේ සුලමුල කියාපායි. පොතපත කියැවීමෙන් ලත් ශික්ෂණයෙන් යුතු වූ වියත් පඬිවරුන් විසින් ලියන ලද සම්භාව්‍ය ගණයේ සාහිත්‍යයකුත්, ජනයා අතරේ ම ඇති වී ජනයා අතරේ ම ආරක්‍ෂා වී, පැවත එන තවත් ජන කාව්‍ය සාහිත්‍යයකුත් සිංහල භාෂාව හා බැඳී පවතී. ශිෂ්ට සම්පන්න මිනිසාගේ හැඟීම් හා ඔවුන්ගේ දිවි පෙවෙත ඇසුරෙන් නිර්මාණය වුණු ජන කවිය ඉතා ඈතට ගිය ඉතිහාසයක් ඇත්තකි.

අනුරාධපුර යුගයේ ලියැවුණු සුත්ත නිපාතඅට්ඨ කථාව වන පරමත්ථ ජෝතිකාවේ එන පාඨයක අදහස මෙසේ ය. 'මඟ අසබඩ කෙතක් රකිනා සිංහල කාන්තාවක ජාති, ජරා, මරණ ආදිය පිළිබඳව සිංහල බසින් කී ගීයක් අසා සඟ සැටනමක් රහත් වූහ' මෙයින් කියැවෙන්නේ ජන කවිය අනුරාධපුර සමය දක්වා ගිය දිගු ඉතිහාසයක් ඇති සාහිත්‍යයක් බව යි.

මිනිස් සන්තානය තුළ පවතින දුක, කනගාටුව, සතුට, කලකිරීම, කාන්සිය වැනි හැඟීම් හා බැඳුණු ජන කවිය, එම භාවයන් ප්‍රකාශනය කිරීම සඳහා නිතැතින් ම නිර්මාණය වූවකි. ඒ නිසා ම කාලයෙන් කාලයට, ප්‍රදේශයෙන් ප්‍රදේශයට ජන කවියේ වෙනස්කම් දැකිය හැකි ය. පොත්පත්වල ලියැවීමට පෙර මේ ජන කවි පැවතුණේ ඒවා භාවිත කළ මිනිසුන්ගේ මතකයේ ය. ජන කවියට කතුවරයෙක් නැත. මේ සාහිත්‍යාංගය කවරකු විසින් හෝ නිර්මාණය කරන ලදුව, කාලයක් තිස්සේ භාවිත වීමෙන් ජනතාවගේ පොදු අයිතියක් බවට පත්වූවකි.

ගොයම් කවි, නෙළුම් කවි, කුරක්කන් කවි, පැල් කවි හා කමත් කවි වැනි ජන කවි කෘෂිකර්මය ආශ්‍රිත සී සෑම, වැපිරීම, පැළ නෙළුම, ගොයම් කැපීම හා මැඩවීම වැනි කටයුතු හා බැඳිණි. විවිධ රැකියාවල යෙදෙන්නෝ තම වෙහෙස නිවා ගැනීම සඳහා පතල් කවි, ගැල් කවි, බඹර කවි හා පාරු කවි ගැයූහ. කෙළි සෙල්ලම් ඇසුරෙන් ලී කෙළි, ඔළිඳ කෙළි, කළ ගෙඩි නැටුම්, ඔංචිලි වාරම් වැනි කවි නිර්මාණය විය. නැළවිලි ගීයෙන් නැළවී සැනසුණු දරුවා උපදේශාත්මක කවි අසා ජීවිතය හැඩගස්වා ගත්තේ ය. ආගමික විශ්වාස හා ඇදහිලි ගැමි ජනයා අතර සුලබ ය. ස්වාභාවික විපත්, ගොවිතැන් පාළු වීම් හා වසංගත ආදිය නිවාරණය කර ගැනීම සඳහා බලි තොවිල් හා ශාන්ති කර්මවල යෙදුණු ජනයා දෙවියන් උදෙසා පුදපූජා පැවැත්වූහ. එහි දී ද දෙවොල් මඩු, ගම්මඩු හා කෝල්මුර කවි ගායනා කළහ. විනෝදය හා ශෘංගාරය මුසු වුණු ජන කවි ද වෙයි. ප්‍රේමය හා ආදරය ප්‍රකාශ කිරීමට ද ජන කවිය යොදා ගත් අවස්ථා බොහෝ ය. තේරවිලි කවි, විවේකය දැනුවත්කමින් හා විනෝදයෙන් ගත කිරීම සඳහා යොදා ගත් ජන කවි විශේෂයකි.

ජීවිතයේ දී විඳින්නට සිදු වන අපමණ දුක්ඛ දෝමනස්සයන්, බලාපොරොත්තු කඩවීම්, අනපේක්ෂිත ව්‍යසනයන්ට පත්වීම් වැනි දුක්බර අවස්ථා ද උපත, රංකිරි කටගෑම, ගුරු ගෙදර යාම, වැඩිවිය පැමිණීම, විවාහය හා මරණය වැනි ජීවිතයේ විවිධ අවස්ථා ද ජන කවියට වස්තු විෂය විය.

සිංහල ජන කවිය තුළ දැකිය හැකි විශේෂ ලක්ෂණ කීපයකි. එදිනෙදා ජීවිතය හා බැඳුණු සිදුවීම් හා හැඟීම් ජන කවියේ අන්තර්ගතය වේ. එමෙන් ම සරල උපමා හා රූපක ආදියෙන් රසවත් වී ඇත. භාව පූර්ණ වාග්මාලාව ජන කවියාට සහජයෙන් උරුම වූවකි.

ජන කවිය විවිධ විරිත්වලින් රස ගැන්වේ. ඒ ඒ කාර්යයේ රිද්මය හා බැඳුණු විරිත ජන කවියේ ප්‍රධාන ලක්ෂණයකි. නැළවිලි ගී ගැයෙන්නේ ඉතා ම ලයාන්විත වූ නාද මාලාවකිනි. ඔරු හා පාරු පැදවීමේ දී තොටියා වෙහෙස වන ආකාරය රිද්මයානුකූලව පාරු කවියේ විරිත හා බැඳේ. ගොයම් කවි හා නෙළුම් කවි, ඒ ඒ කාර්යයන්ගේ රටාව අනුව ගැයෙයි. ඔංචිල්ලාව පැද්දෙන තාලයට ඔංචිලි වාරම් කවි ගායනා කෙරේ.

පොදු ජනයා අතරේ භාවිත වන සරල ජීවන රටාව හා බැඳුණු සිංහල ජන කවියේ විශේෂිත අංගයක් වූ 'දැනමුතුකමට කී කවි' හෙවත් 'උපදෙස් දීම සඳහා කී කවි' ගණයේ ලා සැලකෙන ජන කවි කීපයක් මෙහි දැක්වේ. මේ උපදෙස් කවි සෑම දේශයකට ම ඔබින, සෑම කාලයකට ම ගැළපෙන ඒවා ය. ඕනෑ ම තරාතිරමක, ඕනෑ ම වයසක පසු වන කෙනෙකුගේ ජීවිතය හැඩ ගස්වා ගැනීමට ඒවායින් ලබා දෙන උපදෙස්, උපකාර වේ.

ගසට කෙටුම ගස මුල පැයුමෙන් දනේ
මිනිහා නොමිනිහා යන කඩිසරෙන් දනේ
අමුතු බත් දීම අත ඇල්ලුමෙන් දනේ
හානා හීය පානා අඬහැරෙන් දනේ

තනිත දෙහිත කාලෙට පින් කෙරුම යුත
වහිත කලට කුරින් විල්වලින් එත
බහිත දියෙන් දෝතක් මුත් ගතොත් ඇත
පතිත රිලවුංට ඉනිමං කමක් නැත

වරද පෙනෙන තරමට වැරදුණා නොවේ
වරද ඇතත් නිකරුණේ වැඩ කළා නොවේ
වරද පෙනෙති වැඩ නූගත් අයට ලොවේ
වරද නැති කෙනෙක් නැත සකිය මේ ලොවේ

ගොඩැල්ලේ තරම දැනගෙන ළිඳ කපනු
බොරැල්ලේ තරම දැනගෙන උඩ පනිනු
කඩුල්ලේ තරම දැනගෙන කඳ බඳිනු
තමුන්ගේ තරම දැනගෙන කල් හරිනු

ඇස නැති දා පොත ගත්තේ කියන්ට ද
දත නැති දා උක් දඬු ගිනි තපින්ට ද
වෙර නැති දා ගහගත්තේ දින්නට ද
යුද ඇති දා නැති කග කොස් කොටන්ට ද

එක් උන දාට උක් දණ්ඩේ පැණි සේමා
වෙන් උන දාට යක් දෙබරේ වද සේමා
ගොසින් ගොසින් කටු අත්තේ අග සේමා
ඉතින් ළඳේ කරිවිල තිබ්බටු සේමා

රන් විමනේ සිටි මුත් දුක නැති වෙද්ද
පැණි මීයේ කෑ මුත් බඩ ගිනි නැද්ද
මිණි බරණින් සැදූ මුත් ගත නොදිරද්ද
පැණිවරකා ගසටත් හෙණ නොවදිද්ද

අඳුරු කරුවලේ පඳුරට මුවා වෙලා
විදුලි එළිය දැක ගිනිහුළ දියේ හෙලා
අනුන් ලියන් දැක තම ලියට තල තලා
දුවන මුවන් දැක නොදමන් නෙළුව පලා

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| කඩිසරෙන් | - ගමනේ ස්වරූපයෙන් |
| අඬහැරෙන් | - සී සාන ගවයා දිරිමත් කිරීමට නගන ශබ්දය |
| කමක් නැත | - වැඩක් නැත/ප්‍රයෝජනයක් නැත |
| සකිය | - යහළුවේ/මිතුරේ |
| ගොඩැල්ල | - උස් ගොඩබිම් කඩ |
| බොරැල්ල | - ගල් බොරළු |
| කග | - කඩුව |
| යක් දෙබරේ | - බිම සාදන දෙබරයක් (එහි වසන දෙබරුන් බොහෝ විෂ සහිත බව ගැමි ජනයාගේ විශ්වාසයයි.) |
| ගිනි හුළ | - ගමන බිමනේ දී ආලෝකය ලබා ගැනීම සඳහා පොල් අතු, හනසු ආදියෙන් තනා ගන්නා පන්දම/හුළු අත්ත |

## අභ්‍යාස

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.**

01. උදාහරණ ගෙනහැර පාමින් අපූරු ආකාරයකට උපදෙස් දෙන්නට ජන කවියා තුළ වූ හැකියාව පද්‍ය පන්තිය ඇසුරෙන් විමසන්න.

02. යහපත් ජීවිතයක් සඳහා ජන කවියෙන් ලද හැකි ආභාසය උදාහරණ දෙමින් පැහැදිලි කරන්න.

03. ජන කවියා තම නිර්මාණය රසවත් කිරීමෙහි ලා කාව්‍යාලංකාර යොදා ගෙන ඇති ආකාරය උදාහරණ මගින් පහදන්න.

04. ජන කවියේ දැකිය හැකි සුවිශේෂ ලක්ෂණ, උපදෙස් කවි තුළ ද දැකිය හැකි ය. උදාහරණ දෙමින් පැහැදිලි කරන්න.

05. 'අවවාද අනුශාසනා දීමේ දී කවියා ඉතා සංයමයෙන් එම කාර්යය ඉටු කරන්නට වග බලා ගනී' මේ ප්‍රකාශයට ඔබ එකඟ වන්නේ ද'යි හේතු සහිතව විස්තර කරන්න.

# 4 බැද්දේගම

ලෙනාඩ් වුල්ෆ් (1880 - 1969)



සිංහල ජන ජීවිතය ගැන ඉංග්‍රීසි භාෂාවෙන් ලියැවුණු Village in the Jungle නම් සුවිශේෂ නවකතාවේ කතුවරයා ලෙනාඩ් වුල්ෆ් මහතා ය.

1880 වර්ෂයේ නොවැම්බර් මස 25 වැනි දින ලන්ඩනයේ කෙන්සිටන් (Kensington) නුවර, දරුවන් දස දෙනකුගෙන් යුතු පවුලක තුන්වැනියාව ලෙනාඩ් සිඩ්නි වුල්ෆ් දරුවා උපත ලැබී ය. ලන්ඩන්හි ශාන්ත පාවුලු විද්‍යාලය, කේම්බ්‍රිජ්හි ට්‍රිනිටි විද්‍යාලය යන විද්‍යාලවලින් මූලික අධ්‍යාපනය ලද ඔහු 1902 වර්ෂයේ දී උපාධිය හිමි කර ගත්තේ ය. 1904 ඔක්තෝබර් මස ලංකාවට පැමිණි වුල්ෆ් මහතා මුලින් ම යාපනය ප්‍රදේශයේ සිවිල් නිලධාරියකු ලෙස සිය රාජකාරිය ආරම්භ කළේ ය. අනතුරුව නුවර ප්‍රදේශයේ ද රාජකාරි කළ එතුමා 1908 දී ආණ්ඩුවේ සහකාර ඒජන්තවරයා ලෙස දකුණු පළාතේ රාජකාරි භාර ගත්තේ ය. වුල්ෆ් මහතාගේ පාලන දිස්ත්‍රික්කය වූයේ හම්බන්තොට යි. තම සේවා කාලය තුළ දී ලත් අද්දැකීම් රැසක් පොදි බැඳ ගෙන 1911 දී එතුමා නැවත එංගලන්තයට ගියේ ය. 1912 දී ‘ඇඩ්ලින් වර්ජිනියා ස්ටෙෆන්’ (Adline Virginia Stephen) මෙනෙවිය සමග විවාහ විය. වුල්ෆ් මහතා ලංකාවේ දී තමා ලත් අත්දැකීම් පාදක කර ගෙන 1913 දී අපූරු නවකතාවක් ලිව්වේ ය. ඒ ‘විලේජ් ඉන් ද ජංගල්’ (Village in the Jungle) නම් කෘතිය යි.

1960 දී නැවත ශ්‍රී ලංකාවට පැමිණි වුල්ෆ් මහතා මෙරට වැසියන් විසින් උණුසුම් ලෙස පිළිගනු ලැබීමත් ඔවුන්ට එතරම් කාලයක් තමා ගැන මතක තිබීමත් පිළිබඳව පුදුමයට පත් වන බව පවසා ඇත. ඔහු 1969 අගෝස්තු මස 14 වැනි දින එංගලන්තයේ ‘රොඩ්මෙල්හි’ දී (Rodmell) මෙලොවින් සමු ගත්තේ ය. ‘Monk's house’ නම් ස්ථානයේ එතුමා වෙනුවෙන් තැනුණු ලෝකඩ ස්මාරකය වෙයි.

ලෙනාඩ් වුල්ෆ් මහතාට හම්බන්තොට ප්‍රදේශයේ ජීවත් වෙමින් එහි විසූ ගැමියාගේ සිතුම් පැතුම් හා චර්යා රටාව මනා ව අධ්‍යයනය කර ඇත. දුප්පත් අහිංසක අසරණ ගැමියාගේ දුඃඛිත භාවය හා කුටෝපක්‍රමවලට හසු වී ක්‍රමයෙන් විනාශ වන ඔවුන්ගේ ජීවිත සිළිඳු හා ඔහුගේ පවුල ඇසුරෙන් ප්‍රතිනිර්මාණය කරන්නට ගත් උත්සාහයක් ලෙස Village in the Jungle කෘතිය හැඳින්විය හැකි ය. වරෙක සුන්දරව දිස් වන මහ වනය නිරන්තරයෙන් ම බියකරු බව ම රැඳෙන අමුතු ම තැනක් ලෙස එම නවකතාවෙන් හෙළිදරව් කෙරේ.

මෙම නවකතාව 'බැද්දේගම' නමින් සිංහලයට අනුවර්තනය කළේ, ප්‍රවීණ ගත් කතුවරයකු වූ ඒ. පී. ගුණරත්න මහතා ය. මුල් කෘතියෙහි ජීවය රඳවා ගන්නට සමත් වීම නිසා අපට 'බැද්දේගම' බෙහෙවින් සමීප ලෙස රසවිඳින්නට හැකියාව ලැබී තිබේ.

'බැද්දේගම' වැනි වූ වනගත පරිසරය පසුබිම් කර ගත් තවත් කතා රැසක් සිංහලයට නගා සිංහල පාඨකයා අතර ජනප්‍රිය වූ ගුණරත්න මහතා, චූ වෙං එන් විසින් රචිත 'The Monkey' නමැති ග්‍රන්ථය 'වානරයා' නමින් ද ආර්. එල්. ස්පිට්ල් විසින් රචිත 'Savage Sanctuary' නම් ග්‍රන්ථය 'වන සරණ' නමින් ද, 'Vanished Trails' නමැති ග්‍රන්ථය 'මැකී ගිය දඩමං' නමින් ද 'Where the white Sambhur roams' ග්‍රන්ථය 'සුදු ගෝනා' නමින් ද පරිවර්තනය කළේ ය.

සිලිඳු සිය සොහොයුරිය වන කර්ලිනාහාමි ද හින්නිහාමි, පුංචිමැණිකා යන දියණියන් ද සමග බැද්දේගම නමැති ගමෙහි වෙසෙන දඩයක්කරුවෙකි. එක් දියණියක වන හින්නිහාමි, ගම්මුන්ගේ මිථ්‍යා විශ්වාසයක් හේතුවෙන් මරණයට ගොදුරු වන අතර පුංචිමැණිකා ගමේ ආරච්චිගේ මස්සිනා වන බබුන් සමග විවාහ වෙයි. එම විවාහයට ආරච්චිගේ පවුලේ අය විරුද්ධ වෙති. ඒ අතරතුර ගමට එන ප්‍රනාන්දු නමැති වෙළෙන්දා, පුංචිමැණිකා සිය වසඟයට ගැනීමට උත්සාහ කරයි. සිය ප්‍රයත්නය අසාර්ථක වූ තැන ආරච්චි සමග එක්ව බබුන් බොරු නඩුවක පටලවා සිර ගෙයට යැවීමට ඔහු කටයුතු කරයි. මේ සියල්ලෙන් කම්පනයට පත් වන සිලිඳු, ආරච්චිට සහ ප්‍රනාන්දු මුදලාලිට වෙඩි තබා ඝාතනය කර මුලාදෑනීන්ට භාර වෙයි. එහි දී ඔහුට ජීවිතාන්තය දක්වා සිර දඬුවම් නියම වෙයි. මෙහි ඇතුළත් වන නමවෙනි පරිච්ඡේදය බැද්දේගම නවකතාවේ ඊළඟ අදියර යි.

## බැද්දේගම

### නවවෙනි පරිච්ඡේදය

ගමේ පැවැත්වුණ මහෙස්ත්‍රාත් විභාගයේ දී පුංචිමැණිකා ද, එහි සිටි නමුත් පොලිස් භටයා සමග යද්දී කතා කළාට පසු සිලිඳු හා කතා කිරීමට අවසරයක් ඇට නො ලැබිණි. මහෙස්ත්‍රාත්තුමාත් දිසා මහත්මයාත් සිරකරුවාත් පසුව දා හිමිදිරියේ ම කඹුරුපිටිය බලා පිටත් ව ගොස් සිටි හෙයින් පුංචිමැණිකා හා ගම්මු අවදි වන විට බැද්දේගම පුරුදු නිදිබර උදාසීන ස්වභාවය ම ඉසුළුවා ය. සිලිඳුගේ අණට කීකරුව පුළුවන් උපක්‍රමයකින් බබුන් ආපසු එනතුරු කර්ලිනාහාමිත් සමග ගෙදර බලා සිටිනවා විනා පුංචිමැණිකා විසින් කළ හැකි අන් කිසිවක් නො වී ය. බබුන් සිර ගෙට නියම වීමත් ඇගේ පියා ඈට නැති වීමත්, පියාගේ ඉරණම පිළිබඳව ඇගේ සිතේ පැවති බියත් නිතර ඇගේ දුක හා දොම්නස ද දියුණු කෙළේ ය. තමාගේ අනාගතය පිළිබඳ බියක් ද ඈ තුළ පැන නැග එන්ට වනි. ජීවත් වන ක්‍රමයක්, ඊට පිළිවෙළ යොදා ගැනීමේ උපක්‍රමයක් ඈට සිතා ගැනීම පවා උගහට වූවකි. බබුන් ආපසු ගමට පැමිණෙන තුරු මාස හයක් ගත කරන්නේ කෙසේ ද යන්න නියම වශයෙන් ඈට සිතා ගත නො හැකි විය. පුංචිමැණිකාට හා කර්ලිනාහාමිටත් වේලක්

ඇර වේලක් කා මාස හයක් ගත කර ගැනීමට සෑහෙන තරම් ධාන්‍යයක් වත් ගෙයි ඉතිරි වී නො තිබුණේ ය. තමා ඉදිරියෙහි මැවී තුබුණ භය ජනක අවිනිශ්චිත අඳුරු අනාගතය විසින් ඈ නො සන්සුන් බවට පත් කරන ලද්දී ය. මෙය ඈට ඇති වූ තවත් අමුතු බියකි. මෙවැනි කරුණු කීපයකින් බියට පත් වූ පුංචිමැණිකා දවසෙන් වැඩි කාලයක් ගත කළේ මේ බියකරු සිතිවිලිවල පැටලී ගෙයි පිලේ හිඳ නිකටට අත තබාගත් ගමන් ය. කුඩා කල සිලිඳු කී වනයෙහි මං මුළා වූ දඬයක්කාරයින්ගේ කතා ඈට සිහි විය. ඔවුන් එදා බියවන්ට ඇත්තේ ද අද තමාට ඇති වී තිබෙන බිය වැනි බියකිනැයි ඈට සිතිණ. එදා ඔවුන් මෙන් අද තමා ද මහ වන මැද තනි වී සිටින බවත් එදා ඔවුන්ට මෙන් ම අද තමාට ද මග වැරදී තිබෙන සැටිත් ඈ දුටුවා ය. එහෙයින් දැන් ඈට ද කොයි මගක ගියත් එක ය.

දැන් කර්ලිනාහාමිගේ වයස අවුරුදු පණහක් පමණ වෙයි. කැලෑබද ගමක ගැහැනියකට විශේෂයෙන් වැන්දඹු ගැහැනියකට- අවුරුදු පණහ ලොකු වයසකි. ජීවිතයේ අවසාන භාගකට බොහෝ ළං වූ වයසකි. අව්ව හා සුළඟත් වෙහෙසත් බඩගින්නත් ලෙඩ දුකත් ශරීර ශක්තිය මෙන් ම මානසික ශක්තිය ද උරා බොයි. ඇගේ සම ඇටයට ඇලී රැලි වැටී ගියේ ය. ළැම වියැළී ගොසින. මේ ගම්වල ගැහැනියක් අවුරුදු තිහ හතළිහ වන විටත් මැහැල්ලකි. මෙහි කිසිම මිනිහෙක් හෝ ගැහැනියක් හෝ පරමායුෂ වැළඳීමෙහි සමත් නො වේ. කර්ලිනාහාමිගේ වයස අසූවට වඩා අනූවට කිට්ටු ද කිය කියා හෝ අනූවට වඩා සියයට කිට්ටු ද කියා හෝ කීම උගහට වී ය. ඈ එතරම් මහලු ය. කැලෑ ජීවිතයෙහි ලකුණු ඇගේ ශරීරයෙහි ඇඳී තිබුණේ ය. නිරිත දිග තද සුළඟට ඇඹරවී ඇටුවන් බැහී ගිය ගහක් මෙන් ඇගේ ශරීරය ද නැමී ඇඹරී තිබිණ. මුහුණේත් සිහින්ව ගිය අත්පාවලත් සම ගසක පොත්තක් මෙන් ගොරහැඩිව රැලි වැටී ඇටයට ඇලී ගියේ ය. කුඹුක් වැනි ගස්වල පිට පොත්ත තැනින් තැන ඉගිලී සුදුව යන්නාක් මෙන් ඇගේ සමේ ද තැනින් තැන දුඹුරුවන් සුදු පුල්ලි නැගී තිබිණ. කම්මුල්වල මස දිය වී සම ඇකිළී ගොසිනි. දත් නැති කට ඇතුළට වැදුණු දෙතොල නාසයට යටින් පෙනුණේ කෙළවලින් තෙමුණු රේඛාවක් ලෙසිනි. අප්‍රාණික පටල සහිත දෙනෙත රැලි වැටුණ නළල් තලයට යටින් සිය ගණන් රැලි අතර ගිලී තිබිණ. දෙනෙත අන්ධව නො තිබුණ නමුත් පෙනීමක් නැති සේ එය මැල වී ගොසිනි. සිත මැල වී යාම නිසා ය. ශරීරයට පෙර සිත නැති වී යාම සාමාන්‍යයෙන් කැලෑබද ගම්වල ගැහැනුන් අතර බහුලව දකින්නට ලැබෙන ධර්මතාවකි. ඒකාකාර ජීවිතයත්, දැඩි උණුසුම් වාතය සමග කෙළවරක් නැති ගසුත්, කෙළවරක් නැති කම්කටොලුත් හමුවේ ඔවුන්ගේ චේතනා ශක්තියත්, කල්පනා ශක්තියත්, වේදනා ශක්තියත් විලීන ව මිය යන්නේ ය. මෙය සිදුවන්නේ, හොඳ දේශගුණයන් ඇති රටක පිරිමින් පිරිපුන් වූ ද ගෑනුන් දරුවන් උසුලන්නා වූ ද වයසක ය. පිරිමි මේ අවස්ථාවේ සිටිය දී පවා හේන්වල කුඩා කැලය එළි කර දීම, ධාන්‍ය වැපිරීම වැනි වැඩට උදව්වට යති. එහෙත් ඔවුන් ඒ වැඩ කරන්නේ ආසාවකින් හෝ සිහියකින් නො වේ. ගව මහිසාදීන් හෝ යන්ත්‍රසූත්‍රාදියක් ක්‍රියා කරන්නාක් හෝ මෙනි. ඔවුහු එවැනි කටයුත්තක යෙදී සිට එය අවසන් ව ආපසු ගෙදර ආ විට මිදුලට වී අඳුරු දෙනෙත් විදහා හිස් බැල්මෙන් බලා ගත් අත බලා ගෙන අතක් පයක් නො සොල්වා පැය ගණන් එක තැනකට වී හිඳිති. මේ අතර ඔවුන් පවත්වන එක ම ඉරියව්ව නම් සිහින් දිග අතක් බඳ වට යවා වඳුරකු මෙන් පිට කැසීමක් පමණකි. ගැහැනු ද කළ රැගෙන දිය ගෙන ඒමට මඩ සහිත දිය වළවල් කරා යති. ගෙවල ආහාර පිස දෙති. කෙළින් කටින් සිටින්නට පුළුවන්කම තිබෙන තුරු ඔවුහු තමන්ගේ කොටස ඉටු කළ යුත්තාහු ය.

නිතර පාහේ තමාට ම යම් දේ කොඳුරා ගන්නා ඔවුහු කෑම කති, නිදා ගිනිති. කිසිවකු සමග කතා නො කරති. එසේ ම අන් හැම දෙනා ද උන් හා කතා නො කරති. උන් ජීවත් වනුයේ වේදනාව පවා හොඳහැටි නො දැනෙන ජීවිතයේ සන්ධ්‍යා සේයාවේ ය.

කර්ලිනාහාමි ද මේ සන්ධ්‍යා සේයාවට ඉක්මනින් වැටී ගත්තී ය. වනයෙහි වැඩීමත් පිරිහීමත් එකසේ වේගවත් ය. සිලිඳුට හා බබුන්ටත් විරුද්ධව නඩු විභාගය හෝ ආරච්චිත් ප්‍රනාන්දුත් මැරීම හෝ සිලිඳුගේ නැති වීම හෝ එතරම් ඇගේ සැලකිල්ලට භාජන නො වී ය. විපත්ති ගණනාවක් ම සිදු වීගන යන බව සිහිනයකින් මෙන් ඇට පෙනී ගිය නමුත්, කරුණු වශයෙන් ඒවා සලකා ගැනීමට ඇගේ පටල සහිත මොළය ශක්තිමත් වූයේ නැති. ඈ කෙළේ තමාට ම තොල් මතුරා ගනිමින් සිරිත් පරිදි-ඉවීම් පිසීම්වලට වැවෙන් දිය ගෙනවුත් දීම ය. ඈ පුංචිමැණිකා සමග කතා නොකළා ය. ඈ හා කතා කිරීම හෝ යම් යම් දේ ඇගෙන් විචාරීම නිෂ්ඵල වැඩක් බව හොඳ හැටි දැනගත් පුංචිමැණිකා ද කර්ලිනා සමග කිසිවක් නො දෙඩුවා ය.

සිලිඳු මරණීය දණ්ඩනයට පත් කිරීමෙන් මාසයකට පසු පළමු පැවති ස්වාභාවික තත්ත්වයට ගම පැමිණි බව බැලූ බැල්මට පෙනිණ. ඇත්ත වශයෙන් එහි ඇති ව තුබුණේ ලොකු ම වෙනසකි. එය කුඩා ගමකි-ක්‍රමයෙන් පිරිහී ගොස් අවටින් තෙරපා ගෙන එන මහ බැද්දට බත් වී යන වනගත කුඩා ගම්වලින් එකකි. එක පහරකට එක දවසකින් එහි තුබුණු ගෙවල් හයෙන් එකක් නැති විය. විසිපස් දෙනෙක් වූ පිරිසෙන් හත් දෙනෙක් ම නැති වූහ. ආරච්චිරාළගේ මරණයෙන් පසුව ආරච්චි හාමිනේ-නැන්චොහාමි-ගම හැර යන්ට තීරණය කර ගත්තා ය. හේන් වැඩ කිරීමට තරම් නො වැඩුණු දරුවන් සමග තව ඉදිරියටත් බැද්දේගම වාසය කිරීමට ඈට පිළිසරණයක් නැත. ආරච්චිගේ නෑදෑයන් පදිංචි ව ඉන්නා කොටගොඩ නම් හොඳට වී කුඹුරු හා පොල් වතු ඇති, අවුරුදු පතා හොඳ හැටි වැස්ස පවතින සැපවත් ගමකි. තමාට කොටගොඩ නෑදෑයන්ගෙන් ඉඩම් කෑල්ලක් ලබා ගත හැකි බවත් එහිදී දූ දරුවන්ට හිර හිදලන් ගැනීම වඩා හොඳින් කර ගත හැකි බවත් ඈ දැන සිටියා ය. ආරච්චි මායියා හැම දමත් කීවේ මේ ගම කිසි කලක කිසි කෙනෙකුට වගතුවක් නොවන සාප ලත් ගමක් බව ය. ඈ කෝරළේ මහත්මයාගෙන් තාවකාලිකව ඉල්ලා ගත් කරත්තයක තමා සතු බඩු මුට්ටු ටිකත් පටවා ගෙන ළමා ළපටිනුත් කැටුව කොටගොඩ බලා පිටත් වූවා ය. ආරච්චිගේ ගෙයි වාසය කරන්ට කෙනකු නොවූයෙන් එය කැලයට ඇරිණ. අපල ගෙන දෙන අසුබ නිමිති ඇත්තේ යයි ද අවතාර අඩිකෝඩවලින් පිරුණේ යයි ද ප්‍රසිද්ධව ගිය මේ ගෙයි වාසයට ඒමට තරම් සැහැසි වූ කිසිවෙක් ගමේ නො වූහ. මේ ගෙය වනයට විරුද්ධව දිග සටනක යෙදී සිටින සේ පෙනිණ. මුලින් ම වැට අද්දර කුඩා ගස් හා පඳුරු ඝනව වැඩී වැට යට කර ගත්තේ ය. දෙවනු ව අළු පැහැති කොළ හා දම් පැහැති මල් ඇති වරා පඳුරු හා මානා පඳුරු ද, දිග තියුණු කටු ඇති පතොක් පඳුරු ද වැට අද්දරින් රිංගා අවුත් මිදුලටත් ගෙයි බිත්තිවලටත් හා දොරකඩටත් ළං විය. ආරච්චි ගෙදර බිත්ති සදා තිබුණේ ගමේ අනික් ගෙවල බිත්තිවලට වඩා ගනකමටත් ශක්තියටත් ය. ඊසාන දිගින් එන තද සුළඟට ගසා ගෙන යන්ට පොල් අතු එහි නො වී ය. වහළට උළු සෙවිලි කර තිබුණ හෙයිනි. ඊසාන දිග සුළඟ හා වැස්ස ද අවුරුදු දෙකක් තිස්සේ උත්සාහ කොටත් ගෙයි මැටි බිත්තිවල සවිය මැඩලන්නට සමත් නො වී ය. බිත්තිවල තැනින් තැන මැටි ඇද වැටීමෙන් වරිච්චි කෝටු තෙත් සුළඟට අසුවීම නිසා ඉන් මුල් ඇද දලු ලියලා

රිකිලි ලා වැඩෙන්නට වන. කුරුල්ලන් ගෙනවුත් දැමුවා වූ ද සුළඟින් ගසාගන ආවා වූ ද ඇට නිසා ගෙයි වහලේ උළු අතර ලොකු කුඩා පඳුරු හැදෙන්නට පටන් ගති. ලොකු දළුක් පඳුරක් වහල මත වැටී උළු එහා මෙහා කරමින් මුල් ඇදුණේ ය. බිත්ති අතර කැලය වැඩී ගෙය ඔබා ගත්තෙන් බිත්ති බිඳ වැටී වහල බිමට පාත් විය. කුඩා රතු උළු ගොඩ තණ හා වල් පඳුරුවලින් වසා ගත්තේ ය. බිත්තිවල වරිච්චි කෝටු විශාල පඳුරු බවට වැඩුණේ ය. ලොකු ගස් ද මතුවන්ට පටන් ගති. තුන් වෙනි වැස්ස අවසානයේ දී මුළු වත්තේත් ගෙයිත් කැලයේත් වෙනසක් නොපෑ ය.

ආරච්චිගේ ගෙය කැලයට යාම කැලය ගම මැදට කඩා පැනීමක් මෙන් වී. මීට පෙර කැලයට හැරුණේ ගමේ ඒ මේ කෙළවරවල තුබුණ ගෙවල් වූ හෙයින් ගම කැලය මැදට රිංගා ඒමක් එයින් වූයේ නැති. වූයේ ටිකින් ටික ගමට හාත්පසින් ගම කුඩා වීම පමණකි. එහෙත් ආරච්චිගේ ගෙදරට කැලය කඩා වැදීමෙන් වූයේ ගම දෙකකට බෙදී යාම ය. සිලිඳුගේ හා බස්තියන් අප්පුගේ ද ගෙවල් දෙක ගමේ අනික් ගෙවලින් වෙන් වූ බව දුටු ගම්මු තමන් ජීවත් වන්නේ විනාශ වේගන යන ගමක බව තේරුම් ගත්හ. මේ නැන්චොහාමි කල් තියා කීවකි. 'මේ ගම දැන් හොල්මන් අඩිකෝඩ පිරුණු යකුන් අරක් ගත් කාලකණ්නි ගමකි. ළමයින් හා මහල්ලන් ද නැසී යන්නාක් මෙන් ගමත් දැන් නැසී යයි. එහි දූන් ළමයි නූපදිත්. අවුරුදු දහයකින් මුළු ගම ම අලින්ට යනවාට කිසි ම සැකයක් නැත' යනු ඇගේ හැඟීම වී ය.

කෙසේ වුවත්, ගම විනාශ මුඛයෙහි ය යන හැඟීම ගමටත් ගම්මුන්ටත් දැනුණේ ඉතා හෙමිනි, ටිකින් ටික ය. මුලින් ම, මිනී මැරීම් නඩු විභාග කලබල මග හැරී ගිය විට ගම නැවතත් පෙර පුරුදු තත්ත්වයට වැටුණා සේ පෙනී ගියේ ය. වෙදරාළ ගමේ ආරච්චි හැටියට පත්කර ගන්නා ලදී. පුංචිමැණිකා, බබුන් එනතුරු මග බලා සිටියා ය. ගත වන දවස් ගණන ඇට ගණන් ගත නො හැකි විය. ඈ ඒ ගැන උත්සාහයක් ද නො කළා ය. සතියක් ඇට ගණනක් පමණකි. හය මාසයක් මාස ගණනකි. එහෙත් කාලය ගෙවී යන සැටි බලමින් ඈ සිටියේ බබුන් එන්නේ කවදා දැ යි පෙරමග බලා ගෙන ය. සිලිඳු එල්ලා මරනු නො ලැබූ බවත් ඒ වෙනුවට ජීවිතාන්තය දක්වා බන්ධනාගාරයට නියම කළ බවත් මේ අතර ඇට අසන්ට ලැබුණි. එහෙත් ඉන් ඇට සැනසිල්ලක් නො සැලසුණේ ය. ඇගේ ජීවිතයෙන් සිලිඳු සහමුලින් ම වෙන් වී ගොසිනි. තවත් ඔහුගේ දැකීමක් ද බලාපොරොත්තු විය නො හැකි ය. එහෙයින් ඔහු මළත් සිර ගෙදර ජීවිතාන්තය දක්වා සිටියත් ඇට එහි අමුත්තක් නැත.

පුංචිමැණිකා මාසයක් පාසා බබුන්ගේ ඊම බලාපොරොත්තුවෙන් සිටියා ය. නො කඩ බලාපොරොත්තුව නිසා ඈ තුළ තුබුණ බිය ක්‍රමයෙන් තුනී ව යන්ට වන. තමාගේත් කර්ලිනාහාමිගේත් ජීවත් වීම සඳහා ඈ විසින් බොහෝ වැඩ ද කළ යුතු විය. බිස්සේ තුබුණ කුරක්කන් ටික ඉක්මනින් ම ඉවරව ගිය හෙයින් කෑ හැකි කොළ වර්ග අල වර්ග හා පලතුරු ද සෙවීමට ඈ වනයට ගියා ය. හේන් වාරයට අනුන්ගේ හේන්වල බස්තියන් අප්පුගේ, බාලප්පුගේ හා පුංචිරාළගේ හේන්වල පවා ඈ වැඩ කළා ය. පින් තකා ඇයට දුන් කුරක්කන් අහුරු කීපයකට ඈ බොහෝ වෙහෙස වී වැඩ කළ යුතු වූවා ය. පුංචිමැණිකාගේ කලබල නැති ගතියත්, සාන්ත බව හා යටත් පහත් ගතියත් නිසා කවුරුත් ඈ ප්‍රිය කළ හ. පුංචිරාළ පවා කීවේ 'පුංචිමැණිකා මුවැත්තියක් වාගෙ යි' කියා ය. පිස්සු

වැද්දා කොටියෙකු යි කියන්නට පුරුදු වී සිටි ගම්මු පුංචිමැණිකා ගැන කීවේ, කොටියගෙ පැටියා මුවෙක් වෙලා කියා ය.

ක්‍රමයෙන් මාස ගණනක් ගත වී ගියාට පසු පුංචිමැණිකා දවස පටන් ගන්නට පුරුදු වූයේ අද බබුන් ගෙදර එයි යන බලාපොරොත්තුවෙනි. ඊළඟට බබුන් නො පැමිණි ම දවස ගෙවී ගිය බව දුටු ඈ සැබවින් ම මාස හයක් ගත වූයේ දැ යි දැන ගන්ට උත්සාහ කළා ය. අනික් ගම්මුන්ගෙන් ඈ ඒ ගැන විමසූ විට උන්ගෙන් සමහර කෙනෙක් බබුන් සිරයට ගොස් පස් මාසයකැ යි කීහ. තවත් සමහර කෙනෙක් හත් මාසයකැ යි ද කීහ. එකිනෙකා සමග කලහ කරමින් කෑ කෝ ගසමින් මාස ගණන හරියට තීරණය කර ගැනීමට සියල්ලෝ ම උත්සාහ කළහ. බබුන් හිරයට ගියේ සිංහල අවුරුද්දට මාස දෙකකට පෙර ය යි කී කල මාස දෙකකට නො ව එක මාසයකට පෙරය යි අනිකෙක් කීය. 'මාසෙකට කලින් වෙන්ඩ බෑ-මොකද, තව නැහැ හේන් කැපුවෙ, වැපුරුවා විතරක්නෙ දැන්. නෑ, නෑ, නෑ, තුන් මාසෙකට කලින් වෙන්ඩ ඕනෑ. මෝඩයා තුන්මාසයක්? මොකද කුරක්කන් අනූ දා වී වගේ ද? මෝඩයා? කවුද දන්නේ නෑ මෝඩයා,' 'කට වහපන්! කට වහපන්! කොහොමටත් බබුන් ගියේ අවුරුද්දට ඉස්සර වෙලා. අවුරුද්ද පහුවෙලත් දැන් මාස හයක් වෙනවා' 'මගේ හේන වපුරලා දැන් හරියට මාසය යි. කවුරුත් අහලා තියෙනව ද අවුරුද්ද පහුවෙලා මාස පහක් ගිහින් හේනක් වපුරන බවක්? අවුරුදු පහුවෙලා තව මාස තුනකට වැඩියෙ නැහැ.' පුංචිමැණිකා මේ බහු කතාවලට කන් දී පැය ගණන් සිට හැන්දෑවට කඹුරුපිටිය දෙසට වැටී ඇති පාර දිගේ ටිකක් දුර යයි. ඈ එසේ යන්නේ මග දී බබුන් හමු වේ ය යන ස්ථිර බලාපොරොත්තුව ඇතිව ය. සිලිඳු කීවාක් මෙන් බබුන්ගේ පැමිණීමෙන් පසු සියලු ම කරදර ඉවර වී ඔක්කොම හොඳ වෙයි යන බලාපොරොත්තුව ඇතිව ය. එහෙත් බබුන් නො පැමිණි ම දවස් ගතවන්ට ගතවන්ට ඇගේ විශ්වාසයත් බලාපොරොත්තුවත් දෙදරුම් කෑවේ ය. අනාගතය පිළිබඳ බියෙන් ඈ තැති ගැනිණ. හය මාසය නියම වශයෙන් ම ගත වී ගියේ යයි හැම දෙනා ම පිළිගන්නා දවස එළඹියේ ය. එහෙත් බබුන් නම් පැමිණියේ නැත. ඔහුට කිසියම් විපතක් සිද්දවෙන්ට ඇති. බාගවෙලාවට අසනීප වෙන්ටත් පුළුවනි. නැත්තම් හිර ගෙදර මුලාදෑනින්ට ඔහු මතක නැති වෙලා වෙන්ට පුළුවනි. හිර ගෙදර ගියා ම මිනිහකුට මොනවා වෙනවා ද කියන්ඩ බැහැ, යනාදිය එක එකාගේ කටින් කියවෙන්ට පටන් ගති.

අන්තිමට ඈ විමසුයේ අලුත් මුලාදැනියා වූ පුංචිරාළ වෙදරාළගෙනි. 'මිනිහා අනුමානයක් නෑ මැරෙන්ඩ ඇති'යි ඔහු කීය.

පුංචිමැණිකාගේ හද දෙදරුම් කෑවේ ය. ඈ තමාගේ ලොකු ඇස් දෙක, වෙදරාළගේ මුහුණට හෙළූ ගමන් නො සැලී සිටියා ය. 'ඔව්' මං හිතනවා මිනිහා මැරිලා යි කියල. හිර ගෙදරට යන මිනිස්සු උන් හිටි හැටියෙ මැරෙනවා. වැඩියෙමත් ඔය බබුන් වගේ හයි හත්තිය ඇති මිනිස්සු. ලෙඩට බේත් කොච්චර තිබුණත් කරුමෙට බේත් තියෙනවා යැ? මිනිස්සු හිර ගෙදර උන්න හිටිය හැටියෙ මුල්ලකට ගිහින් වැටෙනවා; මැරෙනවා. දැන් උඹට කරන්ඩ දෙයක් නෑ. කරුමෙට දෙන්ඩ බේත් නෑ. උඹ මේ ගමේ ඉන්න කවුරු හරි කසාද බැඳගනින්. ඉළන්දාරියෙක් නැත්නම් නාකියෙක් වුණත් මොකක් ද ඇති වැරැද්ද? කසාද බැඳ ගනින්. ගං ඉවුරෙ අලි ඇට නරි අදිනවා කියලා අනිත් අලි ගඟේ නාන්නේ නැතුව අරිනවා ද?'

'රාළහාමි, ඇත්තට ම මේ ගැන මොකුත් ආරංචියක් දන්නවා ද? එයා මළ යි කියලා දැනගන්ඩ ලැබුණ ද?

'මං අහපු ආරංචියක් නැහැ. කාගෙන් ද ආරංචි අහන්නේ? උඹට ආරංචියක් දැන ගන්ඩ ඕනෑ නම් ඒකට යන්ඩ ඕනෑ හිර ගෙදරට. දවස් ගානක් තිස්සේ යන්ඩ තියෙනවා. ඉස්සර වෙලා කඹුරුපිටියට ගිහින් ඊට පස්සේ බස්නා ඉර පැත්තට යන්ඩ ඕනෑ තංගල්ලට යන මහ පාර දිගේ. හිර ගෙදරින් අහපුවාම, උඹට දැන ගන්ඩ පුළුවන් වෙයි.'

පුංචිමැණිකා නිශ්ශබ්දව ම වෙදරාළගේ ගෙයින් සෙමින් දොරට බැස ගෙදර ගියා ය. සිර ගෙදරට ගොස් බබුන් ගැන විමසන්නට ද ඈ සිතා ගත්තා ය. නන් නො දන්නා රටකට තනිව යාම ගැන සිතෙන විට පවා ඈ තුළ බිය උපන් නමුත් මේ සැකය හිසේ තබා ගෙන ගමේ ජීවත්වීම අමාරු කාරණයක් වූ හෙයින් කෙසේ නමුත් තංගල්ලට ගොසින් එන්ට ම අධිෂ්ඨාන කර ගත්තා ය. පිළියෙල කරගත් කුරක්කන් රොටි කීපයකුත් ගමන ගැන ඇසූ ගම්මුන්ගෙන් ලැබුණ තවත් ධාන්‍ය ඇට ටිකකුත් ලේන්සුවක ඔතා ගෙන ඈ කඹුරුපිටිය බලා පිටත් වූවා ය.

කඹුරුපිටිය දක්වා වූ ගමනේ මුල් කොටසේ මග ඇට හොඳ හැටි පුරුදු ය. ගමේ අනිත් ගැහැනුන්ට මෙන් ඇට කැලය මැද තනිව යන්ට බියක් නො දැනිණ. ඇට ගමනේ කරදරය පෙනුණේ තංගල්ල දක්වා බටහිරට වැටී ඇති මහ පාරට වැටුණ පසුව ය. සුදු දූවිලි සහිත කෙළින් දිවෙන මහ පාරේ දී ඇට භයානක විදියේ තනිකමක් දැනිණ. ලුණු හෝ වී හෝ පැටවූ මහ බර කරත්ත නො කඩවා මග දිගට හමුවන්නට විය. කරත්තකාරයන් නරක මිනිසුන් බව ඈ පිළිගෙන සිටියා ය. ඔවුන් පිළිබඳව ගම්බදව කෙරෙන දරුණු කතාවන් ඈ හොඳට අසා පුරුදු ය. එහෙයින් පාරේ ජීවිතය ගැන ඈ බොහෝ සෙයින් බිය වූවා ය. නිශ්චල කැලයක තනිව ජීවත්වීම ඇට මහ කාරියක් නො වේ. ඈ කැලය දනී. ඈ කැලයට අයිති ය. එහෙත් පාරේ නො කඩවා ඇදෙන මිනිසුන් පෙළ නාඳුනන මුහුණු, පරීක්ෂණාත්මක අමුතු විලාසයකින් තමා දෙස ඇසි පිය නො හෙළා ක්ෂණයකින් බලා සිට, ක්ෂණයකින් තමා පසු කොට යන ඇස්, ඈ මේ ඉන්නේ කොතරම් තනි ලෝකයක ද යන හැඟීම ඈ කෙරෙහි ඇති කර වී ය. ජනාකීර්ණ සමහර ගම් මැදින් බියපත් සිවල් දෙනක මෙන් බියෙන් ඇලළී ඇකිළී යන විට ඇගේ මේ තනිකම ඇට දූනුණේ වඩාත් බලවත් ලෙසිනි. ගම්බද කඩ අසල එකතු වී සිටින පිරිස්, ළිං ළඟ එකතු වී ඕපාදූප කතා කරන ගැහැනු මග යන එන මිනිස්සු යන සියල්ලෝ ම විමසුම් සහිතව ඈ දෙස බැලූහ. විශාල ගණනක් මුහුණු අතර තමා අඳුනන එක ද මුහුණක් නො පෙනිණ. කඩයකට හෝ ගෙපැලකට හෝ ළංව රාත්‍රියේ නිදා ගන්ට ඉඩ දෙන්නේ දැ යි කෙනෙකු ගෙන් ඇසීමට ඈ තුළ ධෛර්‍යයක් නො වී ය. රෑ බෝ වී බඩ ගින්නත් තෙහෙට්ටුවත් වැඩි වන විට මග අසල කුඩා ලැහැබකට රිංගා නිදා ගැනීම මැනැවැ යි ඈ සිතා ගති.

පුංචිමැණිකා, තංගල්ලට පැමිණෙන්ට පෙර ඇට බොහෝ වෙහෙස ද බඩගිනි ද දැනිණ. නගරයේ දැලක් මෙන් ඒ මේ අත වැටී තිබුණ පටු පාරවල් ඇගේ භ්‍රාන්තිය දියුණු කැරැවී ය. අන්තිමේ දී වෙළඳාම්පළට අවුත් වැටෙන තුරු ඈ නගරයේ ඒ මේ අත ඇවිද්දා ය. ඒ වෙළඳාම්පළ ඇරුණ දවසකි. හාරසියයක්, පන්සියයක් පමණ වූ පිරිස පටු භූමි භාගයේ කැටි වී සිටියහ. එළවළු, පලතුරු, ධාන්‍ය වර්ග, රෙදි පිළි, හැළි වළන් ආදි නොයෙක්

බඩුවලින් වෙළඳපොළ පිරී තිබිණි. හැම දෙනෙක් ම එකට කතා කළහ; එකට  කෑ ගැසූහ. අත් පා සැලූහ. වෙළඳාම්පළේ ශබ්දය පුංචිමැණිකාගේ බිය දියුණු කෙළේ ය. එහෙයින් ඒ තැනින් වහා පලා ගොස් වෙන පටු පාරකට වැටී එයින් නගරයේ මැද හරියෙන් නැගුණ කඳු පා මුලකට පැමිණියා ය. එහි දෙපස ගෙවල් නො තිබුණ නමුත් කන්ද මුදුනේ විශාල ගොඩනැගිල්ලක් පෙනිණ. එහි මිනිස්සු නො සිටිය හ. මහලු මිනිහෙක් පමණක් කඳු බෑවුමේ හිඳ ගෙන ගල මත වියළි තණ පත් උලමින් සිටි කෙට්ටු එළදෙනුන් පස් දෙනකු දෙස බලා ගෙන සිටියේ ය.

ඝෝෂා සහිත කලබල වීදිවලින් තැති ගෙන සිටි පුංචිමැණිකා ජන ශූන්‍ය නිශ්චල ස්ථානයකට පැමිණීම ගැන ආනන්දිතව එහි ඇන තියා හිඳ ගත්තා ය. එහි සිටි එළදෙනුන් ගෙන් එකෙක් ඉඳ හිට කහින ශබ්දයත් වෙළඳාම්පළ පැත්තෙන් යන්තමට ඇසෙන මිනිස් කට හඬත් හැර වෙන කිසිම ශබ්දයක් එහි නො වීය. තමා ඉදිරියේ තිබුණ විශාල සුදු ගොඩනැගිල්ල දෙස හිස ඔසවා ඈ බැලුවා ය. බිත්තිවලට හිරු එළිය වැටීමෙන් එය දීප්තිමත් ව බැබැළිණි. බබුන් සිටින හිර ගෙය මෙය විය හැකි දැයි ඈ සැක කළා ය. හාමතේ සිටින එළ දෙනුන් පස් දෙනා අතර හිඳ ගෙන වුන් මහල්ලා ද ඈට පෙනේ. ඔහු දැකීමෙන් ඈට සිහි වූයේ සිලිඳු ය. ඔහු එහි නො සැලී හිඳ ගෙන කඳු පාමුල පොල් ගස් දෙස නෙත් හෙළා ගත් වන ම හුන්නේ ය. රැක බලා ගෙන සිටි එළදෙනුන්ගේ මෙන් ම ඔහුගේ ද වියළී ඇකිළී ගිය සමට යටින් පිහිටි ඉළ කෝටු ගණන් කළ හැකි විය. කලබලකාරී ආඩම්බර නාගරිකයන් දැකීමෙන් තැති ගත් පුංචිමැණිකාට දිරාපත් මහල්ලාගේ දැකීම දන්නා අඳුනන හිතවතුන්ගේ දැකීමක් මෙන් විය. මහල්ලා ද කැලෑවකින් එළියට ආ කෙනෙකු විය හැකි ය.

පුංචිමැණිකා මහල්ලා ළඟට ගොස් ඔහු ඉදිරියේ සිට ගත්තා ය. මහල්ලා වරක් ඈ දෙස නෙත් හෙළා බැලුවේ ය. පල් වතුරක මුහුණත වැසී තිබෙන පටලයකට සමාන පැහැය ඇති පටලයකින් ඔහුගේ දෙනෙත වැසී තිබිණ. ඔහු නැවතත් පොල් අරඹ දෙසට ම බැල්ම යොමු කොට නිශ්චලව හුන්නේ ය.

'සීයෙ, අර පෙනෙන්නේ හිර ගෙදර ද?'

හිරු රැසින් උද්දීප්ත මහ ගොඩනැගිල්ල පළමු වරට දැක බලන්නකු මෙන් එ දෙස  සෙමින් නෙත් හෙළා බැලූ මහල්ලා පුංචිමැණිකා දෙසට හැරුණේ ය.

'ඔව්, ඇයි?' බොල් මැරැඬි කට හඬකින් ඇසී ය.

'මගෙ මිනිහා ඒකෙ අතුළෙ වෙන්ඩ පුළුවනි' යි හිර ගෙදර උස සුදු බිත්තිය දෙස බලමින් පුංචිමැණිකා කීවාය. 'එයා මේ හිර ගෙදර එව්වා, මාස ගණනකට ඉස්සර. ඒක බොරු නඩුවක්. එයා මාස හයකට හිරේට නියම වුණා. දැන් මාස හය පහුවෙලා. ඒත් එයා ගමට ආවෙ නෑ. මං මේ බෙහොම දුර ඉඳලයි ආවෙ. මට බොහොම මහන්සියි සීයෙ. මං බොහොම කරදර විඳ ගෙන ආවෙ එයා සොයන්න. එයා මේක ඇතුළෙ ඇති.'

'මහල්ලාගේ දෙනෙත යළිත් පොල් අරඹ දෙසට ම යොමු විය.' ඔහු හැලහොල්මනක් නැතිව සිටියේ ය.

‘උඹේ ගම කොහෙ ද ළමයා?’
‘මං ආවෙ බැද්දේගම ඉඳලා.’

‘බැද්දේගම,’ ඔව් මං දන්නවා. බොහොම ඉස්සර හිට දන්නවා ඒ ගම ගැන. මාත් ඒ පැත්තේ තමයි. බැද්දේගමටත් එහා මහවෙලගම. උඹ ගමට පලයන් ළමයා.’

‘ඉතින් මගෙ මිනිහා, සීයෙ? එයාට මොකද වුණේ’

මහල්ලා ඉතා සෙමින් හිස හරවා මහ හිර ගෙය දෙස නෙත් යොමු කෙළේ ය. හිරු රැස් මහල්ලාගේ මුහුණට කෙළින් වැටිණ. ඔහුගේ මුහුණ වයසින් හා දිළිඳුකමින් වැහැරී රැලි වැටී ඇකිළී තිබිණ. ඔහුගේ දෙනෙත් හිර ගෙයින් එළදෙනක කරා යොමු විය. එළදෙන ඇස් නෙරවා හිස දික්කර ගෙන නිශ්චලව සිට තදින් කහින්නට පටන් ගති. දැල හකුළවා ගෙන ඈ කැස්සේ ඉතා වේදනාවෙනි. කැස්ස නතර වුණ පසු එළදෙන යමකු සොයමින් මහ පොළොව තොලු ගාන්ට වන. මහල්ලා තමාට ම කියා ගන්නාක් මෙන් මෙසේ කීවේ ය.

‘කවදාවත් මිනිහෙක් ඕකෙන් එළියට එන්නේ නෑ-කොහොම ද මිනිහෙක් ඕක ඇතුළෙ ජීවත් වෙන්නෙ. හැම තිස්සෙම බිත්තිවලින් වට කරගත. මේ ටවුන්වල මිනිසුන්ට ඕකෙ ගාණක් නැහැ. නමුත් අපි මං හොඳට දන්නවා, මං මහවෙලගම මිනිහෙක්. ඔන්න ඔය අහට කැලේ මැද්දේ ගමක්; අද වුණත් ගමට යන්ඩ මං ලෑස්තියි, නමුත් මට වයස වැඩි යි. මිනිහෙක් නාකි උණායින් පස්සේ ඒවායෙ ඉඳලා වැඩක් නැහැ-නමුත් උඹ ගමට පලයන්. ගමක් අත් ඇරලා යන එක මහ මෝඩකමක්. ඒවායෙ හැමදා ම බඩගින්නෙ තමා. මං දන්නවා, මට මතකයි, ඒත් තමන්නෙ පැල්පතයි, මිදුලයි, කැලෙයි තමන්ට නිදහසේ තියෙනවා. මේවායෙ ගෝසාවයි, කලබලයි, කරදරයි විතරයි. නිම්මාවකින් නැතුව ගෙවල්.’

‘ඒත් හිර ගෙදරින් අහන්ඩ ඕනෑ ඉස්සර වෙලා මගේ මිනිහා ගැන. ඇයි එයා නතර කරගන ඉන්නෙ?’

‘ඕකට ගිය මිනිහෙක් කවදාවත් එළියට එන්නෙ නෑ. හැබෑටම මං දන්නෙ නැද්ද? මගෙ පුතත් ඔය හිර ගෙට ගියා. තව අද වෙන්නක් ඇහැට දැක්කෙ නෑ. එයාගෙ නඩුව ඇහුවෙ මේ තංගල්ලෙ. මගේ අත මිට තිබුණා. ඔක්කොම ඒ නඩුව වෙනුවෙන් වියදම් කළා. පුතා හිර ගෙයින් ආපහු එනතුරා මං බලා ගෙන හිටියා, කිසි දවසක ආවෙ නෑ; එන්නෙත් නෑ, උඹේ මිනිහාටත් ඒක ම තමා. දැන් උඹ ආපහු පලයන් උඹේ ගමට.’

පුංචිමැණිකාගේ බඩගින්නට හා තෙහෙට්ටුවට ද මහල්ලාගේ කතාවෙන් උපන් සන්තාපයත් දුකත් එකතු විය. ඈ නිසොල්මනේ වැලපෙන්ට වූවා ය.

‘අඬල වැඩක් නෑ ළමයා. මං දැන් හොඳට ම වයස මිනිහෙක්. මට වඩා හොඳින් ඔය ගැන දන්න කෙනෙක් තවත් මෙහෙ නෑ, මේ හිර ගෙට ගිය කෙනෙක් කවදාවත් ආපහු ආවේ නෑ. උඹ දැන් ඉක්මන් කරලා ගමට යන එක යි වඩා හොඳ.’

පුංචිමැණිකා එතැනින් නැගිට සෙමින් සෙමින් කන්ද නැග හිර ගෙය වටේ ගියා ය. එහි වූයේ එකම දොරටුවකි. ඒ තැනින් තැන යකඩ ඇණ වැද්දූ විශාල ඝන ලී දොරකි. ඈ බියෙන් දොරට

තට්ටු කළා ය. ඇතුළට නො ඇසෙන තරම ඉතා හෙමින් තට්ටු කළා ය. නැවත බිත්තියට ඇල වී ඉඳ ගෙන බලා සිටියා ය. පැය ගණනක් ගත විය. කිසි ම අමුත්තක් වූයේ නැති. දොර වැසූ ගමන් ම ය. සිර ගෙය ඇතුළෙන් කිසිම ශබ්දයක් නො ඇසේ. කන්ද පාවුල තණ උලන එළදෙනුන් පස්දෙනා හා මහල්ලා හැර පෙනෙන මානයක කිසිම සතෙක් නැත. තමා සිටින තැනට තද හිරු රැස් වැටෙන විට බිත්තියේ සෙවණ දිවෙන දිවෙන හැටියට එහා මෙහා වෙමින් මොකක් හෝ අමුත්තක් සිදු වන තුරු ඈ බලාපොරොත්තු සහිතව එතැන ම උන්නා ය.

බොහෝ වේලාවකට පසු දොර හැරිණ. කාකි ඇඳුම් කට්ටලයක් හා තොප්පියක් ද හැඳ පොල්ලක් අතින් ගත් මිනිහෙක් එයින් එළියට ආවේ ය. ඔහු ඈ දෙස බලා තියුණු ස්වරයකින්, 'නුඹ මොක ද මෙතන?' යි ඇසුවේ ය.

'මගේ මිනිහා බලන්ඩ ආවා. අයියා, එයා මාස හයකට හිර ගෙදරට එව්වා. මාස හය දැන් පහු වෙලා. එයා ගමට ගියේ නැහැ. මිනිස්සු කියනවා එයා මැරිලයි කියල. ඒක ඇත්ත ද?'
'මොකක් ද එයාගෙ නම? කොහෙ ද ගම?'

'එයාගෙ ගම බැද්දේගම'

'නම?'

'කොහොම ද මම එයාගෙන නම කියන්නේ අයියා?'

'ඇයි මෝඩියෙ මොකක් ද ඒ මිනිහට කියාපු නම?'

'එයාට කිව්වේ බබුන් කියලා.'

'මොන වැරැද්දට ද හිරේ වැටුණෙ?'

'ඒක බොරු නඩුවක්, ආරච්චිගෙ ගේ බින්දයි කියලා'

'ඕ, ඒ මිනිහා! හරි ඊට පස්සෙ ඒ ආරච්චිත් මැරුවා නේද?'

'ඔව්, ඔව්, ඒ මැරුවෙ අපේ අප්පොච්චි.'

'ඔව්, එයත් මෙහෙ හිටියා, උඹ ළඟ සල්ලි හෙම තියෙනවා ද ගෑනියෙ?'

'නෑ අයියා, සතයක්වත් නෑ. අපි බොහොම දුප්පත් මිනිස්සු.'

'ආ, එහෙනම් අපට බෑ මෙහිදී මොකුත් කියන්ඩ. උඹ කඹුරුපිටියට ගිහින් ඒජන්ත හාමුදුරුවන්ට පෙත්සමක් දීපන්.'

'අයියා' දැන් කීවානේ මගෙ මිනිහා දන්නවයි කියලා. ඉතින් මට කීවට ඇති වැරැද්ද මොකක් ද? එයා දැන් මෙහෙ ඉන්නවා ද? එයාට මොකද උණේ? දවස් ගානක් තිස්සේ මං මෙහාට ආවෙ මේක දැනගන්ඩ. මට තවත් කරදර කරන්ඩ මා එළවන්නේ ඇයි?'

හිරපල්ලා පුංචිමැණිකා දෙස මිනිත්තුවක් හෝ දෙකක් පමණ බලා සිටියේ ය.

'හොඳයි, කරුණාව වේළිච්ච කුඹුරට වැස්සක් වගෙයි කියනවා නේ! ඒත් උඹ ඉල්ලන්නේ වේළිච්ච කුඹුරට තවත් නියගෙ. මං දන්නවා මිනිහා මෙහෙ හිටියා. මිනිහා මෙහිදී මළා. දැන් මැරිලා මාස දෙකක් වෙනවා.'

හිරපල්ලා තම කතාවෙන් බලාපොරොත්තු වූයේ හිස අත් බදා ගෙන කෑ ගසන ගැහැනියකගේ විලාපයකි. එහෙත් පුංචිමැණිකා නිශ්ශබ්දව ම එතැනින් ගොස් නැවතත් බිත්තිය අද්දර ඇන තියා ගැනීම ඔහුගේ මවිතයට හේතු විය. සාමාන්‍ය අන්දමට ශෝකය ප්‍රකාශ කිරීමට ඇගේ සිතට වැදුණු පහර තද වැඩි ය. කඳුළක් වත් නො හෙළා ඈ බලා සිටියා පමණි. තමා ගමට යා යුතු ය යන බලවත් හැඟීමත් තමා තනිවී සිටින මේ නගරයෙන් පිට ව සිය ගමට යා ගත යුතු ය යන දැඩි ආශාවත් ඈට ඇති විය. එහිදී තමාගේ මිදුලට වී වන රොදට පිටිපසින් හිරු සැඟවී යන සැටි බලා ගෙන නිදහසේ සිටිය හැකි ය. පුන්චිමැණිකා එතන වැඩි වේලාවක් නො රැඳී කන්දෙන් පහළට බැස්සා ය. මහල්ලා තවමත් ඒ හුන් තැන පොල් අරඹ දෙස බලාගත් වන ම සිටියේ ය.

'ආ, කවදාවත් ඕකෙන් පිට වෙලා එන්ඩ ඉඩ හම්බ වෙන්නෙ නෑ මිනිහෙකුට. මං උඹට කිව්වානේ,' යි තමා පසු කර ගෙන යන පුංචිමැණිකාට ඇසෙන සේ මහල්ලා කීය.

'එයා මැරිලා සීයේ.'

'ඔව් ඕකට ගිය කෙනෙක් ආයෙ එන්නේ නෑ. උඹ පලයන් ළමයා ආපහු ගමට.'

'මං යනවා සීයෙ.'

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| උදාසීන | - | කම්මැළි/අලස |
| උගහට | - | කිරීමට අපහසු/ දුෂ්කර |
| විලීනව | - | උණු වී/දිය වී |
| ගවමහිස | - | එළහරක් සහ මීහරක් |
| පටල සහිත | - | පැටලුම් සහිත/අපැහැදිලි |
| බත් වී | - | ගොදුරු වී |
| හිර හිදලන් | - | අවාහ විවාහ කර ගැනීම |
| අඩිකෝඩ | - | කලබල/විකාර/කෝලම් |
| සැහැසි | - | දරුණු |
| භ්‍රාන්තිය | - | චකිතය/බිය |
| ආනන්දිත | - | සතුටට පත් |
| උද්දීප්ත | - | දිලිසුණු/බැබළුණු |
| බොල් | - | හිස් |
| මැරැඬි | - | කතා කරන ශබ්දය අපහැදිලි වීම |
| තොලු ගානවා | - | තණ කොළ උලා කනවා |
| අහට | - | ප්‍රදේශයට |
| සන්තාපය | - | කනස්සල්ල/කනගාටුව |

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. "අවුරුදු දහයකින් මුළු ගමම අලින්ට යනවා" යි නැන්චොහාමි කී අනාවැකිය ක්‍රමයෙන් සත්‍යයක් වූ අයුරු උදාහරණ දෙමින් විමසන්න.

2. "බැද්දේගම හා එහි වැසියන් ක්‍රමයෙන් අභාවයට යන ආකාරය සජීවී ලෙස නිරූපණය කරන්නට කතුවරයා භාෂාව භාවිත කර ඇති ආකාරය උදාහරණ සහිතව පැහැදිලි කරන්න.

3. සිලිඳු පිළිබඳව "පිස්සු වැද්දා කොටියෙකැ" යි කී ගම්මු පුංචිමැණිකා පිළිබඳව කීවේ කොටියාගේ පැටියා මුව පැටියෙක් බවයි. පුංචිමැණිකාගේ චරිතය ඇසුරෙන් මේ කියමන තහවුරු කරන්න.

4. අවස්ථා හා සිද්ධි නිරූපණයේ දී කතුවරයාගේ ප්‍රතිභාව ස්ඵුට වන්නේ පාඨක සිත දයානුකම්පාවෙන් පුරවාලීම නිසා ය. උදාහරණ ඇසුරෙන් විග්‍රහ කරන්න.

# 5 මුනි සිරිපා සිඹිමින්නේ

## ටිබෙට් ජාතික එස්. මහින්ද හිමි (1901-1951)



'ටිබෙට් ජාතික එස්. මහින්ද හිමි' යනු මෙරට ජාතික වීරවරයන් ගැන කියැවෙන අවස්ථාවන්හි දී නො වැරදී ම සඳහන් වන සුවිශේෂ නාමයකි. සුවිශේෂත්වය වන්නේ අප රට ගැන, එහි නිදහස ගැන ඉමහත් වාත්සල්‍යයකින් ලියූ - දෙසූ උන් වහන්සේ උපතින් ශ්‍රී ලාංකිකයකු නො වීම ය.

ටිබෙට් රටෙහි සිකීම් දේශයේ උපන් මහින්ද හිමියන්ගේ ළමා කාලය පිළිබඳ වැඩිදුර තොරතුරු සපයා ගැනීම අපහසු ය. එහෙත් උන් වහන්සේ 1901 දී පමණ ජන්ම ලාභය ලැබූ බව පිළිගැනේ. ටිබෙට් රටෙහි උසස් පෙළපතක් වූ තෂි නම්ග්‍යාල් පෙළපතට අයත් මහින්ද හිමි ඇස්.කේ. තෂි නම්ග්‍යාල් ලෙස මුල දී හඳුන්වා ඇත. වයස අවුරුදු දොළහේ දී පමණ සිය පැවිදි සොහොයුරා වූ එස්. පුණ්ණජී හිමියන් සහ ජර්මන් ජාතික ඤාණතිලෝක හිමියන් සමග කුඩා තෂි ලංකාවට පැමිණ ඇත.

මුලින් ම පොල්ගස්දූව ආරාමයේ නැවතී, කොළඹ විද්‍යෝදය පිරිවෙනට බැඳී ඉගෙනීමටත් එම කාලයේ ම මරදානේ මහාබෝධි විද්‍යාලයෙන් ඉංග්‍රීසි ඉගෙනීමටත් ඔහු යොමු වී ඇත. තෂි නම්ග්‍යාල්, එස්. මහින්ද හිමි ලෙස පැවිදි බව ලබන්නේ රත්ගම සිරි චූලසුමන හිමියන් වෙතිනි. මෙලෙස අමරපුර නිකායේ පැවිදිව දොඩන්දූවේ ශෛලබිම්බාරාමයෙහි වැඩ වෙසෙමින් මහින්ද සාමණේර හිමියෝ සිය අධ්‍යාපන කටයුතු කරගෙන ගියහ. පසුව උන් වහන්සේ කොළඹ කොම්පඤ්ඤ වීදියේ සෞගත ආවාසය වෙත පැමිණියහ. ඒ 1930 වර්ෂයේ ය. එහි දී උන් වහන්සේ පැලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන් අධිපති ලුණුපොකුණේ ශ්‍රී ධම්මානන්ද හිමියන් වෙත යළි පැවිදි වූයේ සියම් නිකායේ භික්ෂුවක හැටියට ය. මහින්ද හිමියන් උපසම්පදා වී ඇත්තේ 1931 වර්ෂයේ ය.

1934-1936 කාල වකවානුව තුළ එස්. මහින්ද හිමියෝ කොළඹ ආනන්ද විද්‍යාලයේ ආචාර්යවරයකු ලෙස සේවය කළෝ ය. එහි දී උන් වහන්සේ සිංහල, පාලි, බුද්ධ ධර්මය විෂය ඉගැන්වීම් කටයුතු සිදු කර ඇත. එස්. මහින්ද හිමියන් 1936 වර්ෂයේ සිට වැඩ වාසය කර ඇත්තේ පානදුරේ මහබෙල්ලන ශ්‍රී සුදර්ශනාරාමයේ ය. එහි වසර 15ක් පමණ වැඩ වෙසෙමින් විවිධ සමාජ ආගමික සාහිත්‍ය සේවාවන් සිදු කරමින් සිටිය දී 1951 මාර්තු 16 දා මේ උද්යෝගිමත් බුද්ධපුත්‍රයන් වහන්සේ හදිසියේ අපවත් වූහ.

එස්. මහින්ද හිමියන් වඩාත් ප්‍රකට වූයේ කවියකු හා දේශකයකු ලෙසට ය. උන් වහන්සේගේ සාහිත්‍ය කටයුතු බෙහෙවින් ම කවියට නැඹුරු විය. එම කවි ප්‍රධාන තේමා තුනක් යටතේ අපට හඳුනා ගත හැකි ය.

1. ළමයින් උදෙසා ලියූ කවි
2. දේශානුරාග හා ජාතිකාභිමාන කවි
3. බුද්ධාභිවන්දනා කවි

ඉහත සෑම වර්ගයක ම කවි වර්තමානයේ දී ද පාඨක, රසික, විචාරක අවධානයට ලක්ව පවතී. උන් වහන්සේ ලියූ ජාතිකාභිමානී කෘති අතර **නිදහසේ දැහැන**, **නිදහසේ මන්ත්‍රය** සහ **ලංකාමාතා** කාව්‍ය සංග්‍රහ ජනප්‍රිය විය. යටත් විජිත පාලනයෙන් මිදීම සඳහා කළ නිදහස් සටනට උන්වහන්සේගේ නිර්මාණවලින් ලද උත්තේජනය සුවිශේෂ ය.

| | |
|---|---|
| බලවූ පොලොන්නරු අනුරාපුර | පෙදෙස |
| සිතවූ පැවති නිදහස මෙහි පෙර | දවස |
| නගවූ තව තවත් තරසර තරුණ | ගොස |
| වරෙවූ යමවූ නැගිටිවූ නොනිදවූ | මෙලෙස |

ඇස්. මහින්ද හිමියෝ කුඩා දරුවන් උදෙසා ද කාව්‍ය ප්‍රබන්ධ රැසක් කළහ. උන් වහන්සේ විසින් රචිත ළමා නිර්මාණ මූලික වශයෙන් **කව්මිණ**, **කව්මුතු** හා **ළමා කව් කලඹ** යන කෘති තුනෙහි සංගෘහිත වී ඇත. **ඔවා මුතු** උන් වහන්සේ ලියූ මුල් ම කාව්‍ය කෘතිය යි. **නන්දන ගීත** උන් වහන්සේ ලියූ තවත් කෘතියකි.

මෙම පාඩමට පාදක වන '**දරු නැළවිල්ල හෙවත් ජාතික තොටිල්ල**' නමැති දීර්ඝ කාව්‍ය පන්තිය ජාතික වීර කාව්‍යයක් බවට පත්ව තිබේ. මෙය ළමයින් අරමුණු කර ගෙන මුළු මහත් ජාතිය ම අමතන කාව්‍යයකි. ජාතික සිරිත් විරිත්, ආකල්ප හා චින්තනය කැටි කර ගත් උපදේශාත්මක කාව්‍යයක් වන මෙය ඉතිහාස තොරතුරු රැසක් ද සම්පිණ්ඩනය කළ අවස්ථාවකි.

'ජාතික තොටිල්ල' පද්‍ය පන්තිය රචනා වීම පිළිබඳ පසුබිම් කතාව ද අපූර්ව එකකි. දිනක් මහින්ද හිමියෝත් භදන්ත මංජු හිමියෝත් පියදාස පලන්සූරිය මහතාත් ඇම්.ඊ. ප්‍රනාන්දු මහතාත් අගනුවර සිට මහනුවරට ගොස්, ගන්නෝරුව හරහා යටිගල සුමනාරාමයට යමින් සිටියහ. පිරිස එක්තරා වෙල්යායකට පිවිසෙන විට හොඳට ම සවස් වී තිබිණ. එම සුන්දර පරිසරය ගැන මහින්ද හිමියෝ වශීකෘතව ගියෝ ය. වෙල මැද වූ කමතක පොල් අතු පැල දුටු උන් වහන්සේ "අපි අද රෑට මේ පැලේ නතර වෙමු" යැයි යෝජනා කළහ. සියල්ලෝ එකඟ වූහ. සඳ පහන් රැයෙහි වෙල්යාය තවත් සුන්දර වී තිබිණි. පොල් අතු පැල එකම සාහිත්‍ය මණ්ඩපයක් විය. මහින්ද හිමියන්ගේ සිත අමුතු සතුටකින් පිරී ගියේ ය. විගස පෑන හා කඩදාසියක් අතට ගත් උන් වහන්සේ 'දරු නැළවිල්ල හෙවත් ජාතික තොටිල්ල' යන සිරස්තලය යොදා 'මුනි සිරිපා සිඹිමින්නේ' කවි පදයෙන් කවි පෙළක් ඇරඹූහ. එලෙස පල්ලේගම කෝලාන ගමේ වෙල් යායේ දී ඇරඹි මේ කවි පෙළ පසු දා

සුමනාරාමයේ දී ම ලියා අවසන් කෙරිණ. මේ හෘදයග්‍රාහී ජාතික වීර කාව්‍යයේ උපත සිදු වූයේ එලෙස ය. එම කාව්‍යයෙන් උපුටා ගත් කවි කිහිපයක් මෙම පාඩමට ඇතුළත් කර ඇත.

'ජාතික තොටිල්ල' දේශාභිමානි කාව්‍යයේ තෝරා ගත් කවි කිහිපයක් මතු දැක්වේ.

මුනි සිරිපා සිඹිමින්නේ
සමනොළ ගිරි පෙදෙසින්නේ
මඳ සුළඟයි මේ එන්නේ
මගේ පුතා නිදියන්නේ

නිදහස මහ මුහුදක් වේ
එහි උල්පත පුත, නුඹ වේ
ඒ බව සිහි කොට මෙ ලොවේ
යුතුකම ඉටු කළ යුතු වේ

ජාතික රණ දෙරණ මතේ
ගැටී වැටී මළ මොහොතේ
සුන්දර සුරඹුන්ගෙ අතේ
නැළවෙන බව සිතනු පුතේ

කරදර දහසක් හමු වී
ඉන්ටැකි නම් සිනා වෙවී
ඔහු මෙලොවට පහළ දෙවී
රජෙකැයි සලකනු මැනවී

තමන් ලැබූ දිවි පෙවෙතේ
කොටසක් රට සමය වෙතේ
පුද නොකළොත් උඹෙන් පුතේ
මෙලොවට කිසි පලක් නැතේ

ජාතිය රන් විමනක් වේ
ආගම මිණි පහනක් වේ
එය රැක ගන්නට මෙ ලොවේ
සමත් වෙතොත් පුත නුඹ වේ

ඉටු කොට කළ යුතු යුතුකම්
ලැබුණත් ලෝකෙන් ගැරහුම්
ඉවසන්නට පුළුවන් නම්
උඹයි මගේ පුතා උතුම්

කාටත් හිමි පොදු දේ නම්
නැති-බැරි, හිඟ අවහිරකම්
මේ දේ මැඩ ගෙන දස්කම්
පෑම තමයි සුරු විරුකම්

මිතුරුකමින් පෙරට එතොත්
දූවිල්ලක් එක්ක වුණත්
මිතුරු වෙයන් පුතේ උඹත්
එයයි ලොවේ ගුණය මහත්

සිනිඳු මොළොක් බව මලෙහී
පිරිසිදු බව පිනි බිඳෙහී
එක් වී මා පුතුගෙ ළෙහී
අරක් ගනී හැම දිනෙහී

## අභ්‍යාස

1. පහත සඳහන් යෙදුම්වල අරුත් පැහැදිලි කරන්න.

"කරදර දහසක් හමු වී
ඉන්ටැකි නම් සිනහ වෙවී"

"නිදහස මහ මුහුදක් වේ
එහි උල්පත පුත, නුඹ වේ"

"කාටත් හිමි පොදු දේ නම්
නැති-බැරි හිඟ අවහිරකම්"

2. මෙහි ජාතිකාභිමානී හා දේශානුරාගී අදහස් වඩවන කවි තෝරා සාකච්ඡා කරන්න.

3. මෙම පද්‍ය නිර්මාණය සාර්ථක කර ගැනීමට කවියා යොදා ගෙන ඇති විවිධ කාව්‍යමය උපක්‍රම සාකච්ඡා කරන්න.

4. මෙම නිර්මාණය සඳහා උපයුක්ත භාෂා ශෛලිය පිළිබඳ ඇගයීමක් කරන්න.

5. "චරිත සංවර්ධනයට නිර්මාණාත්මක අදහස් ඉදිරිපත් කරන ප්‍රතිභාපූර්ණ කවියෙක් මෙම නිර්මාණයේ දී අපට හමු වේ." මේ කියමන සාකච්ඡා කරන්න.

# 6 ගංගාවේ සංගීතය

එච්. එම්. කුඩලිගම (1918 - 1973)



හේවාවසම් මුනිදාස කුඩලිගම හෙවත් එච්. එම්. කුඩලිගම කොළඹ යුගයේ කවියෙකි. ස්වභාව සෞන්දර්යය මහත් අභිරුචියෙන් වර්ණනා කළ කවීන් අතර හෙතෙම වෙසෙසින් කැපී පෙනේ. එසේ ම ඔහු මිනිස් දිවිය හා සොබා දහම අතර ඇති සබඳතා දාර්ශනික පදනමකින් ඉදිරිපත් කළේ ය.

වර්ෂ 1918 දී කළුතර කුඩලිගම දී උපත ලැබූ එච්. එම්. කුඩලිගම මිෂනාරි පාසලෙන් ජ්‍යෙෂ්ඨ පන්තිය තෙක් ඉගෙනුම ලැබුවේ ය; ඉන් අනතුරුව ධර්ම විජය පිරිවෙනෙන් උසස් අධ්‍යාපනය ලැබුවේ ය. කුඩලිගමගේ කවිය බුදු සමයෙන් පෝෂිත එකක් වීමට මේ පිරිවෙන් අධ්‍යාපනය ද බල පාන්නට ඇත.

පාසල් අධ්‍යාපනයෙන් අනතුරුව කොළඹට පැමිණි කුඩලිගම සිය රැකියාව ලෙස පුවත්පත් කලාව තෝරා ගත්තේ ය. සිංහල බලය, දිනමිණ, සිළුමිණ හා ජනතා ආදි පුවත්පත්වල සේවය කළ ඔහු කලක් 'සුවඳ' කවි සඟරාව ද සංස්කරණය කළේ ය. එසමයෙහි එම කවි සඟරාව වඩාත් ශාස්ත්‍රීය ගුණයකින් යුක්ත ව පවත්වා ගෙන යෑමට හෙතෙම උත්සුක වූයේ ය.

නිදොස් නිවැරදි බස් වහරකින් මෙන් ම මනා සංයමයකින් තම කවි මග හැසිරවීමට කුඩලිගම සැලකිලිමත් වූයේ ය. පාලි සංස්කෘත භාෂා පිළිබඳ දැනුම ද ඔහු සතු වුවත් බොහෝ විට ව්‍යවහාරයට සමීප කටවහරට ළං වූ බසක් ඔහු භාවිත කළේ ය. පෙර ද සඳහන් කළ පරිදි ස්වභාව සෞන්දර්යය හා බැඳුණු කවි ආර හේතුවෙන් 'සිංහල ෂෙලී' ලෙස කුඩලිගම ප්‍රකට වුව ද බටහිර කවියකු වූ ෂෙලීගේ කවි ඔහු කියවා නො තිබිණි. එහෙත් ඔහුගේ කාව්‍ය සංකල්පනා ෂෙලීගේ නිර්මාණවලට සමීප බව විචාරක අදහස යි. ඒ කෙසේ වුවත් එච්.එම්. කුඩලිගම කවියා තාගෝර් කිවිඳුන්ගේ නිර්මාණවලට සමීප වූ අන්දමත්, ඒවායෙහි ආභාසය ලැබූ අවස්ථාත් සිහි පත් කර ඇත.

කුඩලිගම කොළඹ කවි යුගය දීප්තිමත් කළ කවියකු බව විචාරක මතය යි. පී.බී. අල්විස් පෙරේරා, කපිල සෙනෙවිරත්න, මාකඳුරේ ගුණවර්ධන, මීමන ප්‍රේමතිලක, උපනන්ද බටුගෙදර ආදීහු ඔහුට සමකාලීන කවීහු වෙති. **සුවඳ, දේදුන්න, මීවදය** වැනි කවි සඟරාවල ද එකල පැවති පුවත්පත්වල ද එච්. එම්. කුඩලිගමගේ කවි නිරන්තරයෙන් පළ විය.

ඔහු ලියූ 'ඈ' පද්‍ය ග්‍රන්ථය ඉතා ජනප්‍රිය විය. **කුණාටුව, එකෝමත් එක රටක, සංවාදය** වැනි කෘති ද ඔහුගේ කාව්‍ය ග්‍රන්ථ අතර වේ. **මනුෂ්‍ය ජීවිතය, සොබා දහම හා ප්‍රේමය** පිළිබඳ අපූර්ව අත්දැකීම් සිය නිර්මාණ මගින් මතු කිරීමට සමත් වූ සංවේදී කවියකු වශයෙන් සිංහල කාව්‍ය වංශයෙහි නො මැකෙන නමක් සටහන් කළ කුඩලිගම කවියා 1973 අගෝස්තු 01 දා අභාවප්‍රාප්ත විය.

ලෝ දහම පිළිබඳ එළි දහරක් විටින් විට විහිදුවන 'ගංගාවේ සංගීතය' නමැති, කුඩලිගම කවියාගේ පැදි පෙළ මේ පාඩමෙන් ඉදිරිපත් කෙරේ.

කඳු බැවුමක දං - බෝවිටි පඳුරු    ත ළා
පහළට ඇදී පර මල් පෙති ඉවත    නො ළා
කලදෝ දියෙන් පොඟවා රන් පුලින    ත ලා
සංගීතවත් වී යමි ඉදිරියට    ග ලා

සැඟවෙමි - එබෙමි - නිසසල වෙමි - සසල    වෙ මි
ඇඹරෙමි - එහෙත් පසු නොබසිමි -    නොනවතිමි
කවදා කොතැනක දි හෝ මහ මුහුදු    හි මි
හමු වුණු කෙණෙහි මා සතු බර ඔහුට    දෙ මි

එන්නේ කොහි සිට ද - කොතැනකට ද    ය න් නේ
ඔබ කුමකට ද මා දුටු තැන    විමසන් නේ
මිනිසුන් ගිහින් නිතර ම ආපසු එ    න් නේ
කිම දැ යි කියා කිසිවකු ඇයි?    නොසොයන් නේ

මී අඹ - කිරල - මාදම් ගෙඩි ළදරු    වි යේ
ඇකයෙහි හෙළා හඬවයි සැඬ සුළඟ    ථ යේ
සුළි මැද කැරකෙමින් ඉඳුනිල් ගැඹුරු    දි යේ
සමහර තැනක ලස්සන මල් කැකුළු    ති යේ

හිරිමල් සිනා රැළි පෙණ පිඬු    මිහිරි ත ම
ගල් පරවල ම හැපි හැපි බිහි    කරමි ම ම
සම තැනිතලාවල හමු වෙයි    අලස ක ම
නිරසයි අතරමඟ අවහිර නුදුටු    බි ම

මිනිසුන් ඉවුරුවල යන එන අඩි    සද්දෙ න්
ළය යට සසල බව මින් මතු    නොනැගෙද්දෙ න්
කෙකටිය ඕලු නළියන දිය රැළි    මැද්දෙ න්
මල් පෙති වියළි කොළ එන අතකට    එද්දෙ න්

රන් තරු පිරිවරා ගත් සඳ මඬල    ය ට
මහ වන බිමක් මැද ගිරි කුළු අතර    සි ට
නොමියන හේලි දහමක පණිවුඩය    පි ට
කොඳුරමි කෙඳිරියක් මුළු ලොව නිසල    කො ට

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| කලදෝ දියෙන් | - රිදීවන් ජලයෙන් |
| පුලින තලා | - වැලි තලා |
| හේලි දහමක | - සනාතන දහමක් |

### අභ්‍යාස

01. පහත සඳහන් යෙදුම්වල අදහස් පැහැදිලි කරන්න.

"කලදෝ දියෙන් පොඟවා රන් පුලින තළා
සංගීතවත් වී යම් ඉදිරියට ගලා"

"මී අඹ - කිරල - මාදම් ගෙඩි ළදරු වියේ
ඇකයෙහි හෙළා හඬවයි සැඬ සුළඟ රැයේ"

"සම තැනිතලාවල හමු වෙයි අලසකම
නිරස යි අතරමග අවහිර නුදුටු බිම"

"නොමියන හේලි දහමක පණිවුඩය පිට
කොඳුරම් කෙඳිරියක් මුළු ලොව නිසල කොට"

02. මෙම පද්‍ය නිර්මාණයෙන් කවියා ඉදිරිපත් කරන ජීවන දර්ශනය පැහැදිලි කරන්න.

03. අත්දැකීම රසවත්ව ඉදිරිපත් කිරීමට කවියා භාෂාව යොදා ගෙන ඇති ආකාරය සාකච්ඡා කරන්න.

04. රස නිෂ්පත්තිය සඳහා කවියා භාවිත කරන විවිධ කාව්‍යෝපක්‍රම විස්තර කරන්න.

05. කවියා අජීව පරිසරයට සජීවී බවක් ආරෝපණය කරමින් තම පද්‍ය පන්තිය සාර්ථකව ඉදිරිපත් කරන ආකාරය විමසන්න.

# 7 ලෙන අතහැර යෑම

**මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර (1914 - 1996)**



වර්ෂ 1961 අගෝස්තු මස 31 වැනි දින ප්‍රථම වරට පේරාදෙණියේ දී රංගගත වුණු සිංහබාහු නාට්‍යය, ශ්‍රී ලාංකේය කලා කෙතට විශිෂ්ට නිර්මාණ රැසක් එක් කළ මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍රයන්ගේ නිර්මාණයකි.

සරච්චන්ද්‍රයෝ ලාංකේය අනන්‍යතාවක් සහිත නාට්‍ය කලාවක් නිමවා ගැනීම වෙනුවෙන් නිරන්තරයෙන් වෙහෙස ගත් අයෙකි. ඔහු වර්ෂ 1914 ජූනි 03 දින දකුණු පළාතේ රත්ගම දොඩන්දූව ගමෙහි ජන්ම ලාභය ලැබී ය. ඔහුගේ පියා චාල්ස් ජ්‍රැන්සිස් ද සිල්වා ය. මව ලිඩියා පින්තු ය. දෙමවුපියෝ දරුවාට 'යූස්ටස් රෙජිනෝල්ඩ් ද සිල්වා' යනුවෙන් නම් තැබූහ. පියා තැපැල් ස්ථානාධිපතිවරයකු ලෙස විවිධ පළාත් වෙත ස්ථාන මාරු ලද හෙයින් කුඩා කල පාසල් කිහිපයක ම අධ්‍යාපනය හදාරන්නට රෙජිනෝල්ඩ්හට සිදු විය. ගාල්ල සවුත්ලන්ඩ් විද්‍යාලය, ගාල්ල රිච්මන්ඩ් විද්‍යාලය, ගාල්ල ශාන්ත ඇලෝසියස් විද්‍යාලය, පානදුරේ ශාන්ත ජෝන් විද්‍යාලය, ගල්කිස්ස සාන්ත තෝමස් විද්‍යාලය යනාදි වශයෙනි. පාසල් අධ්‍යාපනයෙන් අනතුරුව එවක කොළඹ යුනිවර්සිටි කොලීජියට ඇතුළු වූ රෙජිනෝල්ඩ් තරුණයා 1936 දී සරසවියෙන් පිට වූයේ ගෞරව උපාධියක් සහිතව ය. ඉංගිරිසි භාෂාවෙහි ද නිපුණ වූ හෙතෙම 'සිලෝන් ඩේලි නිවුස්' පුවත්පතට එක් විය. 1939 වර්ෂයේ දී රවීන්ද්‍රනාත් තාගෝර්ගේ ශාන්ති නිකේතන සරසවිය වෙත ගියේ, භාරතීය දර්ශනය සහ සංගීතය ආදි නොයෙක් විෂයයන් හදාරා නැවත මවුබිමට පැමිණියේ ය. කෙටි කලක් ගල්කිස්ස ශාන්ත තෝමස් විදුහලේ ගුරුවරයකු ලෙස සේවය කර, කථිකාචාර්යවරයකු ලෙස විශ්වවිද්‍යාල සේවයට එක් වූ හෙතෙම පසුව, ලන්ඩන් විශ්වවිද්‍යාලයේ බාහිර අපේක්ෂකයකු වී පෙරදිග දර්ශනය පිළිබඳව ශාස්ත්‍රපති උපාධිය හිමි කර ගත්තේ, පේරාදෙණිය විශ්වවිද්‍යාලයට එක් වී පෙරදිග භාෂා පීඨයේ පාලි සහ බෞද්ධ දර්ශනය පිළිබඳ කථිකාචාර්ය ධුරයට පත් වූයේ ය. මෙකල තමා ජන්මයෙන් ලැබ සිටි විදේශීය උපරුවේ නම වෙනුවට 'වැදිතන්ත්‍රිගේ එදිරිවීර සරච්චන්ද්‍ර' යන නම භාවිතයට ගත් එතුමා එවකට පුවත්පත් සඳහා 'සරච්චන්ද්‍ර' නමින් ලිපි සම්පාදනයේ යෙදුණේ ය.

එතුමා **මළගිය ඇත්තෝ, මළවුන්ගේ අවුරුදු දා** වැනි නවකතා කිහිපයක් ද, **මනමේ, සිංහබාහු, පේමතෝ ජායතී සෝකෝ, පබාවතී** වැනි නාට්‍ය කෘති විශාල ගණනක් ද, විචාර පර්යේෂණ ග්‍රන්ථ බොහෝ ගණනක් ද රචනා කළේ ය. ඔහුගේ **කල්පනා ලෝකය, සාහිත්‍ය විද්‍යාව** කෘති සිංහල සාහිත්‍ය විචාර කලාවෙහි නො මැකෙන සටහන් ය. එපමණක් නො ව **පිං ඇති සරසවි වරමක් දෙන්නේ** නමින් ස්වයං ලිඛිත චරිතාපදානයක් ද එතුමා විසින් සම්පාදනය කෙරිණි.

එදිරිවීර සරච්චන්ද්‍රයෝ භාරතයේ 'කුමාරන් අශාන්' විශ්ව සම්මානයෙන් ද, පිලිපීනයේ 'රැමොන් මැග්සෙසය' සම්මානයෙන් ද ජපානයේ 'ස්වර්ණ රජත' සම්මානයෙන් ද පිදුම් ලැබූහ.

ඉකුත් ශත වර්ෂය ආරම්භයේ මෙරට ප්‍රචලිතව පැවති ටීටර්, ටවර්හෝල්, මිනර්වා වැනි නාට්‍යවලින් වෙනස්ව ශ්‍රී ලාංකේය අනන්‍යතාවක් සහිත නාට්‍ය සම්ප්‍රදායක් ගොඩ නැගීම වෙනුවෙන් පර්යේෂණ කළ එතුමා, ඒ වෙනුවෙන් ගම්නියම්ගම්හි සැරිසරා අප පැරණි තොවිල්-පවිල් අභිචාර විධි, නාඩගම්, කෝලම් ආදී සංස්කෘතිකාංග අධ්‍යයනය කළේ ය. එමෙන් ම ජපානය ආදි ආසියාකරයේ වෙනත් රටවල නාට්‍ය සම්ප්‍රදායන් ද හැදෑරුවේ ය. එහි ප්‍රතිඵලයක් ලෙස බිහි වූ නාට්‍ය අතර 'සිංහබාහු' නාට්‍යය මුල් තැන්හි ලා සැලකිය හැකි ය.

මෙහි තේමාත්මක කතා පුවත මහාවංශයෙහි සඳහන් සිංහල ජාතිය බිහි වීම පිළිබඳ කතා පුවත යි. නාට්‍යය සඳහා එහි කතා සාරය පමණක් උකහා ගෙන ඇත. 'සිංහබාහු' ශෛලිගත සම්ප්‍රදායේ නාට්‍යයකි. එහි රසෝද්දීපනය සඳහා උපයුක්ත ගීතවත් බස් වහර ඔස්සේ සරච්චන්ද්‍ර නම් ගීත ප්‍රබන්ධකයා ද රසිකයාට මුණගැසෙයි. දශක පහක් තිස්සේ රංගගත වන සිංහබාහු නාට්‍යය ශ්‍රී ලාංකේය නාට්‍ය වංශකථාවේ ප්‍රබල සන්ධිස්ථානයකි. නාට්‍යයක අත්‍යවශ්‍ය ම අංගයක් වන 'ගැටුම' ඉතා ප්‍රබලව මෙහි නිරූපණය වේ. ගතානුගතිකත්වය සහ නූතනත්වය අතර වන සදාකාලික ප්‍රතිවිරෝධය මේ නළුවෙහි යටි පෙළ සේ දිවෙන බව විචාරක මතයකි.

වංග දේශයේ රජ කුමරියක වන සුප්පා දේවිය සිය සැමියා වන සිංහයා සහ සිංහබාහු, සිංහ සීවලී දෙදරුවන් සමග වනයේ වෙසෙයි. සිංහයාගේ ස්වරූපය වැඩිවියට පත් දරුවන්ට කුතුහලයක් දනවයි. ඔවුහු ඒ පිළිබඳව මවගෙන් තොරතුරු විමසති. සිංහබාහු නාට්‍යයේ එතැන් සිට කතාව දක්වෙන 'ලෙන අතහැර යෑම' නමැති දෙවන අංකය මේ පාඩමට ඇතුළත් වේ.

**ලෙන අතහැර යෑම**

## දෙවෙනි අංකය

### පොතේ ඉන්නිසය

| | | |
|---|---|---|
| මෙ සේ | හටගත් බිය සැක සිතින් පහ කරමි | න |
| තො සේ | වෙමින් එ මිගිඳා වෙසෙන සඳ පෙමි | න |
| බ ෙ ස් | මුවින් පිට වුණ නිසා වැඩුණ කුහුලි | න |
| වි ෙ ස් | සය පියාගේ දකිති දරුවෝ දින දි | න |

(සිංහබාහු පැමිණෙයි)

### පොතේ ඉන්නිසය

සිත නොම සැනසේ හිඳිනට මෙලෙසේ
දිවි හිමියෙන් මෙ ලෙනේ
බොහො ආදර ඇති මුත් මා පිය අපහට

පල නැත මෙ දිවියෙනේ
රොස් වී එදිනේ කී රැදු වදනේ
හද තුළ රැව් දෙන්නේ
අප නරයන් වග පැවසූ එ අරුමය
නැත මට වැටහෙන්නේ
අරණේ අපහට බිය පැමිණෙන්නට
කාරණ එළි වන්නේ
පියතුමගේ ගත නැරඹූ කල සිත
කුහුලින් ඉතිරෙන්නේ
නැත සම වන්නේ වෙනස පෙනෙන්නේ
විලස පියාණන්නේ
කෙලෙස ද ඔහු හට අප දා වූයේ
ඇයි මව නො කියන්නේ

**සිංහබාහු : වචනය**

ගොසින් මම මේ වග සියල්ල මෑණියන්ගෙන් අසා සොඳින් දැන ගන්නෙමි.
(නික්ම යයි)

**පොතේ ඉන්නිසය**

නෙක වර පුතු විසිනා අසන ලද පැන නි සා
සුප්පා දේවි මනා ඇති වී සිත වෙහෙ සා
සිදු වූ පුවත අනාවරණය කරන ලෙ සා
දෙදෙනා කැඳවා ගෙන කීවා තතු මෙලෙ සා

(සුප්පා දේවී පැමිණෙයි)

**සුප්පා දේවී : ඉන්නිස ගීතය**

සඟවන්නට තතු බැරි ය පුතුගෙන්
මිගිඳා නිතින සොඳිනා පෙනෙන විලසා
අදහන්නෙ නැත කීව ද මුසා
නැණ මුකුරා ගොස් ඇත පුරා වයසා

පවසන්ට තතු හද සංසලා
නැති වේ ද සෙනෙ හැර යා ද ලෙනෙ නොදැනා
වළකන්ට බැරි දේට පිහිටා
වනු දෙවියනේ මා අසරණේ නොහැරා

මා ප්‍රිය පුතණුවනි හා දුවණියනි, මා වෙත එනු මැන. ඔබ දෙදෙනාට කිව යුතු කිසිවක් තිබේ.
(සිංහබාහු හා සිංහ සීවලී පැමිණෙති)

**දෙදෙනා : වචනය**

අප කැඳවූයේ කිම ද කියා දැන ගනු කැමැත්තෙමු, මෑණියනි.

**සුප්පා දේවී, සිංහබාහු, සිංහ සීවලී : තර්ගය**

**සුප්පා දේවී :**

ප්‍රේමවන්ත දරුවෙනි මා
හිඳිනු කන් යොමා
කියමි පුවත සැක දුරැරා
අසන නිතියෙනා
මැණිය නුඹ දෙදෙනගෙ වේ
කුමරියක් මනා
පසිඳු මහඟු වංග දේසෙ
නරවර හට දා

**සිංහබාහු :**

කිම් ද මැණියනි ඔබ මේ
පවසන වදනා
ඇස් කන් ඇදහිය නොහේ ය
ඇසෙන මෙ අරුමා
ඔබ පා මුල හිඳුවා මා
වැඩෙන වයසෙ දී
රාජ කතා කී විසිතුරු
දූන් සිහි වන්නේ
සැප සයනා සුවඳ බොජුන්
තුමුල මාලිගා
ඈ සම්පත් හැරදා ඇයි
මෙලෙස වෙසෙන්නේ

**සිංහ සීවලී :**

රාජ කුමරියෝ පලඳිති
රන් මිණි බරණා
සිනිඳු වස්ත්‍ර හැඳලා රන්
මිරිවැඩි සඟළා
පින් පිඬ වැනි මා මැණිය
කියනු නොවළහා
ඇයි ද වල්කලා පොරවා
ලෙන තුළ ඉන්නේ

**සුප්පා දේවී :**

සිනිඳු වස්ත්‍ර මිණි අබරණ
තුමුල මාලිගා
සුවඳ බොජුන් සැප සයනා
මිරිවැඩි සඟළා
මේ සියල්ල හැරදා මම
ආවෙමි වලටා
වෙසෙන ලෙසා ඔබ පිය මා
සමිඳුන් සමගා

**සිංහබාහු හා සිංහ සීවලී :**

ඇයි ද පියාණන් සමගා
ලෙනෙහි වෙසෙන්නේ
හැර දමා එ රාජ ඉසුරු
උවදුරු අතරේ
රිසි නොවී ද මා පියාට
වාසෙ මාලිගේ
සියුමැලි ඔබ කැටුව ඉන්ට
මේ වනාන්තරේ

**සුප්පා දේවී :**

අසිරිමත් වූ දේකි මෙලොව
ප්‍රේමය නමිනා
වැනූ පොරණ කිවිඳුන් සොඳ
රස මුසු බසිනා
සියලු භෝග වස්තු ඉසුරු
හරිති නෙක් දනෝ
සව් සැප දෙන සිතුමිණ වන්
ප්‍රේමය සන්දා

**සුප්පාදේවී : වචනය**

ඔබ පියාණෝ නරයෙකු නො ව වනයෙහි දී මට හමු වූ සිංහ රාජයෙකි. ඔහු කෙරෙහි ඇති වූ ප්‍රේමය නිසා මම රාජ සැප හැර දමා මේ වනයෙහි වෙසෙමි, දරුවෙනි.

**සිංහබාහු : සින්දුව**

සිංහයෙක් වේ මා පියා
ජන්මයෙන් ලත් මේ අරන්නේ
පුරුදු වූ වාසේ සදා
කුමරියක් වේ මාගෙ මවු
උත්තරීතර ජන්ම ලද්දී
උරුම වූ යස ඉසුරටා
මට ද හිමි වේ වංග රාජ්‍යය
ප්‍රබල නරවර පරපුරෙන්
කුමක් දෝ මෙ පාපේ ලෙනේ මේ විසීමේ
සෙතක් දෝ

යන්ට දැන් නම් කාලෙ වේ
මැණියන් හා නැගණි සමගින්
උරුමෙ අපගේ සොයමිනා
වංග දේසේ වෙසෙන ජනතා
කෙරෙහි වේ මා යුතුකමා
කුමක් දෝ මෙ පාපේ ලෙනේ මේ විසීමේ
සෙතක් දෝ

**සිංහබාහු, සුප්පා දේවී, සිංහ සීවලී : සැහැලි තර්ගය**

**සිංහබාහු :**

මැණියනි කීව ඔබ බස් අසා
සනිටුහන් කර ගතිමි
නොපමා ව යා යුතු ය
මේ ලෙනෙන් ඔබ දෙදෙන
මා සමග යා යුතු ය
වන වාසෙ හැර දමා
නර වාසෙ සොයමිනා
අප දෙදෙන හට උරුම
ජීවිතය මේ නො වේ

**සුප්පා දේවී :**

මෙවන් බස් දොඩනු කිම
ඔබ පියා හැර දමා
යා හැකි ද මේ ලෙනෙන්?
අප නැතිව පියා ඔබ
ළය පැළී මැරී යයි
පුරුදු වූ වන වාසෙ
මෙහි සැපත නොසැහෙ ද
ඔබ පියා සමගිනා
මෙතෙක් කල් වින්ද මා?

**සිංහ සීවලී :**

මා පියා හැර දමා
යන්නෙ අප කෙලෙස දෝ
වලට ගොස් විඩා වී
පැමිණි විට නැත කෙනෙක්
අහර පිස දෙන්නටා
හුදෙකලා මේ ලෙනේ
ඉන්නෙ ඔහු කෙලෙස දෝ
නැද්ද වෙත පියාණන්
ආදරේ ඔබ හදේ

මෙවන් දේ කියන්ටා
සොහොයුරනි පෙම්බරා

**සිංහබාහු :**

ඔබ දෙදෙන මා සමග
නො ආවොත් යන්ට වේ
ඔබ දමා මේ ලෙනේ
මට උරුම වූ දිවිය
මා සොයා යා යුතුයි
නැසෙන තුරු මේ ලෙනේ
සිටිය මුත් අප පියා
අප සමග නො එන්නේ
පුරුදු වූ වන වාසෙ
හැර දමා කිසි දිනේ
සපල කර ගත නොහැක
ජීවිතේ මේ ලෙසේ

**සිංහ සීවලී :**

කෙසේ හෝ යා නොහැක
ඇතේ තර කර වසා
දොර ලෙනේ මහ ගලින
පියතුමගෙ රුදු තුමුල
බාහු යුවළින් ම මිස
බැරි ය සොලවන්ට එය
යන්ට නො සිතන්න මා
සොහොයුරනි පෙම්බරා

**සිංහබාහු, සුප්පා දේවී : තර්ගය**

**සිංහබාහු :**

තුමුල ගතින් දා
බාහු බෙලෙන් දා
වෙමි සේ තිදසින් දා
කුරිරු ගිජින්දා
කුඹු තල සින්දා
ලමි සේ කෙසරින්දා
මා පිය මිගිඳා කරනා විකුමන්
ඇයි මට බැරි වන්නේ

තර කර ගලිනා ඇති දොර තදිනා
ඉවත දමා වෙරෙනා
මහ හෙණ හඬිනා පහරා සැණිනා
පෙරළමි බාහුවෙනා

**සුප්පා දේවී ඃ**

නොකරන් එලෙසා පියතුමගේ අණ
ඉක්මවලා පුතුනේ
නපුරුයි වන්නේ අප සැම දෙනටා
නොකළොත් කී ලෙසිනා

**සිංහබාහු ඃ**

පටහැණි වෙන්ටා නොව ඔහු අණටා
වෙන මඟ ගැලවෙන්ටා
නොපෙනෙන කලටා සැරසෙනු කුමටා
මා දූන් වළකන්ටා

(නික්ම යයි)

**පොතේ ඉන්නිසය**

| | |
|---|---|
| සේ රිවි බිම්බා පතළ තෙද බලැති | මහරු |
| මෙන රන් ටැම්බා නිසසල ගුණයෙන් | සපිරු |
| මනරම් යුග බා දී අහස ඔසවන | යුරු |
| නෙ විකුම් සිහ බා පෙරළුවේ ය ගල් | පුවරු |

**සුප්පා දේවී ඃ සින්දුව**

වේ රුදු දෝසා කළ මේ දේ
මා පුතු නොතකා විපාකේ
මුව පත් වූයේ
නියත විනාසේ
මේ මොහොතේ කිම් කරනෙම් දෝ
මුළා වී මග නොපෙනේ

යන්නට වේ දූන් සැමියා හැරා
වන වාසෙන් මේ පුතු සමගා
දරුවන් දෙදෙනා
හට සෙත් ලැබෙනා
මග ඔස්සේ යා යුතු වන්නේ
නොසැලී කිසි මෙම වේලේ

දෙවියන් බාරයි මා සමිඳා
මා වෙත නොවනු ය කෝපා
දරුවන් සන්දා
කරනෙම් මෙබන්දා
සිහි වේ හැම කල් හද සෝකෙන්
සමා වනු ඇත වරදා
(සිංහබාහු ආපසු පැමිණේ)

**සිංහබාහු : වචනය**

මා ගල පෙරළා ලෙන් දොර හැරිය බව ඔබ දන්නෙහි ය, මෑණියනි. අවට ලෝකය ඉතා රමණීය වේ. කිසිදු බියක් සිතට නො නැගේ. ඔබ හා නැගණියෝ ද මා සමග යන්ට කැමැත්තහු නම් මගේ අධිෂ්ඨානය මුදුන් පත් වේ. යළිත් සිතා බලනු මැනවි.

**සුප්පා දේවී : වචනය**

නුඹගේ ද නුඹ නැගණියන්ගේ ද යහපත පිණිස මම නුඹ පියාණන් හැරපියා යන්ට සනිටුහන් කර ගතිමි. මා මෙසේ කරන්නේ හද තුළ ඇති මහත් වේදනාවකිනි. දිවි හිමියෙන් මා ඒ වේදනාවෙන් පෙළෙන බව දනිමි. යමු දරුවෙනි.

**සිංහබාහු : වචනය**

ඔබේ සනිටුහන ඉතා යෙහෙකි, මෑණියනි, නැගණිය මා වම් උරහිස මත ද ඔබ මා දකුණු උරහිස මත ද තබාගෙන මේ ඝෝරතර වනාන්තරයෙන් එතර වන්නෙමි.

**පොතේ ඉන්නිසය**

පුරුදු පරිදි වනයෙන් සොයාගෙන නෙක් ගොදු රූ
මිගිදා එයි සතොසින් නොදන වූ සේ නපු රූ
දක ගල පසෙක වැටී ලෙන හිස්ව තිබි අයු රූ
දෑඩි සොවින් ගොස නගා වන පෙත කරයි දදු රූ

(සිංහයා පැමිණෙයි)

**සිංහයා සිංදුව**

ගල් ලෙන බිඳලා
ලෙන් දොර හැරලා
සිංහබා සිංහබා සිංහබා

මා සොඳුර මා සොඳුර මා සොඳුර
සිංහ සීවලී මා ප්‍රිය දියණිය
ගල් ලෙන බිඳලා
ලෙන් දොර හැරලා
ගොසින් හැම දෙන
නැතේ කිසිවෙක්
මම දැන ගතිමි
මම සැක කළෙමි
සිංහබා සිංහබා සිංහබා

ලෙන තුළ නො වෙති
පෙරළා නො එති
මම දැන ගතිමි මම සැක කළෙමි

සුරතල් දියණිය
මොලකැටි වදනින්
මා සනසන්නිය
අහර පිසන්නිය
කවන්නිය, පොවන්නිය

මා ගැන බිය වන්නිය
වනයේ දුකක් වී ද
අසන්නිය සොයන්නිය
ඇත් ගොසින් ය

ඇයි සුදු දුවණිය
නුඹවත් නො සිටියෙ
සොහොයුරා නම්
ඔළමොළ ගති ඇත
නුඹ මෙන් මුදු නැත
ඔහුගේ අණට ද
කීකරු වූයේ
පෙරළා එන්නෙ ද
ඔහුගෙන් ගැලවී

හෙණයක් සේ පතිත වූ අහසින්
හිස මතට දෙදරුම් දී
බමවා ම ඉඳුරන් අඳුරු කරමින්
පහරිනා රුදුරු
කිම් ද නො කියා යන්ට කාරණා
වී ද මන දොළ කිසිත් නො පිරුණ
වීද මන දොළ කිසිත් නො පිරු මා

විසුවා ම සමග ආලයෙනා
දරු රුවන් දෙදෙනකු දී
දරු රුවන් දෙදෙනකු දී ම පෙම්බර
ඇයි ද අරුචි වුණේ

නැද්ද දරුවෝ මා කෙරේ ලැදි
උන්ට මාගෙන් වූයෙ වරද ද
උන්ට මාගෙන් කිම්ද වූ වරදා

ගොස් සෙදින මම සොයනෙම් වනපෙත
සියලුම ගම රට නර කැල හැසිරෙන

නොදනිති හසරක් නුපුරුදු එ තිදෙන
පැමිණෙන පිරිපත වළකනු කෙලෙස ද
දිරි ඇති මුත් පුත නරයෙකි ගත මුදු
ලොව දැක නැත අද වන තුරු කිසි කල

(නික්ම යති)

## අභ්‍යාස

01. "දරුවන්ගේ සුබ සිද්ධිය තකා ක්‍රියා කරන මවකගේ චරිතය සුප්පා දේවියගෙන් සංකේතවත් වෙයි." පාඨම ඇසුරෙන් නිදසුන් සහිතව විමසන්න.

02. භාෂා භාවිතයේ දී සරච්චන්ද්‍රයන් දක්වා ඇති දක්ෂතාව, දී ඇති නාට්‍ය කොටස ඇසුරෙන් විස්තර කරන්න.

03. "සිංහබාහුගේ චරිතයෙන් තරුණයකුගේ අදහස් හා ක්‍රියාකාරිත්වය මනාව පිළිබිඹු වේ" පාඨම ඇසුරෙන් පැහැදිලි කරන්න.

# 8 අඟුල්මල් දමනය

ගුරුළුගෝමි
(පොළොන්නරු අවධිය)

## අමාවතුර

බුදුරජාණන් වහන්සේගේ 'පුරිස දම්ම සාරථි' ගුණය මුල් කොට ගෙන ගුරුළුගෝමි නම් පඬිවරයා **අමාවතුර** රචනා කොට ඇත. ගුරුළුගෝමි පඬිතුමන් විසූ යුගය නිශ්චිත වශයෙන් ම සඳහන් ව නැතත්, විවිධ විද්වත් මතවලට අනුව ඔහු සිටි යුගය පොළොන්නරු රාජ්‍ය කාලයට අයත් වන බව පිළිගැනේ.

මෙහි අන්තර්ගත පරිච්ඡේද ගණන දහඅටකි. ඉන් පළමු පරිච්ඡේද තුන වන දුර්දාන්ත දමනය, ස්වසන්තාන දමනය හා පරසන්තාන දමනය යන්නෙහි වස්තු නිර්දේශයේ දැක්වෙන පරිදි බෝසතාණන් වහන්සේ පෙරුම් දම් පිරූ අවස්ථා දැක්වෙන ජාතක කතාවන්ගෙන් ආරම්භ කොට බුදුරජාණන් වහන්සේ දෙව්රම් වෙහෙර පිළිගැනීම දක්වා වූ කතා, ප්‍රකාශ වේ. හතරවන පරිච්ඡේදයේ එන ගෘහපති දමනයේ දී නැවතත් වස්තු නිර්දේශයක් ඉදිරිපත් කරමින් 'පුරිස දම්ම සාරථි' ගුණය විස්තර කරයි.

ඒ අනුව උපාලි ගෘහපතියාත්, කුටදත්ත බමුණාත්, අජාසත් රජුත්, අංගුලිමාලත්, සභිය පරිබ්‍රාජකයාත්, සච්චක බමුණාත්, පාථික පුත්‍ර දිගම්බර ජෛනයාත්, සච්ච බද්ධක ජටිලයාත්, බාවරික තවුසත්, ශාක්‍ය භික්ෂුවත්, නන්දෝපනන්ද නාගරාජයාත්, නාලාගිරි ඇත් රජුත්, ආලවක යක්ෂයාත්, රාහු අසුරින්ද්‍රයාත්, බක නම් බඹහුත් දමනය කළ ආකාරය අමාවතුරෙහි දැක්වේ. මෙහි එන 'නාග දමනය' නම් වූ දාහතර වන පරිච්ඡේදයේ පමණක් කොටස් දෙකක් යටතේ දමන දෙකක් දක්වයි. ඒ නාග ශබ්දයෙන් ප්‍රකාශ වන නාගරාජයකු දමනය කිරීමත්, නාග ශබ්දයෙන් ම ප්‍රකාශ වන ඇතකු දමනය කිරීමත් ය.

අමාවතුර රචනා කිරීමෙහි කතුවරයාගේ බලාපොරොත්තුව කුමක්ද යන්න "නොවියත් හුදී ජනන් සඳහා සිය බසින් මා විසින් සැබෙවින් දක්වනු ලැබේ" යන ප්‍රකාශයෙන් තහවුරු වේ. එනම් පාලි සංස්කෘත භාෂා නූගත් සාමාන්‍ය ජනයා සඳහා සිය බසින් (සිංහල භාෂාවෙන්) මෙම කෘතිය සම්පාදනය කොට ඇති බව පැහැදිලි වේ. අමාවතුර ග්‍රන්ථයෙහි භාෂාව පිළිබඳව විමසීමේ දී පැරණි සිංහල භාෂාව ද බෙහෙවින් ම උපයෝගි කර ගෙන ඇති බව පෙනේ. සිංහල කතා කලාවේ සංක්ෂිප්ත රීතිය නිරූපණය කරන කෘතිය මෙයයි.

අමාවතුර ග්‍රන්ථයෙහි හත්වැනි පරිච්ඡේදයේ ඇතුළත් වන්නේ අඟුල්මල් දමනයයි. අංගුලිමාලගේ උපතේ සිට බුදුන් සරණ යැම දක්වා කතාව එහි අන්තර්ගත වේ.

## අඟුල්මල් දමනය

අඟුල්මල් සොරහු දමූ පරිදි කිසෙ යැ යත්ඃ කොසොල් රජහුගෙ භර්ග නම් පුරෝහිතයා පිණිස මන්තාණි නම් බැමිණි ගබ් ගෙනැ ඊ පුතකු ප්‍රසව කළා. ඔහු මවු කුසින් නික්මෙන කලැ සියලු නුවරැ ආයුධ දිලිණ. රජුගෙ යහන්හි තුබූ මඟුල්කඩුව ද සෙසු අවි දූ දිලිණ. බමුණු නික්මැ නකත්තරු බලන්නේ සොරනකතින් උපන් බව් දැනැ රජු කරා ගොස් ''දවස් ගිය සෙ සුව දැ?'' යි පිළිවිත. රජ ''දවස් ගිය සෙ නොසුව යැ. ඊ මා ගෙ මඟුල් අවි දිලිණ. රජයට හො දිවියට හො අන්තරාය වෙයි යන සිතින් නිඳි නො ලත්මී'' කී යැ. ''මහරජ, නො බව. මා ගෙ ගෙහි කුමරෙක් උපන. උහු ගෙ අනුභාවයෙන් තොප ගෙ මතු නො වෙයි, සියලු නුවරැ ආයුධ දිලිණැ'' යි කී යැ. රජ එ කල්හි ''කිමෙක් වෙ?'' යි පුළුවුත්තෙන් ''සොරෙක් වේ'' යි කී යැ. ''එක සොරෙක් වෙයි හො? බොහො සොරුන් ගෙනැ රට පහරනට නිසි සොරෙක් වෙයි හො?'' යි කී යැ. ''එක සොරෙක් වෙයි, මහරජ'' යි කී යැ. එසෙ කියා තමා රජු සිත් ගන්නා සඳහා ''උහු හැරැ-පියුව මැනැවැ හො? යි කී යැ. ''එක සොරකු බැවින් කුම් කෙරෙයි! පිළිදගුව උහු යැ'' යි කී යැ. ඔහු නම් තබන්නාහු ''සියලු නුවරැ දිලියෙන අයුධයො කිසි කෙනෙක්නට හිංසා නො කළහ'' යි 'අහිංසක' නම් තුබූහ.

ඔහු විය පත් කල්හි මවුපියො ශිල්ප උගන්නට තක්සලා නුවර නගා-යවූහ. හෙ ධර්මාන්තෙවාසික වැ ශිල්ප උගන්නි. වත්සපනැ, කී කී දැයක් වහා සපයයි, මන වඩන නියායෙන් හැසිරෙයි, පෙම් වඩන නියායෙන් බෙණෙයි. සෙසු දරුවො පිටත් වූහු. ඔහු ''අහිංසක මාණවකයා ආ තැන් පටන් ගෙනැ ඇපි නො පෙනෙම්හ. උහු කිසෙ බිඳුවම්හ!'' බැණැ-ගන්නාහු ''හැම දෙනා හට වඩා නුවණැති බැවින් 'නුවණ නැත්තෙ යැ' යි නොකිය හැක්ක. වත්සපනින් 'නොවත් සපනැ' යි නොකිය හැක්ක. ජන්ම ඇත්තෙන් 'අජන්මවතැ' යි නො ද කිය හැක්ක. කුමක් කරම්හ!'' යි, ''ආචාර්යයා අඹුව හා සසඟ ඇත්තෙ යැ යි බිඳැ-පියම්හ'' යි බැණැ-ගෙනැ තුන් රැසක් වැ පළමු ඇතැම් කෙනෙක් ආචාර්යයා කරා එළඹැ වැඳැ සිටියාහ. ''කිම් ද දරුයෙනි?'' කීයෙන් ''මෙහි ඇසෙන දෑයෙක් ඇති'' යි කීහ. ''කිමෙකැ හො?'' යි කීයෙන් ''අහිංසක මාණවකයා තොපට වරද්දයි ගත්තාම්හ'' යි කීහ. ආචාර්ය උනට දැහැවැ ''යටත්නි, මපුතු මා කෙරෙහි නො බිඳැ-පියටියාව'' යි නෙරැ-පීයැ. 'අනෙක් වටැ අනෙක් රැසැ' ඇත්තො ආහ. අනෙක් වැට අනෙක් රැසැ ඇත්තො ආහ' යි තුන් රැසැ මැ ඇත්තො අවුදු එ සෙ මැ කියා ''අප නො හදහා නම් තෙපි මැ පිරික්සා බලව'' යි කීහැ.

ආචාර්ය ඔවුන් තමා සනා ඇති වැ බණින සෙ දැකැ 'ඇය හා ඔහු සසඟ ඇති සෙ යැ' යි බිඳී 'ඔහු මරමී' සිතී. 'ඉදින් ඔහු මැරුයෙම් වීම් නම්, 'දිසාපාමොක් ඇදුරු තමා කරා ශිල්ප උගන්නට ගිය දරුවන් දොස් දක්වා මරයි, කියා වටාලා ශිල්ප උගන්නට එන්නො නො වෙති. එ සෙ වන්නා හා මට ලාභ පිරිහෙයි. එ සෙ බැවින් ශිල්ප සමහරයට උපචාර යැ යි කියා මිනිස්දහසක් මරන්නට කියමි. එකාන්තයෙන් එයින් එකෙක් ඔහු මරයි'' සිතා ''පුතැ, මිනිස් දහසක් මැරුව මැනැවැ. එ සෙ වන්නා ශිල්පයට උපචාර කළා වේ'' යි කී යැ. ''ඇපි අන්නට හිංසා නොකරන කුලෙහි උපන්නම්හ. එ සෙ නොකට හැක්කැ'' යි කී යැ. ''ශිල්පයට උපචාර නොකරන්නා එල නො දෙයි, පුතැ,'' යි කී යැ. හෙ පඤ්චායුධ ගෙනැ ආචාර්යයා වැඳැ අටවියට වැදැ අටවියට වදනා තන්හි දු අටවිමධ්‍යයෙහි දු අටවියෙන් නික්මෙන තන්හි දු සිටැ මිනිසුන් මරයි. පිළී ඈ කිසි අයතියක් නොගන්නි. 'එකෙකැ, දෙකෙකැ' යි

ගණන් මතු කෙරෙමින් යෙයි. මෙ නුවණ ඇත ද, පණිවා කරනුවන් සිත් නොපිහිටන බැවින්, කල් යත් යත් ගණනුදු නො දත. එකෙකි ඇඟිලි කපා-ගෙනැ තබයි. තුබු තුබු තැනැ ඇඟිලි නස්සි. එ නස්නා සෙ දැකැ ඇඟිලි විදූ මාලා කොටැ ධැරී යැ. එයින් හෙ 'අංගුලිමාල' නම් යැ.

හෙ හැම අරණ්‍යයෙහි හසර නැති කෙළෙ. දර පලා සඳහා වල් යන්නාහු නැති. රෑ ගමට වැදූ පයින් පැහැරැ දොර ගලවා-පියා එහි හොතුවන් මරා-පියා 'එකෙකැ දෙකෙකැ' යි ගැණැගෙන-යෙයි. එ කල්හි ගම්වැස්සො ගම් පියා ගොස් නියම්ගම් වන්හා. නියම්ගම්වැස්සො ගොස් නුවර වන්හු. තුන් යොජනක් තන්හි මිනිස්හු ගෙ පියා දරුවන් අතැ ගෙනැ ගොස් සැවැත් නුවර වටා කඳවුරු බැඳැ රාජාඞ්ගණයෙහි රැස් වැ "මහරජ, තා ගෙ රට අඞ්ගුලිමාල නම් සොරෙක් වි යැ" කියා කියා වලපිත්.

පිය බමුණු 'ම පිත් වන්නෙ වෙයි' සිතා, මවුබැමිණියට "අගුල්මල් නම් සොරෙක් උපන. හෙ අනෙකෙක් නො වෙයි, තී පිත් අහිංසක කුමාර යැ. දැන් රජ ඔහු ගන්නට යෙයි. කුමක් කට යුත්තෙ යැ?" යි කී යැ. "යා හිමි, ම පුතු ගෙනැ එ" යි කිව. "සොඳුර, මම් යන්නට නො නිස්සෙමි. සතර දෙනකු කෙරෙහි විස්වස් නැතිඃ සොර 'පෙරැ මා සබඳහ' යි විස්වස් නො කට යුත්තෙ යැ. තමා පළමු අතොට හුන් කොළ 'මා පෙරැ වළඳ ගත්තෙ යැ' යි විස්වස් නො කට යුත්තෙ යැ. රජ 'මා හා සබඳහ'යි විස්වස් නො කට යුත්තෙ යැ. ස්ත්‍රී 'මට වශ්‍ය යැ' යි විස්වස් නො ද කට යුත්තෙ යැ" යි කී යැ. මවුන් වනාහි ළ මෙළෙක් වෙයි. එයින් හො "මම් මැ මපුතු ගෙන එමී" නික්මුණ.

එ දවස් බුදුහු දෙව්රම්හි වෙසෙමින් අලුයම් සමාහි ලො බලන්නාහු අගුල්මල් සොරහු දැකැ 'මා ගිය කලැ ඔහුට සෙත් වෙයි. ගම් නැති තැනැ මහ වල්හි සිටියෙ සිවුපදගයක් අසා මා කෙරෙහි පැවිජි වැ රාත් වෙයි. ඉදින් නො ගියෙම් නම් මව මරා සසරින් නො නැගිය හැකි වෙයි. ඔහට සඞ්ග්‍රහ කළ මැනැවැ' යි පෙරවරු සුගත් මහපහුල් හැඳැ පෙරෙවැ නුවර වැදූ වළඳා වෙහෙර ගොස් ඔව්හට සඞ්ග්‍රහ කටැටි වැ දෙව්රමින් නික්මැ අධන්මඟ පිළිපන්හු. එකල්හි ගොන් රක්නාහු, වස්සන් රක්නාහු, සහන්නාහු, ගමන් යන්නාහු බුදුන් එකලා වැ බුදුරැස් නො විහිදූ වඩනුවන් දැකැ නො හැඳිනැ "මහණ, එ මඟට නො යා. එ මඟැ අගුල්මල් නම් සොරෙකැ, දරුණැ, ලෙහෙ මුඩු අත් ඇත්තෙ යැ, සතුන් කෙරෙහි කුළුණු නැත්තෙ යැ, ගම් නොගම් කෙළෙ, නියම් ගම් නොනියම්ගම් කෙළෙ, දනවු නොදනවු කෙළෙ, මිනිසුන් මර මරා ඇඟිලි විදූ මාලා කොටැ ධරයි. මහණ, තෙල මඟට පුරුෂයො දස දෙන දු විසි තිස් සතලිස් පනස් දෙන දු සැක ඇති වැ සන්නද්ධ වැ වග වග වැ යෙති. ඔහු දු අගුල්මල් සොරහු අතැ නස්තී" කීහ. බුදුහු ඔවුන් තුන් යලක් කියතුදු නො බැණැ නැඟී වැඩියො.

සොර දු එ සමාහි දුබ්භොජනයෙනුදු දුක්ඛසෙය්‍යායෙනුදු උකටලි වී. ඔහු මැරූ මිනිස්හු එකක්හු උනු දහසක් දෙන යැ. හෙ වනාහි "එකකු විසින් දහස සපිරෙ"යි යන සිත් ඇති වැ 'යමක්හු පළමු දිටිම් ද, ඔහු මරා ගණන් සපුරමි. ශිල්පයට උපචාර කොටැ දැළි කප්වා නහා පිළි පෙරළා මවුපියන් දක්මි' යි අටවියට වදනා තැනට අවුදු මඟින් පහ වැ සිටියෙ, බුදුන් දැකැ විස්මිත වැ "මෙ මඟට පුරුෂයො දස දෙන දු විසි තිස් සතලිස් පනස් දෙන දු

සැක ඇති වැ සන්නද්ධ වැ වග වග වැ එති. ඔහු දු මා අතැ නස්ති. එතෙකුදු හොත් මෙ මහණ එකලා වැ මා අභිභවමින් මෙන් එයි. මෙ මහණහු මැරුව මැනැවැ' යි කඩු පලග ගෙනැ දුනු හියවුර බැඳැ බුදුන් පස් පස් ලුහුබඳවමින් යෙයි. යම් සෙ අඟුල්මල් සොර බුදුන් පියෙවි ගමනින් වඩනුවන් බැල පමණින් දිවෙනුයෙ හඹා නො ගත හෙ ද, එ වැනි අධිෂ්ඨානයක් කොළො. කි සෙ යැ යත්: මහපොළොව නැඟි නැඟී බස්නා රළ සෙයින් උහු ඇරැ බහ බහා සිටිවයි. හී-සනක් පමණ තැන් පියා යෙයි. ගිය කලැ බුදුහු පෙරට මහත් අඩිගණයක් දක්වා තුමුහු මධ්‍ය වෙති. හෙ අන්ත්‍ය වෙයි. 'දැන් මොහු හඹා-ගන්මි' යි බැල පමණින් දිවෙයි. බුදුහු එ අඩිගණයෙහි කෙළවරැ වෙති. සොර මධ්‍යයෙහි වෙයි. හෙ 'මෙ තැනැ දී ඔහු හඹා-ගන්මි' යි වෙළෙවි වැ දිවෙයි. බුදුහු එහි පෙරට වළක් හො ගොඩක් හො දක්වති. මෙ නියායෙන් ඔහු තුන් යොජනක් තැන් ගෙනැ වැඩියො.

සොර ක්ලාන්ත වි යැ. මීයෙහි කෙළ සිඳී ගියෙ. ශරීරයෙන් ස්වේද බස්සි. එ කලැ අඟුල්මල් සොර විස්මිත වැ 'මම් පූර්වයෙහි දිවෙන ඇතුන් ලුහුබැඳ ගනිම් මැ යැ. අසුන් ලුහුබැඳ ගනිම් මැ යැ. රථ ලුහුබැඳැ ගනිම් මැ යැ. දිවෙන මුවන් ලුහුබැඳ ගනිම් මැ යැ. එතෙකුදු හොත් මම් මෙ මහණහු පියෙවිගමනින් යන්නහු බැල පමණින් දිවෙනුයෙම් හඹා නො ගත හෙමි' යි සිටැ, බුදුනට "සිට මහණ" යි කී යැ. බුදුහු "මම සිටියෙමි. තො ද සිට" යි වදාළො. එ සඳැ අඟුල්මල් සොර 'මෙ සෑ මහණහු සබව් කියති. මෙ මහණ යනුයෙ මැ 'මම සිටියෙමි. තො ද සිට' යි යෙයි. යම් කාරණයකින් මෙ මහණ යනුයෙ 'සිටියා' නම් වෙ ද, මම් සිටියෙම් 'නො සිටියා' නම් වෙම් ද, එ කාරණය පිළිවිසැ බැලුව මැනැවැ' යි සිතා "මහණ, 'තො යන්නෙහි, 'සිටියෙමි' යි යෙහි. මා සිටියා හට 'නො සිටියාහ' යෙයි. තො කිසෙ සිටියෙහි? මම් කිසෙ නො සිටියෙමි?" පිළිවිත්.

එ සඳ බුදුහු "අඞ්ගුලිමාලය, හිංසා සඳහා සතුන් කෙරෙ පැවැත්විය යුතු යම් දඬෙක් ඇද්ද, එ හැම කල්හි පියා ක්ෂාන්තිමෛත්‍රියැ සිටි වන බැවින් මම් 'සිටියා' නම් වෙමි. මෙතෙක් දහස් සතුන් මරන තා ක්ෂාන්තිමෛත්‍රියැ නොසිටි වන බැවින් තො 'නොසිටියා' නම් වෙහි. දැන් තො ඉරියවු විසින් සිටියෙහි ද, නිරයැ හො සිටිහි, තිරිසන් යොනියැ හො ප්‍රෙතවිෂයයෙහි හො අසුරකායයෙහි හො සිටිහ" යි වදාළො.

එ කල්හි අඟුල්මල් සොර බුදුන් ගෙ දෙශනා අසා, 'මෙ වෙනි සිංහනාදයෙක් අනෙකක් හට වන්නෙ නො වෙයි. මෙ මහාමායා දෙවිය පුතු සිද්ධත් මහණරජහු ගෙ ගර්ජනා යැ. මම් තියුණු නුවණ ඇති සම්මා සම්බුදුන් විසින් දක්නා ලද බන්දෙමි. බුදුහු යැ මට සඞ්ග්‍රහ සඳහා මෙයට වැඩියහ' යි සිතා, "දෙව්මිනිසුන් විසින් පුදන ලද බුදුරජ බොහො කලක් ගිය කලැ මට වැඩ සඳහා මෙ මහ වලට වැඩි යැ. මෙ තැන් පටන්-ගෙනැ පව් නො කෙරෙමි; තොප ගෙ මියුරු කථා අසා යැ" යි තමා ගෙ පඤ්චායුධ ප්‍රපාතයෙහි බහා-පියා බුදුන් වැඳැ පැවිජ අයදි යැ. බුදුහු ඔහුට එහිභික්ෂුභාවයෙන් පැවිජි දුන්හ.

බුදුන් මොවුන් පැවිජි කරන කලැ 'කර සෙවුව මැනවැ පාසිවුරු සෙවුව මැනැවැ' යන කිස නැති මොහු පූර්වයෙහි සිල්වත්නට අටපිරිකර දුන් බව් දැනැ "එ, මහණැ" යි දකුණත දික් කළහ. එ විගස ගිහිවෙස් අතුරුධන් වි යැ. මහණවෙස් පහළ වි යැ. ඍද්ධිමය පා සිවුරු ශරීරයෙහි ප්‍රතිමුක්ත වි යැ. හෙ මැ ඔහට පැවිජි වි යැ. හෙ මැ උපසපන්කම් වි යැ. එහිභික්ෂුභාවයෙන් උපසපන්නානට සඟුන් ගෙ උපසපන්කම් ඇත්තෙ නො වෙයි.

මෙසෙ බුදුහු අඟුල්මල් සොරහු දමා මහණ කොටැ පා සිවුරු ගන්වා-ගෙනැ සැරිසරමින් සැවැත් නුවර ගොස් දෙව්රම් වෙහෙරැ වැඩවෙසෙති. එ දවස් ඔවුන් මවු එ වනයට ගොස් අට ඉස්බක් පමණ තැනින් අන්තරිත වැ "පුතැ අහිංසකය, කොහි සිටියෙහි? කොයි හුන්නෙහි? කොයට ගියෙහි? පුතැ, මා හා නො බෙණෙහි නො?" යි කියමින් වැද ඇවිද නො දක ගෙට ගියා.

එ කල්හි මහාජනයො කොසොල් රජු ගෙ ගෙවද්දොර රැස් වැ "මහරජ, තොප ගෙ රට අඟුල්මල් නම් සොරෙකැ, දරුණැ, ලෙමුඬු අත් ඇත්තෙ යැ, සතුන් කෙරෙහි කුළුණු නැත්තෙ යැ, ගම් නොගම් කෙළෙ, නියම්ගම් නොනියම්ගම් කෙළෙ, දනවු නොදනවු කෙළෙ, මිනිසුන් මරා ඇඟිලි විද මාලා කොටැ ධරයි. ඔහු වළකා" යි කියා මහ හඬින් හැඬූහු.

රජ නොයෙක් වරැ "ඔහු ඇතැණියෙන් තිරු කොටැ ගන්නෙ යැ" යි ඇතුන් දී යවී යැ. "අසැණියෙන් තිරු කොටැ ගන්නෙ යැ" යි අසුන් දී යවී යැ. "රථැණියෙන් තිරු කොටැ ගන්නෙ යැ" යි රථ දී යවී යැ. ඔවුන් ගොස් එ වටා-ගත් කල්හි ඔහු නැඟී "මම අඟුල්මල්මි" ශබ්ද කරන්නා හා ආවුධ පෙරළන්නට නිසි එකෙකුදු නැති. හෙ හැම දෙනා කොටා මරයි. ඇත්හු වල්ඇත් වෙති. අස්හු වල්අස් වෙති. රථ එහි මැ තිබී නස්සි. එ කල්හි රජ මහ ජනා ගෙ ගිගිරියෙන් "මා මැ ගිය මැනැවැ. ඉදින් සොර හට පරාජය වී නම්, ලුහුබැඳැ ගන්මි. ඉදින් මට පරාජය වී නම්, සල්හු වැ පලායෙමි" පන්සියක් අසුන් සදා-ගෙනැ සිවුරඟ සෙනඟ ගෙනැ සැවැත් නුවරින් නික්මැ සොරු කෙරෙ බිරි සිතින් නොයාටි වූයෙ ද ගරහනු බියෙන් යනුයෙ 'බුදුන් දකැ ගිය මැනැවැ' යි දෙව්රම් වෙහෙර ගියෙ. කුමක් සිතා ගියෙ යත්: 'ගොස් බුදුන් වැඳැ එකත්පස්වැ හිඳිමි. 'කවර හෙයින් බැළ ගෙනැ නික්මුණුහි?' යි බුදුන් වහන්සේ මා පුළුවුස්නා දැ යැ. එ කලැ මම් කියමි. බුදුහු වනාහි මට හුදු පරලොවින් මැ සඞ්ග්‍රහ කරන්නාහු නො වෙති. මෙ ලොවිනුදු සඞ්ග්‍රහ කෙරෙත් මැ යැ. ඉදින් මට ජය වෙ නම්, 'මහරජ, එක් සොරකු සඳහා තා ගිය මනා නො වෙ' යි වදාරන දැ යැ. එ කලැ මහා ජනයො 'රජ සොරු නසන්නට යන්නෙ බුදුන් විසින් නවත්නා ලද යනු දන්ති. එ සෙ වන්නා හා මා නො ගරහත' යන සිතින් වෙහෙර ගියෙ, ගොස් බුදුන් වැඳැ එකත්පස් වැ හුන්නෙ යැ.

එකල්හි බුදුහු "කිම, මහරජ, තට බිම්සර මහරජ කුපිත වියැ හො? විසාලා මහනුවර වැසි ලිච්ඡවි රජහු කුපිත වූහ හො? සෙසු ප්‍රතිපක්ෂ රජ කෙනෙක් කුපිත වූහ. හො?" යි වදාළහැ. "වහන්සේ මට දැහැවි රජ කෙනෙක් ඇත්තාහු නොවෙති. මා ගෙ රට අඟුල්මල් නම් සොරෙකැ, උහු ගන්නට යෙමී" කී යැ. එ කලැ බුදුහු "ඉදින් මහරජ, තො අඟුල්මල්හු කෙහෙ බහා සිවුරු හැඳැ පෙරෙවැ පැවිජි වැ පණිවා ඈ පව්කැමින් විරත වැ එක් වෙලෙ වළඳා බඹසරවස් රැකැ සිල්වත් වැ කලණදහම් පුරා වසන්නහු දිටිහි නම්, උහුට කුමක් කෙරෙහි? යි වදාළහැ. "වහන්සෙ, ඇප් උන් වඳම්හ. දුටු කලැ හුනස්නෙන් නැඟෙම්හ. හිඳුනා අසුන් දෙම්හ. සතර පසයෙන් උපස්ථාන කෙරෙම්හ" යි කී යැ. කියා තබා, 'බුදුහු ඔහු ගෙ උපනිඃශ්‍රය බලා උහු ඇරැ පැවිජි කළාහු වූහු නම්, යහ යැ' යි සිතා බුදුන් පිරික්සනු සඳහා "වහන්සෙ, එ දුසිල් පව්ටි හට මෙ බඳු සීලසංයමයෙක් කොහි වෙ ද!" යි කී යැ. එ සමාහි අඟුල්මල් මහතෙරහු බුදුනට නුදුරු තන්හි වැඩහුන්නාහ. බුදුහු දකුණත නඟා,"මහරජ, මෙ අඟුල්මලැ" යි වදාළහැ.

එ සඳ කොසොල් රජ බිය පත් වැ වෙවුලා ගියෙ. තුබු මහජනයො බිය පත් වැ කඩු පලග දමා-පියා එ එ දසායෙහි හී පලා නුවර වැද දොර පියා-ලා අගුළු ගෙනැ අටල්ලට නැගී බලමින් සිටියාහු "අඟුල්මල් සොර 'රජ මා කරා එ' යනු දැනැ පළමු අවුදු දෙව්රම්හි හුන්නෙ යැ, රජු ගත, ඇපි පලා ආවාමො දිවි ලදුම්හ" යි කීහු. බුදුහු රජ හට භය උපන් බව් දැනැ "නො බව, මහරජ, නොබව මහරජ මෙ දැන් කිහිඹියකු දු දිවි නො ගළවයි. මුහු කෙරෙන තට භය නැතී" වදාළො.

බුදුන් මෙසෙ වදාරත් මැ රජ හට භය සන්හින. රජ අඟුල්මල් මහතෙරුන් කරා එළඹැ "වහන්සෙ, අඟුල්මල් දෑ යැ හො?" යි කී යැ. "එ සෙ යැ මහරජ" යි කී යැ. රජ 'පැවිජියනට දරුණු කැමින් ලද නම් කියනු නො යෙදෙයි. මවුපියන්ගෙ ගොත් විසින් බැවැහර කරනු මැනැවැ' යි සිතා "වහන්සෙ, තොප පියෙ කවර? මවු කවර? යි පිළිවිත. "මහරජ, මා පියෙ හර්ග නම් බ්‍රාහ්මණ යැ. මවු මන්තාණි නම් බ්‍රාහ්මණී යැ" යි කීහු. "වහන්සෙ, අප වත්හිමියො හර්ගයො මන්ත්‍රාණි පුත්‍රයො සස්නෙහි අභිරත වෙත්ව යි, මම් සතර පසයෙන් උපස්ථාන කෙරෙම්ව" යි කී යැ. කියමින් මැ බඩැ බඳ සළුව ඇරැ-ගෙනැ මහතෙරුන් පාමුලැ තිබී යැ. මහතෙරහු තමන් තෙළෙස් ධුතඟ සමාදන් වැ පහුල්සිවුරු පොරෝනෙන් "මහරජ, තුන් සිවුරු සැපිරැ ඇතී" කීහ. රජ බුදුන් කරා එළඹැ වැඳැ එකත්පස් වැ හිඳැ, "ආශ්චර්ය යැ! වහන්සෙ, අද්භූත යැ! වහන්සෙ, යම් තාක් අදාන්ත සතුන් දමන දෑ යැ. අශාන්ත සතුන් සන්හිඳුවන දෑ යැ. නොපිරිනිවි සතුන් කෙලෙස් පිරිනිවනින් නිවන දෑ යැ. වහන්සෙ, ඇපි දඬියෙනුදු සැතිනුදු සතුන් දමන්නට නො හැක්කම්හ. වහන්සෙ සතුන් නොදඬියෙන් මැ නොසැතින් මැ දමන දෑ යැ වහන්සෙ, ඇපි යම්හ, බොහො කාර්යය ඇත්තම්හ" යි කී. "කල් දැනැ, මහරජ" යි වදාළහැ. රජ බුදුන් වැඳැ පැදකුණු කොටැ ගියෙ.

මහතෙරුන් කුලගම් සිඟන්නට ගිය කලැ මිනිස්හු ඔවුන් දැකැ වෙවුලත් මැ යැ. පලත් මැ යැ. දොරපියා-ලත් මැ යැ. ඇතැම්හු අඟුල්මල් නම අසමින් පලා වලට හො වදිති. ගෙට වැද දොර පියා-ලා අගුළු හො ගන්ති. පලා නො යා හෙන්නාහු පිටි පෑ සිටුති. මහතෙරහු සරළුවක් හඹු දු කෙණෙස්සක් බතු දු නො ලැබෙති. අහරින් ක්ලාන්ත වෙති. අහර නොලබන්නාහු 'නුවර නම් සර්වසාධාරණ යැ' යි නුවරට වදිති. යම් දොරෙකින් වන්හු ද, එහි මිනිස්හු "අඟුල්මල් අය" යි කළ දහස් බිඳිමින් පලත්. එක් දවසක් අඟුල්මල් මහතෙරහු පෙරවරු පා සිවුරු ගෙනැ සැවැත් නුවර වැදැ, සපදන්සැරි වන බැවින්, ගෙපිළිවෙළින් කෙණෙසි අහර සිඟන්නාහු මූඪගර්භ වැ නො වැදිය හෙන මාගමක දැකැ කරුණායෙන් කම්පිත වූහු ඔවුන් පෙරැ එකක්හු උනු දහසක් මිනිසුන් මරන්නාට එක දවසකුදු කුළුණු කිසෙ උපන් යත්ඃ පැවිජ්බලයෙන් උපන්.

එකල්හි අඟුල්මල් මහතෙරහු අහරකිස කොටැ බුදුන් කරා එළඹැ වැඳැ එකත්පස් වැ හිඳැ "වහන්සෙ, සැවැත් නුවරැ කෙණෙසි අහර සිඟනුයෙම් මූඪගර්භ මාගමක දිටිමි. ඇය විඳුනා දුක් මට නුරුස්සී" කීහ. "එසෙ බැවින් තො ඇය කරා ගොස් 'මා උපන් තැන් පටන්-ගෙනැ දැනැ සතක්හු දිවි නො ගැලවී නම් එ සසින් තිට දු ගබට දු සෙත් වෙව' යි සස් කරා" යි වදාළො. "වහන්සෙ, හෙ මට මුසවා වෙයි. මා විසින් බොහො සත්හු දැනැ මරන ලදහ" යි කීහු. "අඞ්ගුලිමාලය, හෙ තා ගිහිමිනිස්කලැ. ගිහිමිනිස්හු නම් සතුන් මරනු ආදි කෙරෙති. දැන් තට ආර්ය නම් ජාතියෙක් ඇති. එ සෙ බැවින් තො 'මා උපන් තැන් පටන්-ගෙනැ යැ' යි කියන තැනැ කුකුස් ඇති විහි නම්, 'ආර්ය ජාතියැ උපන් තැන් පටන්-ගෙනැ යැ' කියා" යි නඟා යවූහු.

මහතෙරහු “මැනැවැ වහන්සෙ” යි එයට ගොස් “තමන් සස් කොටැ සෙත් කරන්නට ආ පරිදි කියා” යි යවූහු. මිනිස්හු වටා ජවනිකා බැඳැ මහතෙරනට ජවනිකායෙන් පිටතැ පුටුවක් තුබූහ. මහ තෙරහු ඉහි වැඩහිඳැ “මා ආර්ය ජාතීන් උපන් තැන් පටන්-ගෙනැ දැනැ සතක්හු දිවි නො ගැලවී නම් සසින් තිට දු ගබට දු සෙත් වෙව” යි සස් කළහ. එ සස්තෙපුල් හා සමග ඩබරායෙන් ගුළු දියක් සෙයින් දරු නික්මිණි. දිපිත් මවුනට සෙත් වී.

මහතෙරුන් හිඳැ සස් කළ තන්හි පිළක් කළහ. මූඪගර්භ වූ තිරිසන්ගතියැ සත්හු දු ඇරැ එහි හොවති. එ විගස මැ සුවයෙන් බර මුසිත්. යමක් දුර්බල ද, ගෙනැ එන්නට නොහැකි ද, ඇයට පිළ දෙවි දිය ඇරැ හිසැ ඔත් කලැ එ කෙණෙහි ම බර මුසී. සෙසු රොග ද සන්හිඳී. මෙ කප සිටුනා පෙළහරයි.

කිම හො බුදුහු මහතෙරුන් ලවා වෙදකම් කරවූවා වෙති හො! යත්: එසෙ නො වෙයි. කිසෙ යැ යත්: මහ තෙරුන් දැකැ මිනිස්හු බා පලති. ඔහු කෙණෙසි අහර නො ලදින් ක්ලාන්ත වැ මහණුවම් කරන්නට නො නිස්සහ. මෙ සෙ වන්නා හා “දැන් අඟුල්මල් මහතෙරහු මෙත්සිත් පිළ ලදින් සස් කොටැ මිනිස්නට සෙත් කෙරෙති” යි මිනිස්හු මහතෙරුන් නො බා එළැඹියටි වෙති. එ කල්හි අහරින් ක්ලාන්ත නො වැ මහණුවම් කරන්නට නිසි වෙත්. එයින් බුදුහු ඔවුන් කෙරෙ අනුග්‍රහයෙන් සත්‍යක්‍රියා කැරැවූහු. සස් කොටැ සෙත් කරනු වෙද්දම් නො වෙ. මහතෙරුන් “මහණුවම් කෙරෙමි” යි කමටහන් ගෙනැ උන් කල්හි අටවියෙහි මිනිසුන් මැරූ තැන් මැ පහළ වෙයි. “වහන්සෙ, දුගීමි. බොහො දරුබිලිඳුන් ඇත්තෙමි. මට දිවි දෙව” යි මරණ බියෙන් වලප්නා පරිදි දු, අත් පා සපන පරිදි දු, ආපාතයට එයි. ඔහු විපිළිසර ඇති වැ හුන් තැනින් නැඟී යෙති. එයින් බුදුහු ඔවුනට එ ජාතය අබ්බොහාරික කොටැ “එ සෙ වන්නා හා මෙ විදර්ශනා වඩා රාත් බව් ගන්නි” යි පැවිජි වූ තැන් මුල් කොටැ ආර්යජාතීන් සත්‍යක්‍රියා කැරැවූහු.

එකල්හි අඟුල්මල් මහතෙරහු නොපමා වැ මහණුවම් කොටැ රාත් වූහ. මහතෙරුන් කෙණෙසි අහර සිඟන්නට නුවර වන් කල්හි කපුටු බලු ආදීන් නෙරනා සඳහා වටා හීසනක් පමණ තන්හි යම් කවර දිශාභාගයෙකින් දමා-ලූ දඬු පහණ හකුරු අවුත් මහතෙරුන් මැ වෙරැ හෙයි. ඔහු මහසම් සිඳී ඇට දක්වා බුන් ඉසින් ලෙ වගුරුවමින් බුන් පා ඇති වැ හිණැ. හිරුණු සිවුරු ඇති වැ බුදුන් කරා ගියාහැ. බුදුහු ඔවුන් දැකැ “බ්‍රාහ්මණය, අධිවාසනා කරා. බ්‍රාහ්මණය, අධිවාසනා කරා. යම් කමක්හු ගෙ විපාකයෙන් සසරැ සිටියහොත් නො එක් වා දහස් සුවහස් නිරයැ පස්හි එ කම්හු ගෙ විපාක තො මෙ අත්බැවැ විඳිහි” වදාළො.

මෙහි සත් ජවන් සිත්හි කුසල් වැ හො අකුසල් වැ හො උපන් පළමු ජවන් සිත් මෙ මැ අත්බැවැ විපාක දෙයි. මෙ අත්බැවැ විපාක දෙන්නට නො පොහොසත් වී නම්, විපාක නො දෙන බවට පැමිණෙ. සත් වන ජවන් සිතින් අනතුරු අත්බැවැ විපාක දෙයි. අනතුරු අත්බැවැ විපාක දෙන්නට නොපොහොසත් වී නම්, වටාලා විපාක නො දෙන බවට පැමිණෙ. එ දෙදෙනා අතුරෙහි පස් ජවන් සිත් අනාගතයෙහි යම් කලෙකැ අවකාශ ලද නම්, එ කලැ විපාක දෙයි. සසරැ සිටුනා තාක් කලැ විපාක නොදෙන බවට නො පැමිණෙ මෙ කර්මයන් ගෙ විභාග ධර්මප්‍රදීපිකා නම් මහාබොධිවංශ පරිකථායෙන් දන්නෙ යැ. මෙ බුද්ධධර්මයැ. මෙ බුද්ධචරිතයැ.

මෙ මහතෙරනට වූ කල අනතුරු අත්බැවැ දු අනාගතයෙහි යම් කලෙකැ දු විපාක දෙන කර්මයො රාත්මැගින් කැඩුණහ. මෙ අත්බැවැ විපාක දෙන කර්ම වූ කල රාත් බවට පතානට ද වෙ.

එයින් එ වී. එ කල්හි අඟුල්මල් මහතෙරහු රහොගත වැ වැඩහිඳ ඵලසමවත්සුව විඳැ එයින් නැඟී, බුදුන් තම හට වහල් වූ සෙ සිතා සොම්නස් වැ උදන් අනන්නාහු-

"දණ්ඩෙනෙකෙ දමයන්ති - අඞ්කුසෙහි කසාහි ච,
අදණ්ඩෙන අසත්ථෙන - අහං දන්තොම්හි තාදිනා"

යනාදි ගාථායෙන් උදන් ඇනූහු.

මෙසෙයින් බුදුහු තමන් 'පුරිසදම්මසාරථී' වන බැවින් අඟුල්මල් සොරහු දු ආදිශබ්දයෙන් ගත් සඞ්කිච්ච නම් හෙරණපාණන් අතැවැසි පන්සියක් සොරුැනුදු අතිමුත්තක නම් හෙරණපාණන් අතැවැසි පන් සියක් සොරනුදු බාණු කොණ්ඩඤ්ඤ නම් මහතෙරුන් අතැවැසි පන්සියක් සොරුැනුදු කෙළදරුවන් කෙළකන්සුණු මහතෙරුන් අතැවැසි නව සියක් සොරුැනුදු මෙ ඇ නො එක් සිය නො එක් දහස් සොරුන් දමා අමාමහනිවන් පැමිණවූහු.

අඟුල්මල්දමන නම් සත් වන පරිච්ඡෙදය නිමි.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| රුැපුතකු | - | රූප සම්පන්න පුතෙකු |
| පුළුවුත්තෙන් | - | විචාළෙන් |
| පිළිදගුව | - | පෝෂණය කරව |
| වත් සපන | - | වත් සම්පන්න |
| බෙණෙයි | - | කථා කරයි |
| සසඟ | - | සම්බන්ධය |
| උපචාර | - | සත්කාරය, පූජාව |
| අටවියට | - | වනයට |
| පණිවා | - | ප්‍රාණඝාත |
| හසර | - | හැසිරීම |
| අතුටහුන් | - | අතුරා හුන් |
| අධන් මග | - | දීර්ඝ මාර්ගය |
| දුබ්භෝජනයෙනුදු | - | නපුරු ආහාරයෙන් ද |
| දුක්ඛසෙය්‍යාවෙනුදු | - | දුක් සහගත නිදීම ද |
| එකක්හු උනු | - | එකක් අඩු |
| පිළි පෙරළා | - | ඇඳුම් මාරු කොට |
| කඩු පලඟ | - | කඩුව හා පලිහ |
| කර | - | දෑළි පිහිය |
| කිස නැති | - | කාර්ය නැති |
| ප්‍රතිමුක්ත | - | බැඳී, පැළඳී, එතී |
| ඇතැණිය | - | ඇත් සේනාව |
| බිරි සිතින් | - | බියෙන් |
| නොයාටි වූයේ | - | නොයනු කැමැත්තේ |

| | | |
|---|---|---|
| බැළ ගෙනැ | - | භටයන් ගෙන |
| බඹසර වස් | - | බ්‍රහ්මචාරි ව වාසය |
| ප්‍රතිපක්‍ෂ | - | විරුද්ධ |
| කිහඹියෙකුදු | - | කුහුඹුවකු ද |
| අභිරත වෙත්වයි | - | ඇලෙත්වා |
| තෙළෙස් ධුතඟ | - | දහතුනක් වූ ධුතාංග |
| අදාන්ත | - | නොදැමුණු |
| දඬියෙනුදු | - | දණ්ඩෙන් ද |
| සැතිනුදු | - | අවියෙන් |
| දමන්නට | - | දමනය කරන්නට |
| සරළුවක් හඹුදු | - | කැඳ හැන්දක්වත් |
| කෙණෙස්සක් බතුදු | - | බත් හැන්දක්වත් |
| මූඪගර්භ | - | ගැබ් මුළා වූ/ කුසෙහි හරස් ව සිටින දරු ගැබක් සහිත |
| මාගමක | - | ගැහැනිය |
| සසින් | - | සත්‍යයෙන් |
| සස්කර | - | සත්‍ය ක්‍රියා කර |
| ඨබරායෙන් | - | දිය ගෙන යෑමට ගන්නා භාජනයකි |
| ගුළු | - | ගිලිහුණු |
| ආපාතයට | - | අභිමුඛයට |
| අබ්බෝහාරික | - | ඇවතට කරුණු නොවන, නොසැලකිය යුතු |
| හී සනක් | - | විදින හීයක් යන දුර |
| අධිවාසනා කරා | - | ඉවසන්න |
| පස් හි | - | පැසී |
| පතානට ද | - | පත් වූවන්ට ද |
| ජවන් සිත් | - | ගමන් කරන සිතිවිලි |
| පුළුවුස්නා | - | විචාරන, විචාරීම |

**අභ්‍යාස**

01. අහිංසක දරුණු මිනීමරුවකු වූයේ කවර හේතු නිසා ද යි පැහැදිලි කරන්න.

02. අපරාධකරුවන්ගේ ක්‍රියාකාරීත්වය ජන ජීවිතය අඩාල කරන ආකාරය අංගුලිමාල දමනය ඇසුරෙන් සාකච්ඡා කරන්න.

03. අමාවතුරේ භාවිත භාෂා ශෛලිය පාඩම ඇසුරෙන් නිදසුන් සහිතව විමසන්න.

04. අවස්ථා හා සිද්ධි නිරූපණයට අමාවතුර කතුවරයා දක් වූ දක්ෂතාව පිළිබඳ ඇගයීමක් කරන්න.

# 9 උග්ගසේන නම් සිටුපුත්හුගේ වස්තුව

ධර්මසේන හිමි (දඹදෙණි අවධිය)

දඹදෙණි රාජධානියේ දෙවන පැරකුම් රජු දවස රචනා වූ ග්‍රන්ථයක් ලෙසින් **සද්ධර්මරත්නාවලිය** හැඳින්වේ. කෘතිය අවසානයේ කර්තෘ සන්දර්ශන ගාථාවෙහි "සද්ධර්මයෙහි ස්ථිර පැවැත්ම කැමති වන ධර්මසේන නාහිමියෝ උතුම් සද්ධර්මරත්නාවලිය ලියූහ" යි දක්වේ. සද්ධර්මරත්නාවලිය රචනා කිරීමෙහි කතුවරයාගේ අරමුණ ග්‍රන්ථ ආරම්භයේ ඉතා නිරවුල්ව ප්‍රකාශ වේ.

"...යම් කෙනෙක් නුවණ මඳ වත් කුසලච්ඡන්දය ඇතිව ධර්මාභියෝගයට උපදෙස් ලදින් බණ දැන පින් කමැ හැසිර නිවන් සාදා ගනිත් නම් එසේ වූ පුරුෂයන්ට වැඩ සඳහා සද්ධර්මරත්නාවලිය නම් වූ ප්‍රබන්ධයක් කරම්හ."

පූර්විකාවේ දක්වෙන මේ සඳහනට අනුව සද්ධර්මරත්නාවලිය රචනා කොට ඇත්තේ සාමාන්‍ය පොදු ජනතාව අරමුණු කොට ගෙන බව පැහැදිලි වේ. සද්ධර්මරත්නාවලිය ලියා ඇත්තේ බුද්ධඝෝෂ හිමියන්ගේ **ධම්මපදට්ඨකථාව** ඇසුරෙනි. ධම්මපදට්ඨකථාව යනු ධම්මපද නම් ගාථා සංග්‍රහයට ලියන ලද පාලි අටුවා ග්‍රන්ථය යි. එම අටුවා ග්‍රන්ථයෙහි එක් එක් ගාථාවට නිධාන වූ කතා වස්තූන් දක්වා ඇත. සද්ධර්මරත්නාවලිය රචනා කිරීම සඳහා ධම්මපදට්ඨකථාව පරිහරණය කළ ආකාරය ද ධර්මසේන හිමියෝ තම ග්‍රන්ථයෙහි දක්වති.

"පාලි ක්‍රමය හැර අර්ථය පමණක් ගෙන අප කළා වූ ප්‍රබන්ධයෙහි ක්‍රම විලංඝණාදි වූ අඩු වැඩි ඇතත් එය නොසලකා..."

මේ ප්‍රකාශය අනුව සද්ධර්මරත්නාවලිය ධම්මපදට්ඨකථාවේ පරිවර්තනයක් හෝ අනුවර්තනයක් නො ව, එහි ආභාසය ලබා කතුවරයාගේ ස්වාධීන හැකියාව මත රචනා කර ඇති බව පිළිගැනීම වඩා සුදුසු ය.

පාලි කතා වස්තූන් මුල් කොට ගෙන සිංහලෙන් කතා කීමේ ශෛලිය හඳුන්වන්නේ බණ කතා රීතිය ලෙසිනි. බණ කතා රීතියෙන් රචනා වූ සද්ධර්මරත්නාවලියෙහි කතුවරයාගේ ස්වාධීනත්වය ඉස්මතු වී පෙනේ. කතුවරයාගේ ස්වීයත්වය, නිර්මාණ ශක්තිය, කතා කලාව, ජීවිත පරිඥානය ආදිය විශේෂයෙන් ම මෙම කෘතියෙන් මතු වී පෙනේ. යොදා ගත් භාෂාව ද මේ කරුණු තහවුරු කරවන්නකි. පණ්ඩිත ප්‍රිය භාෂාව, ලෝක ව්‍යවහාරය මෙන් ම ගැමි ව්‍යවහාර භාෂාව සම්මිශ්‍ර කර ගත් භාෂාවක් සද්ධර්මරත්නාවලිය රචනා කිරීම සඳහා භාවිත කොට ඇත. ගැමි ජන ජීවිතය ඇසුරෙන් පමණක් නො ව, කවි සමයට ද අදාළ උපමා, පිරුළු භාවිත කිරීම ද මේ කතා රසවත් වීමට හේතුවකි.

ඇතැම් විටෙක කෙටි වැකි භාවිත කරන ධර්මසේන හිමියෝ තවත් තැනෙක දිගු වැකි භාවිත කරති. කරුණු නිරවුල් ව අවබෝධ කර ගැනීමට එය ඉමහත් ප්‍රයෝජනයකි. වර්ණනාත්මක අවස්ථාවල දී දිගු වැකි භාවිතයට යොමු වූ බවත් කතාවෙහි ජීව ගුණය ආරක්ෂා කිරීම සඳහා ඇතැම් කතාවල සංවාදාත්මක භාෂාවක් යොදා ගත් බවත් පෙනේ.

ධර්මසේන හිමියන්ගේ කතාවල දක්නට ලැබෙන්නේ මනුෂ්‍යත්වය පිළිබඳ සානුකම්පිත දෘෂ්ටියකි. චරිත නිරූපණයේ දී හාස්‍යය, උපහාසය මෙන් ම අනුකම්පාව ද පෙරදැරි කොට, චරිත තුළ ඇති සැබෑ ගති ලක්ෂණ පාඨකයාට වටහා දීමට සමත් වෙති.

සද්ධර්මරත්නාවලියෙහි අන්තර්ගත වන කතා වස්තු තුළ දැකිය හැකි ලක්ෂණ කීපයකි. සෑම කතා වස්තුවක් ම ඉදිරිපත් කිරීමට ප්‍රථම එම කතා වස්තුව දක්වීමට හේතුව කතාව ආරම්භයේ දක්වීමත්, කතාව අවසානයේ දහම් පණිවිඩයක් ලබා දීමත්, ඇතැම් කතා තුළ අතීත කතාව ද ඉදිරිපත් කිරීමත් ඒ අතරින් කිහිපයකි.

සද්ධර්මරත්නාවලියෙහි එන 256 වන කතා වස්තුව වන උග්ගසේන නම් සිටු පුත්හුගේ වස්තුව මෙහි දක්වේ. කතාව අවසානයේ ඒ ඇසුරෙන් ලබා දෙන පණිවිඩය වන්නේ "මේ සිත තබා අනුන්ට හෙළා පිරිහෙළා කීමෙන් දුරු විය යුතු යන්නයි." එහි අතීත කතාව වන්නේ බරණැස් නුවර වැසියන් කාශ්‍යප බුදුරදුන්ට රන් දාගැබක් ඉදි කරන අවස්ථාවේ වූ සිද්ධියකි.

තව ද උගනිතත් නිරවද්‍ය ශිල්පයක් මුත් සාවද්‍ය ශිල්පයෙන් ඓහලෞකික ප්‍රයෝජනයක් මුත් පාරලෞකික ප්‍රයෝජන නැති නියාව හඟවන්ට උග්ගසේන නම් සිටුපුත්හුගේ වත කියමු.

කෙ සේ ද යත්-

නටක විද්දතු පන් සියයෙක් හවුරුද්දෙන් ස මසින් රජගහා නුවරට අවුදින් රජ්ජුරුවන්ට සතියක් මුළුල්ලෙහි කෙළි පෑ බොහෝ රත් රන් ලැබෙති. අතරතුරේ ලබන සඞ්ග්‍රහයේ පමණ නැත. බොහෝ දෙනත් මැසි මත්තෙහි මැසි ගස්වා ගෙන කෙළි බලති.

එක් දවසක් කඹයේ නටන එකකුගේ දුවක් හුණදඬු අගක දී නටන එකක් ශිල්ප බලයෙන් උඩ අහස සක්මනුත් කෙරෙයි; නටයි; ගීත් කියයි. එ දවස් උග්ගසේන නම් සිටුපුත් යාළුණු කෙනකුන් හා සමග මැස්සක් මත්තෙහි සිට ආස සිට නටන ඒ විද්දත් දුවගේ හාවභාව ලීලා දැක වායොධාත්වාධික රූප කලාප විකාරයක් බලවත් නියා ය යි නො සිතා ඈ කෙරෙහි බලවත් වූ ප්‍රෙම ඇතිව 'ලදොත් ජීවත් වෙමී. නො ලදොත් මියෙමී' සිතා ගෙන නො කා නො බී හැඳට නැඟී ලා වැද හොත්තාහ. දෙ මවුපියන් විචාළ කල්හි විද්දත් දුව කෙරෙහි ආලයෙන් නියාව කිවු ය. දෙ මවුපියෝ ඒ අසා "පුත, තෙල ලෙස කිරීම තොපටත් අපටත් තරම් නො වෙයි. තරම් තැනකින් සරණක් ගෙනවුත් පාවා දෙම්හ" මි කිවු ය. ඌ නො ගිවිසිමත් ම ය. නො ගිවිස්නා උන්ගේ යාළුවාණන් ද කැඳවා ලා මසුදාසක් දී ලා "තෙල අහස සිට නැටූ විද්දත් දුවගේ පියාට දී ලා තමාගේ දුව ම පුතුන්ට පාවා දෙන්ට කියව" යි කියා ලා යවූහ.

විද්දතාණෝ ද ඒ අසා "ම දුව විකුණන්නා නැත. රන් හැර ගෙන නො දෙමි. අපටත් රක්ෂාව නම් ඌ ම වෙ ද? නො ලදොත් මියෙත් නම් මිය ප්‍රයෝජන කිම් ද? අප හා එක් වන්නා ම දුව පාවා දෙමි" යි කිවු ය. දෙමවුපියෝ ඒ පවත අසා බිඳුවන්ට සිතා දෝ කීහ. "එසේ වී නම් මම උන් හා එක් වෙමි." කියා ලා නෑයන් සියන් නො එක් ලෙසින් නැවතුවත් සිතා ගත් සිතිවිල්ල පිරිමැසූ බව මුත් කාරිය නො සලකා විද්දතුන් ළඟට ගියහ. විද්දතාණෝ ද, සිටු පුත්‍රයාණන් දන්නා විද්දත් ශිල්පයක් නැතත් ඒ දෙය මේ දෙය අල්වා ගන්ට වුවත් සහායක් වුවමනා හෙයින් දුවණියන් පාවා දී ලා උනුත් කැඳවා ගෙන රට මුළුල්ලේ කෙළි ලළු පෑ ඇවිදිති.

ඒ විද්දත් දූත් නො බෝ කලෙකින් සිටුපුත් හට පුතකු වදා-පියා නළවන කල "ගැල් රකිනවුගේ පුත" "බර උසුලන්නවුගේ පුත," "කුමකුත් නො දත්තවුගේ පුතැ" යි කිය කියා නළවයි. සිටුපුත්හු ද, ගැල් රඳවා ලා හුන් තැන දී ගොන්ට තණ ගෙනවුත් ලති. කෙළි ලළු පෑ ඇවිදි තැන ලත් දෙයක් යන එන තැනට අදිති. එ ම නිසා විද්දත් දූත් පුතු නළවන යම් විටෙක එ ම කියයි. සිටු පුත්‍රයාණෝත් ගීයක් යමක් අනිකකු නො ව තමන් අරබයා කියන නියාව දැන ලා "මේ හැම මා අරභයා කියවු ද?" යි විචාළෝ ය. "එසේ ය, අනික් කාට කියම් ද? තොප ම කොට ඇවිදිනා කටයුතු හෙයින් තොප ම අරභයා කියම්" යි කී ය. "තොප නිසා විද්දත් වූවා මදින් නපුරුත් ඇසුව මනා ද? පලා යෙමි" බිනීම් හරවා ගත හැක්කැ යි සිතා කී ය. ඔයිත් "තොප ගිය මැන, හුන මැනව. තොප කුමකුත් නොදන්නා තැනැත්තවුන්ගෙන් මට කම් කිම් ද?" යි කියා ලා අවකප්පනයෙන් සැදූ හසු රැන අල්වා ඇදි ඇදි සේ දුවන්නා සේ එ ම කිය කියා පුතු නළවයි.

ඕ තොමෝ තමාගේ රූ සම්පත් හැර ගෙන, සිටුපුත්‍රයාණන් තමාගේ කොල්ලකු කොටත් නො සිතයි. සිටු පුත්‍රයාණෝ ද 'මැගේ මේ අභිමානය මැට වඩා සම්පත් ඇත්තන් ඇති හෙයින් සම්පතක් නිසාත් නො වෙයි. තමා ජාති සම්පන්න නො වන හෙයින් ජාතියක් නිසාත් නො වෙයි. රූපත් හෙයින් ඒ හා තමා දන්නා ශිල්ප පමණක් නිසා ය. මෑ දන්නා ශිල්පත් උගත් හෙයින් මුත් සයංසිද්ධ නො වන්නේ වේ ද? ඇගේ ඒ බැවුම් පලවා මමත් ශිල්ප උගනිමී' මයිලණුවන් කරා ගොසින් තමන් සමර්ථ හෙයින් උන් දන්නා ශිල්ප ඉගෙන ගෙන පයි ඇදීමෙන් හැරී ගොසින් රට මුළුල්ලේ ශිල්ප පෑ ගෙන ඇවිදිනෝ, රජගහා නුවර උපන් වැඩී නුවර නො වේ ද යි ලජ්ජාවෙන් වළහාත් නොපියා ඊටත් අවුත් "මෙ තනට සත් වන දවස් මම ශිල්ප දක්වමී" උග්ගසේන සිටුපුත් නුවරට කියා යවූහ.

සත් වන දවස් බොහෝ දෙනත් රැස් ව මැසි මත්තේ මැසි ලා ගත්හ. උග්ගසේන සිටුපුත්හු ද සැට රියන් හුණදණ්ඩක් බිම හිඳුවා ලා හුණදඬු අගට නැංගෝ ය. එදවස් බුදුහුත් අලුයම් වේලේ ලොව බලන සේක් හුණදඬු අගට නැඟෙන්නාට පෙරාතු ව තමන් වහන්සේගේ නුවණ නමැති හුණදඬු අග හුන්නවුන් දැක, වන්නේ කුමක් දෝ හෝ යි බලන සේක් 'සිටුපුත් තෙමේ ශිල්ප දක්වමී කියා ලා හුණදඬු අග සිට්ටි. ඔහුගේ නැටීම් දක්නා නිසා බොහෝ දෙන රැස් වෙති. මම එතැන දී ගාථාවක් කියමී. ඒ අසා සුවාසූ දහසක් දෙන නිවන් දකිති. උග්ගසේනයෝත් හුණදඬු අග දී ම රහත් වෙතී' දැන වදාළ සේක. එසේ දැන, දෙ වන දවස් සිඟා වඩනා වේලා සලකා ලා මහණ ගණ පිරිවරා රජගහා නුවරට සිඟා වන් සේක.

උග්ගසේන නම් සිටුපුත් ද බුදුන් ඇතුළු නුවරට නො වඩනා තෙක් ම කෙළි ලළු බලන්ට රැස් වූවන් කොක්සන් ගසන නියාවෙන් ඇඟිලි පෑ හිඟි කොට ලා හුණදඬු අග සිට ලා නික්ම සිස් අහස ම සත් විටක් පෙත්තක් මෙන් සිසැරී ලා බැස හුණ දඬු අග සිටියහ. ඒ වේලාට බුදුහුත් නුවර ඇතුළට වඩනා සේක් රැස් වූ පිරිස බව අග වුවත් සිටිනට සමර්ථ වූ තමන් වහන්සේ දිසාව බලත් මුත් හුණදඬු සැට රියනක් විතර මුත් වඩා උඩ සිටිනට බල නැති උග්ගසේනයන් දිසාව නො බලන ලෙසට ඉටා වදාළ සේක.

උග්ගසේනයෝත් තමන් පානා කෙළි තමන් ම දක්නා පමණ මුත් රැස් වූවවුන් නො බලන නියාව දැන මුසුප්පු ව ගොසින් 'හවුරුද්දකින් සමසෙකින් අරුමයක් සේ පානා කෙළි බුදුන් අවුත් මෙ තැනට සම්භව ඔබ ම අමුතු ව පහළ වූවා සේ බලන බව මුත් මෙ නුවරට මා ආදියෙන් පානා කෙළි බලන්නෝ නැත. පැසුණු ගොයම් මුල් වූවා සේ දුක් ගෙන උගත් ශිල්පය සිස් වී ය' යි සිතූහ. බුදුහුත් උන්ගේ අදහස් දැන මුගලන් මහ තෙරුන් වහන්සේ බණවා ලා "උග්ගසේන නම් සිටුපුත්‍රයාට ශිල්ප දක්වන්ට කියව" යි වදාළ සේක. මහ තෙරුන් වහන්සේත් ගොසින් -

ඉඞ්ඝ පස්ස නටපුත්ත - උග්ගසෙන මහබ්බල,
කරොහී රඞ්ගං පරිසාය - හාසයයස්සු මහාජනං,

යන ගාථාව වදාරා බුදුන් වදාළ මෙහෙවර වදාළ සේක. කෙළි ලෑළුවෙහි යොදන්ට බුදුන් මහ තෙරුන් වහන්සේට විධාන කෙළේ හැයි ද යත හොත්: මත්තෙහි ඕ හට වන ප්‍රයෝජනය සලකා ය. උග්ගසේනයෝ ද මහ තෙරුන් වහන්සේගේ කථාව අසා 'බුදුහුත් මාගේ ශිල්ප දක්නා කැමැති නියා වනැ' යි සතුටු ව හුණදඬු අග සිට ම -

'ඉඞ්ඝ පස්ස මහාපඤ්ඤ - මොග්ගල්ලාන මහිද්ධික,
කරොමි රඞ්ගං පරිසාය - හාසයාමි මහාජනං'

කියාලා හුණදඬු අගින් අහසට නැඟී ලා තුදුස් විටක් විචර අහස සිසැරී-පියා බැස ලා හුණදඬු අග සිටියහ.

බුදුහුත් බණ වදාරන සේක් "උග්ගසේනයෙනි, කෙළි ලෑළුවෙහි ඇලුම් තබා ලා ගිය දවස පැවැති පස් කඳෙහි ආලයත් හරුව. එ ම පස් කඳ එන දවස පවත්නා ඇලුමුත් හරුව. දන් පවත්නා ස්කන්ධයන් කෙරෙහි ආලයත් හරුව. එ සේ කළා නම් කෙළි ලෑළුවෙන් තබා ජාති ජරා මරණිනුත් මිදෙව" යි වදාළ සේක. දේශනා කෙළවර සුවාසූ දහසක් විතර සත්ත්වයෝ නිවන් දුටහ.

උග්ගසේන සිටුපුත්‍රයාණෝ ද කර' ග රහත් වන්නා සේ නො වන බව මුත් හුණදඬු අග දී පිළිසිඹියා පත් රහත් ව හුණදණ්ඩෙන් බැස-පියා බුදුන් ළඟට ගොසින් පසඟ පිහිටුවා වැඳ ගෙන මහණ කරන්ට ආරාධනා කළහ. බුදුහුත් දකුණත දික් කොට ලා "මහණ, මෙ සේ එව" යි වදාළ සේක. ඒ වේලෙහි තුන් සිවුරු ආදි වූ අට පිරිකර ධරා, සැට වස් ගිය මහ තෙර කෙනකුන් වහන්සේ මෙන් ආකල්ප සම්පන්න වූ සේක. වහන්දෑ ද "ඇවැත්නි, සැට රියන් හුණදණ්ඩෙන් බස්නා ගමනේ භයෙක් නො වී දැ?" යි විචාරා "අපට භයෙක් නැතැ යි කී කල්හි බුදුන් කරා ගොසින්, "ස්වාමීනි, උග්ගසේන තෙරහු හුණදණ්ඩෙන් බස්නා ගමනේ තමන්ට භයක් නැතැ යි කියති. එ ලෙස කියා තමන් රහත් නියාවක් හඟවතී" කී සේක. බුදුහුත් "මහණෙනි, ම පුතුන් වැන්නවුන්ට භයෙක් කොයින් දැ?" යි වදාරා බ්‍රාහ්මණ වගින් ගාථාවක් වදාළ සේක. දේශනා කෙළවර බොහෝ දෙන නිවන් දුටහ.

එ හෙයින් නුවණැත්තවුන් විසින් නිෂ්ප්‍රයෝජන වූ කෙළි ලෑළු ආදියෙහි ඇලුම් හැර, නිවනෙහි ම ඇල්ම කොට, තුන් දුසිරිත් දුරු ව තුන් සුසිරි පුරා මතු මතුයෙහි ලැබිය යුතු ලොවී ලොවුතුරා ගුණ විශේෂයට පිහිට විය යුතු.

නැවත එක් දවසක් ධම් සෙබෙයි කථාවක් උපදවන සේක් "ඇවැත්නි, රහත් වන්ට නිසි මෙ වැනි පිනක් ඇති කෙනකුන් විද්දතුන් හා එක් වන්ටත් කාරණ කිම් ද? රහත් වන්ට නිසි ව කළ පිනුත් කවරේ දැ?" යි කී සේක. බුදුහුත් ඒ අසා වදාරා "මහණෙනි, මේ දෙකට ම නිස්ස කොළෝ මූ තුමූ ම ය" යි වදාරා, එ ම විභූත කරන්නට "ගිය දවස කසුප් බුදුන්ගේ රන් දා ගබ කරන කල්හි බරණැස් නුවර ඇත්තෝ සාල් බත් ගෙන්වා ගෙන දා ගබ මෙහෙවර කරම්හයි යන්නාහු අතුරු මග දී එක් තෙර කෙනකුන් සිඟා ගියවුන් එක් කුල දුවණි කෙනෙක් දැක සමණන්ට "එක් තෙර කෙනකුන් වහන්සේ සිඟා වැඩි සේක. ගෙන යන ගැල්වල බතුත් බොහො ව ඇත. බත් පාත්‍රයක් පිළිගන්වා ගන්ට පාත්‍රය ගෙනව මැනවැ' යි කිවු ය. උයිත් නො මැළි ව පාත්‍රය ගෙනවු ය. බත් පාත්‍රය පුරා ලා ස්ථවිර භික්ෂූන්ට පිළිගන්වා ලා 'නිවන් දකුමෝව!' යි පතා ගත්හ. උන්ගේ දන පිළිගන්ට සම්බ වූවෝත් රහත් කෙනෙක. එ හෙයින් දිවසින් බලනුවෝ ප්‍රාර්ථනාව තෙල ලෙසින් ම සමෘද්ධ වන නියාව දැන සිනා පහළ කළහ. දන් දුන් උපාසිකාවෝ ද සිනා පහළ කළා දැක කාරණත් විචාරා නො පියා සමණන්ට "මුන් වහන්සේ සිනාවක් සී-පී සේක. විද්දත් කමෙක්

ඇති වනැ'' යි කිවු ය. සමණෝ ද ''එ සේ නො කියව'' යි නො කියා ''එ සේ සැටි ය'' යි කියා, උන් කීවා ම ගිවිස ගෙන නික්මුණාවු ය. මේ උන් දෙන්නා කළ කී කට යුතු ය. උ⁹ ඒ ආයු පමණින් සිට දෙව් ලොව ඉපැද දූන් ඉන් චුත ව එ, ලෙස බස කියා ලූ ස්ත්‍රී විද්දත් දූ ව උපන. උග්ගසේනයෝ සිටු කුලයෙහි ඉපැදත් විද්දත් සැටි යැ යි කියා ලූ බස ගිවිසි පමණෙකින් තුමූ නො විද්දත් වත් විද්දතුන් හා එක් වූ ය. රහත් තෙරුන්ට දී ලූ බත් පාත්‍රයෙහි අනුසසින් උග්ගසේන තෙරහු රහත් වූ හ. විද්දත් දූ ද මෙහෙණි සස්නෙහි මහණ ව රහත් වීමෙන් මනුෂ්‍ය ජාතීන් අඩු ව උපනත් ආර්ය ජාතීන් සරි වුව'' යි වදාළ සේක.

මේ සිත තබා, අනුන්ට හෙළා පිරිහෙළා කීමෙන් දුරු විය යුතු.

## අරුත් පැහැදිලි කිරීම

| | | |
|---|---|---|
| නටක විද්දතු | - | නැටීමේ දක්ෂ |
| යාළණු | - | යහළු |
| විකාරයක් | - | කැළඹීමක් |
| නොගිවිසිමත් ම ය | - | එකඟ නොවුණේ ම ය |
| අවකප්පනය | - | වැරදි ලෙස පිළියෙල කළ |
| පයි ඇදීමෙන් | - | පසුම්බි ඇදීමෙන් |
| කොක්සත් | - | මහ හඬින් සිනා සීම |
| මුසුප්පුව | - | කනගාටුව |
| පිළිසිඹියා | - | ප්‍රතිසංභිධාන (විශ්ලේෂණය කොට දැනගැනීමේ නුවණ) |
| සමණන්ට | - | සැමියාට |
| සි-පී සේක | - | සිනා සුණු සේක |
| වායොධාත්වාධික | - | වාතය අධික කොට ඇති |

**අභ්‍යාස**

01. ධර්මසේන හිමියන්ගේ කතා කීමේ කලාවෙහි විශේෂත්වය උග්ගසේන සිටු පුත්හුගේ වස්තුව ඇසුරෙන් පැහැදිලි කරන්න.

02. ධර්මසේන හිමියෝ හාස්‍යය, උපහාසය මෙන් ම අනුකම්පාව ද පෙරදැරි කොට ගෙන චරිත නිරූපණය කරන ආකාරය නියමිත කතා වස්තුව ඇසුරෙන් විමසන්න.

03. ''උග්ගසේන සිටු පුත්‍රයා ජීවිතයේ අභියෝග ජය ගත් අයෙකි.'' සිටුපුත්‍රයාගේ චරිතය ඇසුරෙන් සාකච්ඡා කරන්න.

# 10 කෑරගලය වැජඹෙයි මේ ලෙසින් සිට...

වීදාගම මෛත්‍රේය මාහිමි
(කෝට්ටේ අවධිය)

## හංස සන්දේශය

මෙය කෝට්ටේ රාජධානි සමයෙහි (ක්‍රි.ව. 1412 - 1580) සවන පරාක්‍රමබාහු රජ දවස (ක්‍රි.ව. 1415 දී පමණ) රචනා වූවකි. හංසයකු දූතයා කර ගෙන පණිවුඩය යවන බැවින් හංස සන්දේශය යන නම යෙදී ඇත. කර්තෘ පිළිබඳ පැහැදිලි සඳහනක් නැතත්, මෙහි රචකයා වීදාගම මෛත්‍රේය මාහිමි බව විද්වතුන්ගේ පිළිගැනීම යි. **බුදු ගුණ අලංකාරය, ලෝවැඩ සඟරාව, දහම් ගැට මාලාව, එළු අත්තනගලු වංශය, කව් ලකුණු මිණිමල** එහිමියන් ලියූ අනෙකුත් ග්‍රන්ථ ලෙස සැලකේ. කෝට්ටේ රාජධානි සමයෙහි පහළ වූ ප්‍රකට සාහිත්‍යධරයන් අතර වීදාගම හිමියන්ට හිමි වන්නේ සුවිශේෂ ස්ථානයකි.

හංස සන්දේශයෙහි නිමිත්ත වනුයේ කැරගල වනරතන හිමියන් ලවා සමන්, විභීෂණ, උපුල්වන් හා කඳකුමරු යන දෙවිවරුන්ට පිරිත් කියා පින් දී, එමගින් සිරි පැරකුම්බා රජ කෙරෙහි කරුණාවෙන් සෙත සලසවන ලෙස ඉල්ලීම යි.

මෙහි එන පරිසර වර්ණනාවන්ගෙන් කැරගල වැනුම ඉතා අව්‍යාජ එකකි. ස්වභාව සෞන්දර්යයෙන් අනූන ආගමික පසුබිමක් සහිත කෑරගල ගම්පියස දූතයාගේ සිතෙහි සතුට වඩවයි. සරුසාර කෙත්වත්, මිහිරි පලතුරු, ගලා බස්නා සිහිල් ජලයෙන් යුත් ඇළදොළවලින් මෙගම් පියස සමන්විත විය.

කැරගල යනු බස්නාහිර පළාතට අයත් සියනෑ කෝරළයේ ගඟබඩ පත්තුවේ පිහිටි විශාල ගමකි. මෙය කැරගල නම් පර්වතයක් ආසන්නයේ පිහිටියේ ය. මෙම පර්වතයෙහි කරකොළ ගස් තිබූ නිසා කරගල, කැරගල වී ය යි ද කුරතම්පලා ගස් තිබූ හෙයින් කුරගල, කැරගල වී ය යි ද ජනප්‍රවාදයේ විවිධ අදහස් එයි. රසවාහිනියෙහි වත්ථුලපබ්බත යන නමින් සඳහන් වන්නේ ද කැරගල බව පැවසේ. කෙසේ වෙතත් කැරගල ගම් පියසෙහි පිහිටි පද්මාවතී පිරිවෙන් විහාරය ගමෙහි භෞතික දියුණුව මෙන් ම ජනතාවගේ ආධ්‍යාත්මික දියුණුව ද සංකේතවත් කරවයි. චමත්කාරජනක පරිසරයක් චිත්‍රණය කරන කැරගල වෙහෙර වැනුම දක්වෙන පැදි කිහිපයක් මෙම පාඩමින් ඉදිරිපත් කෙරෙයි.

| | | |
|---|---|---|
| 1. | සා ර පලය අඹ දඹ රඹ ද වල් | පිට |
| | මී ර ජලය ඇළ දොළ කඳු පිටින් | බට |
| | නෑර ලොලය වඩවන දුටු දනන් | හට |
| | කෑර ගලය වැජැඹෙයි මේ ලෙසින් | සිට |

දඹ - ජම්බු වල්පිට - වනාන්තරයෙහි

## අර්ථය

සාරවත් ඵලවලින් යුතු අඹ ජම්බු කෙසෙල් ගස්වලින් පිරුණු වන බිම් ද කඳුවලින් ගලා බසින මිහිරි දිය පිරුණු ඇළ දොළ ආදියෙන් ද යුතු (ඒවා) දකින ජනතාව හට බොහෝ සෙයින් ආශාව ඇති කරවන කෑරගල මෙසේ විරාජමාන (බබළමින්) වෙයි.

| | | |
|---|---|---|
| 2. | කුළින් කුළම සිහිල'ඹ වැහෙන | කඳුරුය |
| | දොළින් දොළම කල් යල් කරන | කුඹුරුය |
| | පළින් පළම තල් පොල් ගෙ වතු | මැඳුරුය |
| | තළින් තළම පුල් පියුමු'පුල | පඬෙරුය |

කුළින් - පර්වත, කූට, කඳු සිහිල'ඹ - සිහිල්+අඹ (සීතල ජලය)
කඳුරු - දිය පාරවල් තළින් - තඩාග, විල්
පඬෙර - සුදු නෙලුම්

## අර්ථය

කඳු මුදුනක් පාසාම සිහිල් ජලය වැහෙන දිය පාරවල් ය. සෑම දොළක් අසල ම කල් යල් බලා (යල මහ දෙකන්නය ම) වගා කරන කුඹුරු ය. තැනින් තැන තල් ගස් ද පොල් ගස් ද සහිත ගෙවතු හා විශාල ගෙවල් ය. විලක් විලක් පාසා ම පිපුණු නෙලුම්, මානෙල් හා සුදු නෙළුම් ය.

| | | |
|---|---|---|
| 3. | පැසෙයි නිබඳ සුවඳැල් කෙත් වත් | අවට |
| | ඇසෙයි ළමා වසුපැටියන් හඬ | දුරට |
| | දිසෙයි වෙහෙර එහි සුර විමනක් | ලෙසට |
| | රසෙයි අමා රසමය ඒ පියස | දුට |

සුවඳැල්- සුවඳ+ඇල් (ඇල් වී වර්ගයකි) දිසෙයි - දෘශ්‍යමාන වෙයි, පෙනෙයි
අමාරස - අමෘත රසය රසෙයි - රස + එයි (රසයක් එයි දැනෙයි)

## අර්ථය

හාත්පසින් ම නිතර කෙත්වතුවල සුවඳැල් නම් වී වර්ගය පැසෙයි. කුඩා වසු පැටවුන්ගේ නාදය (හඬ) ඈතට ඇසෙයි. එහි විහාරස්ථානය දිව්‍ය විමානයක් ලෙසට පෙනෙයි. ඒ ප්‍රදේශය දුටු විට අමෘත රසයක් හිතට දැනෙයි.

★ මෙහි සඳහන් වෙහෙර, කෑරගල පද්මාවතී පිරිවෙන් විහාරය යි.

4. නිබඳ පැසී පල ලඹ දෙන මිහිර'ඹය
සුවඳ විහිද සිටි විලිකුන් කැන් රඹය
නොමඳ තැනින් තැන වලු බර වනරඹය
එමැද වෙහෙර දිලි දුර ලන සසරබය

ලඹ දෙන - එල්ලෙන
විලිකුන් - ඉදුණු
වනරඹ - වන කෙසෙල්, වල් කෙසෙල්
මිහිර' ඹ - මිහිරි+අඹ
රඹකැන් - කෙසෙල් කැන්

### අර්ථය
නිරන්තරයෙන් ම පැසී ගෙඩි එල්ලෙන මිහිරි (මධුර) අඹ ද සුවඳ විහිදුවන්නා වූ ඉදුණු කෙසෙල් කැන් ද අඩුවක් නැති ව තැනින් තැන වලුබර වූ වල් කෙසෙල් (වන කෙසෙල්) ද දක්නට ලැබෙන්නා වූ එම ප්‍රදේශය මධ්‍යයෙහි සංසාර බය දුරලන්නා වූ විහාරය බබළන්නේ ය.

5. මිහ'ඹමුව මඬල මෙන් දිලෙන හැම විට
දුලබ ඉසුරු පිරි සැදි ඒ වෙහෙර සිට
කිරඹ පොකුරු මී රස ලැබ බොන ලෙසට
නරඹ මිතුර තගෙ නෙත සිත සතුටු කොට

මිහ'ඹ - මිහි+අඹ = මහී කාන්තාව, මිහි කත
කිරඹ - කිරි+අඹ = කිරිවතුර
පොකුරු මී - පුෂ්පකර මදු, පියුම් පැණි

### අර්ථය
මිත්‍රය, මහී කාන්තාවගේ මුහුණ මෙන් නිතර බබළන ඉතා දුර්ලභ ඉසුරින් (සම්පතින්) පිරුණු ඒ විහාරයේ සිට කිරි දිය හා මල් පැණි ලැබී බොන්නාක් මෙන් ඔබගේ නෙත් සිත් සතුටු කරමින් (ඒ විහාරය) නරඹන්න.

6. දිමුත් වෙහෙර වට විසිතුරු මල් වතුය
එහිත් සුවඳ මල් නිති වෙයි මිණි මුතුය
මහත් තුරු මියුරු පල ගෙන නැමි අතුය
රැගත් සෙවණ නො හැරම සිටි පොල් වතුය

වෙහෙර'වට - වෙහෙර+අවට
මිණිමුතු - මණි මුක්ත (කොපුවෙන් මිදුණු) පිපුණු යන අර්ථය යි.
මහත් තුරු - විශාල ගස්

### අර්ථය
දීප්තිමත් (බබළන) ඒ විහාරය අවට විචිත්‍ර වූ මල්වතු ය. නිරන්තරයෙන් එහි සුවඳ මල් පිපෙයි. විශාල ගස්වල රසවත් එල සැදී අතු නැමී ඇත. එමෙන් ම නිතර ම සෙවණ දෙන්නා වූ පොල් වතු ද සහිත ය.

7. නොයෙක් තැන ම පිපි මල් පිරුණු පොකුණුය
ගෙයක් කන ම සැදැහෙන් දෙවන දකුණුය
සුදක් ලෙස තිබෙයි මළු මං හැර කුණුය
සියක් අය කෙරෙති වැඳ පුද පැදකුණුය

ගෙයක් කන ම - මෙහි 'කන' යන්නෙන් සූචනය වන්නේ කෙළවර, කොන, මුල්ල, දිසාව යන අර්ථයන් ය. මේ අනුව ගෙයක් පාසා ම යන අර්ථය පිළිගත හැකි ය. 'පිළිකන්න' වැනි ගැමි ව්‍යවහාරයක ද අපට මේ අර්ථය හඳුනා ගත හැකි ය.

## අර්ථය

නොයෙක් තැන්වල පිපුණු මල්වලින් පිරුණු පොකුණු ය. සෑම ගෙයක් දෙස ම ශ්‍රද්ධාවෙන් දෙන දක්ෂිණය (දානය ය). මිදුල් හා මාර්ග (පාරවල්) කුණු කසළ ඉවත් කර පිරිසිදු ව සුදු පැහැයෙන් තිබෙයි. සිය ගණනක් පිරිස වැඳීම පිදීම් ප්‍රදක්ෂිණා කරති.

8. නුදුරු වැ සිහිලැ' ලී ය ගඟුලැ' ලී ය
වට සැදි මල් වැ ලී ය සුදු වැලී ය
පිපි වන සිටි ම ලී ය වන මලී ය
තුටු වන සිති වි ලී ය පුල් විලී ය

සිහිලැ'ලීය - ඉතා ශීතල ගඟුලැ'ලීය - දිය ඇලි
වට - අවට පුල් විලීය - පිපුණු මල් ඇති විල්

## අර්ථය

(වෙහෙරට) ආසන්නයෙහි ශීතල දිය ඇලි ය. අවට මල් සැදුණු මල් වැල් හා සුදු වැලි තලා ය. පිපුණු පරිද්දෙන් ම පවතින මල් ඇති වන මල් ය. සතුටු සිතිවිලි ඇති කරවන පිපුණු මල් ඇති විල් ය.

9. පවන' ද පිපි තු රේ ය නිර තුරේ ය
කුසුමන් පෙති තු රේ ය මළු තුරේ ය
අවට සුපිපි සී රේ ය බිඟු සරේ ය
සිත එවෙහෙර කෙ රේ ය ලොබ කෙරේ ය

පවන'ද - පවන්+අද (සුළඟ අවුත්) සරේ ය - විල්වල
බිඟු සරේ ය - භෘංග නාදය

## අර්ථය

සුළඟ ඇවිත් නිරන්තරයෙන් මල් පිපුණු ගස්වල මල් පෙති මළුවෙහි අතුරවයි. හාත්පසින් මල් පිපුණු විල්වල මී මැසි නාදය ඇසෙයි. (ඇසූ දුටු) අයගේ සිත ඒ වෙහෙර කෙරෙහි ආසාව ඇති කරයි.

10. දුටු සත  සිතට තුටු වන ලෙසට  නිතියෙනි
සතර'ත  එකට සම කර බෙර ඇසක්  මෙනි
පැහැපත සුද නොහළ වැලි අතුළ මළු  තැනි
මිහිකත  සඳන'ලෙව් දුන් උර මඬල  වැනි

| | |
|---|---|
| සුද නොහළ | - සුදු පාට අත් නොහළ (සුදු පැහැය සහිත බව කියූ අන්දම යි). |
| වැලි අතුළ මළු තැනි | - වැලි අතුරන ලද (විහාර) මිදුල් |
| සඳන'ලෙව් දුන් | - සඳුන්+අලෙව් දුන්. චන්දන ආලේප දෙන ලද |
| උර මඬල | - උර ප්‍රදේශය |

### අර්ථය

දකින ජනයාගේ සිතට නිත්‍ය වශයෙන් ම සතුටු ඇති වන ලෙස සතර පැත්තෙන් ම එකම ආකාරයට බෙර ඇසක් මෙන් සමතලා කර සුදු පැහැති ලස්සන වැලි ඉස ඇති (විහාර) මිදුල මහී කාන්තාවගේ සඳුන් ආලේප කළ උර ප්‍රදේශය මෙනි.

## අභ්‍යාස

1. සැප සම්පතින් ආඪ්‍ය ඉපැරණි ගමක තොරතුරු කවි පන්තියෙන් ඉදිරිපත් කරන ආකාරය පැහැදිලි කරන්න.

2. මේ පාඩමේ එන පරිසර වර්ණනාවල විචිත්‍රත්වය අගය කරන්න.

3. හංසයා දකින චමත්කාරජනක ගම් පියසෙහි අසිරිය විස්තර කරන්න.

4. හංස සන්දේශ කතුවරයා අර්ථ රසය මෙන් ම ශබ්ද රසය ද මැනවින් යොදාගෙන ඇති ආකාරය කවි පන්තිය ඇසුරෙන් පැහැදිලි කරන්න.

5. ගම සහ පන්සල අතර ඇති අන්තර් සම්බන්ධතාව කවියා විස්තර කරන අයුරු විමසන්න.

11

# මග විසිතුරු

තොටගමුවේ ශ්‍රී රාහුල හිමි
(කෝට්ටේ අවධිය)

## සැළලිහිණි සන්දේශය

කිසිවකු දූත මෙහෙවරෙහි යොදා සන්දේශයක් හෙවත් අස්නක් නිශ්චිත ස්ථානයකට යවන සේ රචනා කරන කාව්‍ය විශේෂය සන්දේශ කාව්‍ය නමින් හැඳින්වේ. සිංහලෙන් ලියන ලද බොහෝ සන්දේශ කාව්‍යවල දූතයා වූයේ පක්ෂියෙකි. සංස්කෘත සාහිත්‍ය විචාරකයන් ඉදිරිපත් කර ඇති සන්දේශ ආකෘතිය සිංහල සන්දේශකරුවන් ද බොහෝ දුරට අනුගමනය කර ඇත. කථා නායකයා හෝ නායිකාව හෝ ප්‍රසිද්ධ පුද්ගලයකු වීම, ආශිර්වාදය, දූතයා වර්ණනා කිරීම, යා යුතු ස්ථාන දැක්වීම, මාර්ග වර්ණනා කිරීම, සන්දේශය ඉදිරිපත් කිරීම වැනි ලක්ෂණ ඒ අතර ප්‍රධාන වේ.

සිංහල සාහිත්‍ය වංශයෙහි දනට දක්නට ඇති පැරණිතම සන්දේශ කාව්‍යය වන්නේ ගම්පොළ යුගයේ ලියවුණ **මයූර සන්දේශ** කාව්‍යය යි. එහෙත් සිංහල සන්දේශ කාව්‍යයේ ඉතිහාසය ඉන් බොහෝ ඔබ්බට දිවෙයි. සිදත් සඟරාවේ එන 'මොනරිඳු එකල්හි පුල් සලගැ නවා ගනී' 'කලවන් බිඟු මහත් වත හිරු හත් වත' යන පාඨ පුරාණ ගී මයූර සන්දේශයකින් ගත් බව සිදත් සඟරා පැරණි සන්නසේ දැක්වේ. සිරිනාග නමැත්තකු විසින් සීගිරි කැටපත් පවුරේ ලියා ඇති,

> 'වන්දිමි හිමි වලා - තො ගොසින් ඇය නිවෙස්නට
> පිරිබුන් පගා මලයුත - දිවොට තො හදහව කිය කියයි'

යන ගීය වැහි වලාකුළක් අත සිය පෙම්වතියට යැවෙන හස්නක් සේ ලියවුණකි. මෙය ද සන්දේශ ස්වරූපයක් ගනී. කෙසේ වෙතත් සන්දේශ කාව්‍ය ඉතිහාසයෙහි පළමුවරට සන්දේශයක් රචනා කරන ලද්දේ භාරතයේ විසූ මහා කවි කාලිදාසයන් විසිනි. ඔහු ද දූතයා වශයෙන් තෝරා ගත්තේ වැහි වලාවකි.

සිංහල සන්දේශ කාව්‍යයන්ගේ ස්වර්ණමය යුගය කෝට්ටේ රාජධානි යුගය යි. **හංස**, **සැළලිහිණි**, **ගිරා**, **කෝකිල**, **පරෙවි** වැනි ප්‍රසිද්ධ සන්දේශ කාව්‍ය රැසක් මේ යුගයට අයත් ය. මෙකල රජ කළ සවන පැරකුම් රජු සාහිත්‍යයට දැක්වූ සුවිශේෂ දායකත්වය සාහිත්‍ය ප්‍රබෝධයට පිටිවහලක් විය. තව ද, කෝට්ටේ යුගයේ ජීවත් වූ සාහිත්‍යධරයන් නිර්මාණකරණය උදෙසා දැක්වූ කැප වීම ද කැපී පෙනේ.

**බුදුගුණ අලංකාරය**, **ලෝවැඩ සඟරාව** හා **හංස සන්දේශය** ලියූ වීදාගම මහා මෛත්‍රී හිමියෝ ද, **ගුත්තිලය** ලියූ වැත්තෑවේ හිමියෝ ද, **සැළලිහිණිය** ලියූ තොටගමුවේ ශ්‍රී රාහුල හිමියෝ ද එකල විසූ ප්‍රසිද්ධ සාහිත්‍යධරයෝ වෙති.

සැළලිහිණි සන්දේශය ලියුවේ තොටගමුවේ විජයබා පිරිවෙන්පති ත්‍රිපිටක වාගීශ්වරාචාර්ය ෂඩ්භාෂා පරමේශ්වර තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන් බව සැළලිහිණි සන්දේශ පුරාණ සන්නයෙහි දක්වේ.

සංස්කෘත, ප්‍රාකෘත, මාගධී, අපභ්‍රංශ, පෛශාචි හා ශෞරසේනි රාහුල හිමි දන සිටි ෂඩ්භාෂා වේ. පරෙවි සන්දේශය, කාව්‍යශේඛරය, සැළලිහිණි සන්දේශය, පංචිකා ප්‍රදීපය හා බුද්ධිප්පසාදිනිය යන කෘති රාහුල හිමියන් විසින් රචනා කරන ලදි.

කඳවුරු කුල මැඳුරු මිණි පහනෙව් සුසැදී
නැණගුරු සබස සමය ද දනුමෙන් වොරැදී
රජගුරු විජයබා පිරුවන් හිමි පැහැදී
මෙමියුරු පදැති සැළලිහිණිය අස්න යෙදී

සැළලිහිණි සන්දේශයෙහි කතු හිමියන් ගැන සඳහනක් නැති වුව ද ඉහත කවියෙන් රාහුල හිමියන් විසින් සැළලිහිණිය ලියන ලදයි සැලකිය හැකි ය. සැළලිහිණි සන්දේශය රාහුල හිමියන්ගේ උසස් ම කාව්‍ය නිර්මාණය බව සාහිත්‍යකාමීන්ගේ මතය යි. සැළලිහිණිය ලිවීමේ අරමුණ වන්නේ සවන පරාක්‍රමබාහු රජුගේ කනිටු දියණියන් වන ලෝකනාථා (උලකුඩය) දේවියට පුත් කුමරෙකු ලබා දෙන ලෙස ඉල්ලමින් කැලණියේ විභීෂණ දෙවියන්ට කරන ආයාචනයකි. පරාක්‍රමබාහු රජුට රාජ්‍යත්වය පැවරීම සඳහා පුත් කුමරකු නො වීම ඊට හේතුව යි.

පද්‍ය 108කින් සමන්විත සැළලිහිණි සන්දේශයේ ආරම්භය සෙසු සිංහල සන්දේශ කාව්‍යවල මෙන් ම 'යහගී' විරිතින් ලියවුණු දූත ආශීර්වාදයකි. ඉක්බිති දස පද සැහැල්ලකින් කෙරෙන දූත වර්ණනයකි. එතැන් සිට සියලු ම කවි සමුද්‍රඝෝෂ විරිතින් ලියැවී ඇත. රාහුල හිමියන්ගේ ප්‍රතිභාපූර්ණ කවිත්වයට නිදසුන් සපයන සැළලිහිණිය අතිශයින් චමත්කාරජනක ස්වභාව සෞන්දර්ය වර්ණනාවලින් යුක්ත ය. එහි මග වැනුම්වලින් තෝරා ගත් කවි කිහිපයකින් මේ පාඩම සැකසී ඇත.

1. සුර රද සමන් සමගින් සුරඟන එ වර
පැහැනද මදාරා පරසතු මල් පතර
කැර පුද වඳින රැඳි මුනි සිරි පා තඹර
සකි සඳ පෙනේ සමනොළ ගල නැගෙන හිර

සමන් - සමනළ අඩවියට අධිපති සුමන සමන් දිව්‍යරාජයා
පැහැනද - පැහැන්+අද පැහැයෙන් ආර්ද්‍ර හෙවත් තෙත් වූ (වර්ණවත්)
මදාරා පරසතු - සුර ලොව ඇතැයි කියන මල් වර්ග දෙකකි.
සිරිපා තඹර - බුදුන් වහන්සේගේ ශ්‍රී පාදය නෙලුම් මලක් ලෙස දක්වා ඇත (වැනි, එව් ආදි නිපාත පදයක් රහිත මෙබඳු ගැළපීම් 'රූපක' නම් වේ).

## අර්ථය

උතුම් වූ මිත්‍රය, ඒ කාලයෙහි සුමන සමන් දිව්‍යරාජයා දිව්‍යාංගනාවන් හා එක් ව වර්ණවත් (පැහැයෙන් යුක්ත) මදාරා හා පරසතු යන මල් සමූහය පූජා කොට වඳිනු ලබන්නා වූ බුදුන්ගේ ශ්‍රී පාදය රැඳුණා වූ සමනොළ ගල නැගෙනහිර දෙසින් පෙනේ.

2. ග නේ මිණි බැබැළි කිරණෙව් සතපාය
ර නේ යට'ග සැවුලිඳු දද ගළපාය
අ නේ ලකර කළ පුර අප නරපාය
පෙ නේ දකුණු මහසෙන් දෙව් රද පාය

කිරණෙව් - කිරණ+එව් (කිරණ වැනි)
සතපාය - 'පාද සියයක් ඇත්තේ' යන අදහසින් 'සතපා' යනුවෙන් සූර්යයා නම් කෙරේ. මෙහි පාද යනු, සූර්යයාගෙන් විහිදෙන රශ්මි ධාරාවන් ය.
මහසෙන් - මහත් දිව්‍ය සෙනඟක් ඇති බැවින් මේ නම යෙදේ. කතරගම දෙවි, ස්කන්ධ කුමාර, කාර්තිකේය යන නම්වලින් ද මේ දෙවි රජ හැඳින්වේ. මේ දෙවි රජට මුහුණු සයකි, අත් දොළසකි, මොනර වාහනයකි; කොඩියෙහි කුකුළු රුවකි.

## අර්ථය

සූර්යයාගේ රශ්මි වැනි වූ ඝන මාණික්‍යයෙන් බැබළුණා වූ ද රනින් කළ රිටි කෙළවර කුකුළු රුව සහිත කොඩි බැඳ අනේකාලංකාර කරන ලද්දා වූ මහාසේන දේවරාජයාගේ ප්‍රාසාදය අප රජුගේ නගරයෙහි දකුණු පසින් පෙනේ.

3. වල දීන අදහසින් මෙන් සුර ගඟ අඟන
නල බල සසල දළ රළ පෙළ නුබ නැඟෙන
වෙල ළස ගැවැසි මුතු සක් පබළු බබළන
බල මහ මුහුද එම සඳැ උතුරින් පෙනෙන

වලඳින - වැලඳගන්නා
සුරගඟ - අහස

## අර්ථය

අහස් ගඟ නමැති ස්ත්‍රිය වැලඳගන්නා අදහසින් මෙන් සුළඟේ වේගයෙන් චංචල වූ රළ පෙළ අහසට නැඟෙන්නා වූ වෙරළෙහි මුතු සක් සහ පබළු බබළන ඒ වේලෙහි උතුරෙන් පෙනෙන මහ මුහුද බලන්න.

4. ස න් න න් සිහින් ගෙඳි සෙවණලු වැලි තෙලෙන
තැ න් තැ න් වල ම සැතැපී සියුමැලි බැවින
ර න් ව න් කරල් ගෙනැ එන ගිරවුන් අතින
ය න් ම න් තොසින් මඟ තොරතුරු නියම දැන

සන් - ගැවසුණු, යුක්ත වූ
නන් - බොහෝ
මන් තොසින් - සිතේ සතුටින්

## අර්ථය

බොහෝ හීන් ගෙන්ද ගස්වල සෙවණැල්ලෙන් යුක්ත වූ වැලි තලාවල ඒ ඒ තැන නැවතී (ඔබ) සියුමැලි නිසා විවේක ගෙන රන්වන් (වී) කරල් ගෙන එන ගිරවුන්ගෙන් ගමන් මාර්ය ගැන නියම තොරතුරු දැන ගෙන සතුටින් යන්න.

5. නිල තුරඟුට නැඟෙමින් රිවි දෙව් සිරින
දුල කැරැ සේසත් මිණි බරණ කිරණින
බල පිරි සෙන් සහ යාපා පටුන් ගෙන
බල සේනානායක සපු කුමරු එන

| | |
|---|---|
| නිල තුරඟු | - නිල් (කළු) පැහැ අශ්වයා (කාව්‍ය ලෝකයේ කළු පැහැයට නිල් යැයි යෙදෙයි. 'නිල් වරලස' යන්නේ 'නිල්' ද මේ අර්ථයෙනි). |
| දුල කර | - බබළවමින් |
| යාපා පටුන | - යාපනය |
| සපුමල් කුමරු | - සවන පැරකුම් රජුගේ පුත්‍ර ස්ථානයේ වැඩුණු කුමාරයෙකි. සවන පරාක්‍රමබාහු රජුගේ අභාවයෙන් පසු උලකුඩය දේවියගේ පුත් ජයවීර පරාක්‍රමබාහු රජ විය. ඔහු මරා සවන බුවනෙකබා නමින් රජ බවට පත් මොහු නව වසරක් පමණ රාජ්‍ය කළේ ය. |
| සේනානායක | - කෝට්ටේ යුගයේ සේනාධිපති හැඳින්වූයේ සේනානායක නමින් ය. |

## අර්ථය

සූර්ය දිව්‍ය රාජයාගේ ආකාරයෙන් කළු (නිල්) අසු පිට නැඟී, මැණික් ආභරණවල කාන්තියෙන් සේසත බබළවමින්, යාපා පටුන ජය ගෙන බලයෙන් පිරුණු සේනාව සමගින් එන්නා වූ සේනාධිපති සපුමල් කුමාරයා බලන්න.

6. අග පිපි මල් මලිගිය ලිය කැලේයා
වග බැඳැ හෙන රජ හස පුල් විලේයා
ළඟ තුරු මල් ගිලිහුණු රොනවු'ලේයා
මඟ බැස යව පළ හෙළ වැලි තෙලේයා

| | |
|---|---|
| මලිගිය | - ඉද්ද, මාලතී |
| වග බැඳ | - රංචු ගැසී |
| රාජහංස | - පියාපත් තනි සුදු පැහැයෙන් ද හොට හා පාද තැඹිලි පැහැයෙන් ද යුත් හංස වර්ගය මෙනමින් හැඳින්වේ. |
| රොනවුල | - රොන්+අවුල, (මල්) රොන් ගැවසී ගත් |

## අර්ථය

මුදුනෙහි මල් පිපී ඇති ඉද්ද වැල් කැලයෙන් යුත්, රාජ හංසයන් රංචු පිටින් බසින්නා වූ, මල් පිපුණු විල්වලින් යුත්, ගස්වල මල්වලින් ගිලිහුණු මල් රේණු ගැවසී ගත් පැහැදිලි සුදු වැලි තලාවේ මගට බැස යන්න.

7. අයි රාවණ වුවත් නවතන රිසින් එන
අයි රා දහස් දිලි දුනු කොත් සිපත් ගෙන
කයි කාවලෙහි දැකැ සෙබළුන් රැක සිටින
වයි යා කරන් මල් තුරු ගන වන හිසින

අයිරාවණ - ඓරාවණ, සක් දෙවිඳුගේ ඇතා
අයිරාදහස් - අයිරා යනු අධික යන්න යි, දහසකින් අධික යන තේරුම
දුනුකොත් - දුනු හා කුන්ත (කුන්ත යනු ඇනීමට ගන්නා ආයුධයකි)
සිපත් - අසිපත්
වයි - වෙයින්, වේගයෙන්, වහා
යා කරන් - යාත්‍රා කරන්න, පියාසර කරන්න

## අර්ථය

ඉදිරියට එන අයිරාවණ ඇතා වුවත් නවත්වන අදහසින්, දහසකට වැඩි දිලිසෙන දුනු ද කුන්ත ද කඩු ද රැගෙන කයිකාවල නම් ස්ථානයෙහි මුර කරන සෙබළුන් දැක, මල් ගසින් ගහන වූ වනයට උඩින් වහා පියාසර කරන්න.

8. නිමල් සඳ පහන් වැනි වැලි පිට උදුළ
සුපුල් මල් යහන් ලිය මඬු ලිය ගෙ පෙළ
එකල් කෙළන වන දෙව් ලිය දැකැ කොමළ
ළසල් රුකෙක සැතැපෙව ළපලු සිහිල්’ළ

ලිය මඬු - ලතා මණ්ඩප
ලිය ගෙපෙළ - ඉහළින් වැල් එතී ගෙවල් මෙන් සැදුණු ආවරණ ස්ථාන
ළ සල් රුකෙක - ළා (නොමේරූ/තරුණ) සල් ගසක
ළපලු සිහිල්’ළ - සිසිල ගෙන දෙන්නා වූ ළා දලු

## අර්ථය

පිරිසිදු සඳ එළිය හා සමාන ව බබළන වැලි තලාවේ මනා සේ පිපුණු මල් යහන්හි ද ලතා මණ්ඩපයන්හි ද ලතා ගෘහ පෙළෙහි ද ඒ වේලාවෙහි ක්‍රීඩා කරන්නා වූ කොමළ වන දෙවඟනන් බලා, ළා දලුවෙන් සිසිලස ගෙන දෙන්නා වූ තරුණ සල් ගසෙක විවේක ගන්න.

9. ම ල් ද ම් සුවඳ දුම් දුන් සොඳ වරලසිනි
ක ල් ගි ම් නිවා සැනැහෙන සිහිලස රසිනි
කො ල් ල ම් ගසින් නිල් ඉවුරැ’ති පොකුණ’සිනි
ව ල් අ ම් බලම දැක යා ගන් සහතොසිනි

කල් - කලුන්, කාන්තාවන්
ගිම් නිවා - ග්‍රීෂ්මය නිවා (උෂ්ණය දුරු කොට)
සැනැහෙන - ස්නානය කරන

සිසිලස රස - සිසිල් ජලය
නිල් ඉවුරැති - නිල් ඉවුරු+ඇති (කළු/අඳුර අදහස් කරන්නට නිල් යෙදුණු තවත් තැනකි).
වල් අම්බලම - අතීතයේ පයින් ගමන් කරන්නන්ගේ විවේකය පිණිස මඟ තැනින් තැන අම්බලම් තනවා තිබිණි. මෙය වනාන්තරයක් අසල තිබුණ නිසා වල් අම්බලම' කියා යෙදුණා විය හැකි ය.

### අර්ථය

මල් දම් ද සුවඳ දුම් ද යොදන ලද කේශ කලාපයෙන් සුන්දර වූ ස්ත්‍රීන් සිසිල් දියට බැස ශරීර දාහය (උණුසුම) නිවා ස්නානය කරන්නා වූ, කොල්ලම් ගස් නිසා නිල්පාට ඉවුරු ඇති පොකුණු සමීපයෙහි වූ වල් අම්බලම දැක සතුටින් යන්න.

10. කස්තුරි තිලක සැදි නළලත සුමටාන
පුල් මහනෙල් මල් දම් හිස දවටාන
සලෙළුන් යනෙන නිති කැරැ කෙළි කවටාන
රිවි මුදුනත වන මැද වදු සුමුටාන

සැදි - සරසා
සුමුටාන - මට සිලිටි, සුමුදු
සුමුටාන - සුමුටාන නමැති වනාන්තරය

### අර්ථය

අතිශයින් මටසිලුටු වූ නළල කස්තුරි තිලකයෙන් සරසා ගෙන, පිපුණු මානෙල් මල් මාලා හිසෙහි දවටා ගෙන, කෙළි කවටකම් කරමින් විනෝදකාමී තරුණයන් නිතර යන එන සුමුටාන නම් වනාන්තරය මැදට ඉර මුදුන් වේලාවේ ඇතුළු වන්න.

11. ම ඟ නි ල මි න් සිටි නා දොඹ නී පියල
පි ය ස ල මි න් මලගෙහි කෙළැ රොනින'වල
ත තු ඩ ල මි න් බිඳු විලිකුන් මියුරු පල
ඉ සි ඹු ල මි න් යෙහි සැළ! දඹ පඳුරුවල

නිලමින් - නිල් පැහැ ගන්වමින් (කවි සමයෙහි කොළ පැහැයට නිල් ද යන්න)
නී - බක් මී
පියල - මොර
විලිකුන් - ඉදුණු
ඉසුඹු - විවේක
සැළ - සැළලිහිණිය (ආමන්ත්‍රණ ස්වරූපයෙනි).
දඹ - ජම්බු

### අර්ථය

සැළලිහිණිය, මාර්ගය නිල් පැහැ ගන්වමින් සිටියා වූ නා, දොඹ, බක් මී, මොර (යන ගස්වල) මල් රේණුවලින් ගැවසී ගත්තා වූ මල් අග පියාපත් සලමින් ක්‍රීඩා කොට, ඔබගේ තුඩ ලමින් ඉදුණු මිහිරි පල අනුභව කොට, ජම්බු පඳුරුවල හිඳ විවේක ගෙන යන්න.

12. රි වි තැ වු ලේ පිපි කමලේ විල් ගැවැසී
ම ත කො වු ලේ තුරු වදලේ හඬන නිසී
ව න සැ වු ලේ මඟ අසලේ පොර සැලැසී
ගු රු බැ වු ලේ යව අවුලේ නොවී කිසී

| | |
|---|---|
| රිවි තැවුලේ | - සූර්ය තාපය |
| නිසී | - යෝග්‍ය |
| වන සැවුලේ | - වලි කුකුළන් |

### අර්ථය

සූර්ය තාපය නිසා පිපුණා වූ නෙලුම් මල්වලින් යුතු විල්වලින් ගැවසි, (හැසිරීමට) යෝග්‍ය වූ ගස් වදුලේ මත් කොවුලන් අඬන්නා වූ ද මාර්ගය අසල වලි කුකුළන් පොරෙහි යෙදී සිටින්නා වූ ද ගුරුබැවුල ප්‍රදේශයෙහි කිසි දු අවුලකට පත් නො වී යන්න.

13. ව න සි රි පියුම්රා බඳ රන'බරණ යුරු
ව ට පි රි සුපුල් දුනුකේ මල් මුරුත'තුරු
බි ගු පි රි වැරූ ඔලු'පුලැ'ඹුලවල තඹුරු
හි ම ස රි සිහිල් දිය හෙබ දැක යන් මිතුරු

| | |
|---|---|
| පියුම්රා | - පද්මරාග හෙවත් රතු කැට |
| ඔලු'පුලැ'ඹුල'වල | - ඕලු+උපුල්+ඇඹුල+අවල |
| තඹුරු | - නෙලුම් |
| අවල | - ආකුල, යුක්ත, පිරුණු |
| දිය හෙබ | - ජලාශය |

### අර්ථය

යහළුව, වනය නමැති සිරි දෙව්දුවගේ (ශ්‍රියා කාන්තාවගේ) පද්මරාග මාණික්‍යයෙන් බඳනා ලද රන් ආභරණ මෙන් මැනවින් පිපුණු, දුනුකේ ගස් හා මල් පිපුණු මුරුත ගස් හාත්පස පිරී ඇත්තා වූ, මී මැස්සන් පිරිවැරූ ඕලු, මානෙල්, එළ මානෙල්, නෙලුම් යන මල්වලින් පිරුණු හිම හා සමාන සීතල ජලයෙන් යුක්ත වූ ගැඹුරු ජලාශය (හෙබ) දැක යන්න.

## අභ්‍යාස

1. ස්වභාව සෞන්දර්ය වර්ණනා සඳහා කවියා භාවිත කරන විවිධ කාව්‍ය උපක්‍රම සාකච්ඡා කරන්න.

2. සැළලිහිණි සන්දේශ කතුවරයා දූතයාට කරන මග වැනුම්වල දී ස්වභාවෝක්තියට මුල් තැනක් දෙන අයුරු පැහැදිලි කරන්න.

3. විවිධ අවස්ථා වර්ණනයෙහිලා සැළලිහිණි කතුවරයා දක්වන සමත්කම අගයන්න.

4. මේ පද්‍යවලින් හෙළි වන විවිධ සමාජ ආර්ථික තොරතුරු විස්තර කරන්න.

5. කවියා දූතයාට පෙන්වන චමත්කාරජනක වන පියසෙහි අසිරිය සාකච්ඡා කරන්න.

# 12 කුරහන් ඉසිමුව කළුවර බලාලා

## ජන කවි (කුරක්කන් කවි)

ජන කවි පිළිබඳව තොරතුරු රාශියක් තුන්වන පාඩමේ දී දැක්විණි. කුරක්කන් කවි ද, ජන කවි ප්‍රවර්ගයකි. ගොවියාට කුරක්කන් වගාවේ දී ඇති වන දුෂ්කරතා කුරක්කන් කවි මගින් ප්‍රකාශ වේ. කුරක්කන් හේන අස්සැද්දීමට පෙර කැලෑ එළි-පෙහෙළි කිරීමේ පටන්, අස්වැන්න නෙළා ගැනීම දක්වා වූ සියලු අවස්ථා කුරක්කන් කවි තුළ අන්තර්ගත වේ. ඉතා වෙහෙස වී කුරක්කන් හේන සකසන ආකාරය ද වගාව සරුවනවාත් සමඟ එයට හානි කිරීමට සතුන්ගේ පැමිණීම ද එය ආරක්ෂා කිරීමට තමා දැරූ වෙහෙස ද පිළිබඳව ගොවියාට පහළ වූ සිතුවිලි නිරායාසයෙන් කවි බවට පත් වී ඇත.

මේ පාඩමේ ඇතුළත් වන්නේ එබඳු කුරක්කන් කවි කිහිපයකි.

දුරුතු මහේ දී කැලයට වැදීලා
මසක් පමණ කල් කැලවල් කොටාලා
මැදින් දිනේ දී වල් ගිනි තබාලා
කුරහන් ඉසිමුව කළුවර බලාලා

එල්ල වෙන්ට කවි කර කීවෙමි බොහොම
කොල්ල කන්ට එති සිවුපාවෝ බොහොම
ගොල්ල සමඟ එති ඌරෝ සැමදාම
නිල්ල අඹති සත් දවසින් බැලුවාම

මා කී දේ දෙයියනි බොරුවක් ම නැති
බිම එළි වුණොත් කණු මදු බොහොම ළඟ ඇති
ඇහැට වෙහෙස ඇත තුන් යමට නිදි නැති
ගොබ කළු වෙමින් කුරහන් කිරි වැද වැඩෙති

හේනේ පැලේ මා විඳිනා සුරුක්කන්
ඌරෝ ඇවිත් වට පිට කරති සක්මන්
වැටටත් උඩින් උන් අල්ලන මලක්කන්
අපොයි මගේ කිරි වදිනා කුරක්කන්

කටු ඇල්ලේ මගෙ හේනේ කුරක්කන්
වැට අහුරා ඌරන්ගෙන් වළක්කන්
කර ගන්නට බැරි උන් මහ කුරක්කන්
ඌරෙනි නොකා පලයව් මගෙ කුරක්කන්

මෙදා හේනෙ පැහිලා ඇති කුරක්කන්
රන්වන් කරල් බර වී ඇති සුරක්කන්
ඌරෝ නොකෑවොත් හේනේ කුරක්කන්
බඩගින්නට අවුසදයකි කුරක්කන්

කුරක්කන් තුනයි වැපුරුවෙ අමාරුවේ
කපන්ටත් බැරුව අතපය රුදාවේ
අරින්ටත් බැරුව ලොවග ම සිනාවේ
කපමු නෑනෙ ඉපනැල්ලේ සුබාවේ

එපෙති දෙපෙති මහ හේනේ කුරක්කන්
මඟ යන්නෝ මට සරදම් කරක්කන්
එපෙති වෙන්ඩ කවුදැයි කළ නරක්කන්
කපා ගනිමු එක පෙත්තේ කුරක්කන්

**අභ්‍යාස**

01. කුරක්කන් වගාවේ දී ගොවියා මුහුණ දුන් විවිධ අභියෝග ජය ගැනීමට ඔහු දැරූ වෙහෙස කුරහන් කවි මඟින් ප්‍රකාශ වන අන්දම පැහැදිලි කරන්න.

02. ජන කවියේ ඇති අව්‍යාජත්වය කුරක්කන් කවි කෙරෙන් නිරූපණය වන ආකාරය උදාහරණ සහිත ව විමසන්න.

03. සරලත්වය, සංක්ෂිප්ත භාවය හා ධ්වනිතාර්ථවත් පද භාවිතය ද කුරක්කන් කවි සාර්ථක වීමට හේතුවකි. නිදසුන් සහිතව සාකච්ඡා කරන්න.

# 13 අපට වැසිකිළියක්

කේ. ජයතිලක (1926 - 2010)



සිංහල සාහිත්‍ය වංශයෙහි සුවිශේෂ කෙටිකතාකරුවකු ලෙස විචාරක අවධානය දිනා ගත් කේ. ජයතිලක මහතා කිරිඳිවැල රදාවානේ දී 1926.06.27 දින උපත ලබා ඇත. රදාවාන පිරිමි පාසලෙන් මූලික අධ්‍යාපනය ලද ඔහු ස්වෝත්සාහයෙන් පාලි භාෂාව පිළිබඳව ද මනා පරිචයක් ඇති කර ගත්තේ ය. පසුව හෙතෙම ලන්ඩන් විශ්වවිද්‍යාලයෙන් ශාස්ත්‍රවේදී උපාධිය ද දිනා ගත්තේ ය. කේ. ජයතිලකගේ මුල් ම කෙටිකතා සංග්‍රහය වන්නේ **පුනරුත්පත්තිය සහ තවත් කෙටි කතා** කෘතිය යි. මෙම කෙටිකතා සංග්‍රහය පළ වන්නේ 1955 වසරේ දී ය. **එකගෙයි අවුරුද්ද, නොනිමි සිත්තම හා තවත් කෙටි කතා, අතීරණය, වජිර පබ්බත, කටු සහ මල්** මෙතුමාගේ සෙසු කෙටි කතා සංග්‍රහ අතර වෙයි.

**පුංචිරාළ, පුංචිරාළගේ මරණය, රාජපක්ෂ වලව්ව, මතු සම්බන්ධයි, මායා මාලිගා, කාලෝ අයං තේ, චරිත තුනක්, දෙලොවට නැති අය, පරාජිතයෝ, පිතාමහ** වැනි නවකතා රැසක් ද නිර්මාණය කළ කේ. ජයතිලක ඒ අතරින් **චරිත තුනක්, පිතාමහ, පුංචිරාළ, මතු සම්බන්ධයි** යන නවකතා සඳහා රාජ්‍ය සම්මාන හිමි කර ගෙන ඇත. **ඉස්සරහ බලන්නෝ, පුංචි වලාකුළ සහ පුංචි පුතා, ඉරුණු බළලා, ඩුං ඩුං ඩුඩුං ඩුං, කතන්දර පොත, අයියයි නංගියි, ඔරලෝසුවා සහ ලස්සන ළමයි, වන සටන, අමුතු කතා, රුවන් කුමාරි** යන කෘති, කේ. ජයතිලකයන් අතින් බිහි වූයේ ළමා පරපුර වෙනුවෙනි.

සාහිත්‍ය විචාර, දර්ශනවාද, ස්වකීය අත්දැකීම් හා නිර්මාණකරණය බඳු ක්ෂේත්‍රයන් සඳහා ද ග්‍රන්ථ රැසක් රචනා කර ඇති මෙතුමා ලේඛකයකු එක් වරක් පමණක් පිදුම් ලබන **'සාහිත්‍ය රත්න'** සම්මානයෙන් ද ජයවර්ධනපුර විශ්වවිද්‍යාලයෙන් පිරිනැමෙන සාහිත්‍ය සූරි සම්මානයෙන් ද පිදුම් ලැබුවේ ය.

'අපට වැසිකිළියක්' මෙතුමාගේ **නොනිමි සිත්තම හා තවත් කෙටිකතා** යන කෙටිකතා සංග්‍රහයෙහි එන නිර්මාණයකි.

අක්කා කුරක්කන් වංගෙඩියට මා වාඩි කරවා ගත්තේ මොන තරම් වෙහෙසක් ගැනීමෙන් ඉක්බිතිව ද?

"හෙට උදේට කුරහන් රොටි ටිකක් හදන්න කුරහන් ටික අඹරගන්න උදවු වෙනවද මල්ලියෙ?" ඈ උදේම මගෙන් ඇසුවා ය.

"මේ උදේම කුරහන් අඹරන්න පුළුවනැ? දවල් වෙලා එන්නම්" මම කීමි. මා එසේ කීවේ ඒ වේලාවට ඇගේ ඉල්ලීම මග හැරීමේ චේතනාවෙන් විනා, පසුව සහභාගි වන අදහසකින් නොවේ. ඇයට මේ ගැන මතක නැති වී යතැයි හෝ වෙනත් අයෙකු උදව් කර ගෙන එය කර ගනු ඇතැයි මා බලාපොරොත්තු වූ නමුත් දවල් යළිත් ඈ ඒ ගැන මතක් කළා ය.

"දැන් නම් හරි ඩාදිය අක්කේ. හවසට අඹරමු."

"උදේ කිව්වහම උදෙත් බෑ කිව්වා, දවල් කිව්වාහම දවාලුත් බෑ කිව්ව. දැන් ඉතින් හවස් වෙලා නෙ. දැන් වත් ඉතින් වරෙන්." සවසත් ඈ කරදරය ගෙන ආවා ය.

"මොන වදයක්ද මන්ද. මේ ගෙදර මම විතරද කුරහන් අඹරන්න ඉන්නෙ? මට බෑ. මට වැඩ තියෙනව. ඕනැ කෙනෙක් එක්ක අඹර ගන්න."

"ඇයි මල්ලි එහෙම කියන්න? අසනීපෙන් ඉන්න අම්මට පුළුවන්ද ඕව කරන්න? පොඩි මල්ලියි නංගියි හිටියට ඒ පොඩි එවුන්ට පුළුවන් ද දෙපාරක්වත් වංගෙඩිය කරකවන්ට."

"එහෙනම් කුලීකාරයෙක් හොයා ගනින්. මට බෑ කිව්වොත් බෑ." යි මම සැරවුණෙමි.

අක්කාට මෙවැනි සැර කිරීම්, ප්‍රතික්ෂේප කිරීම් හොඳට පුරුදුය. කම්මලේ සිටින බල්ලාට යකඩ තළන හඬ මෙන් ඇයට ද මේවා ගණනක් නැත. එහෙයින් "අනේ මල්ලියෙ, අනේ" යැයි කියමින් මා එයට එකඟ වන තුරු හෝ ගෙදරින් පිට වී යන තුරු හෝ යාප්පු වන්නට පටන් ගනී. ඇගේ ඉල්ලීමකට මා එකඟ වන්නේ කලාතුරකිනි. වැඩිපුර ම කරන්නේ ගසා බසා දමා නැගිට යෑම ය.

යන්තම්වත් තාත්තාට මේ බව ඇසුණොත් මට සෙල්ලම් නටන්නට ලැබෙන්නේ නැත. "තෝ හොර අලිය වගෙ මෙතන කකා ඉන්නව. තොට ඒකවත් කරල දෙන්න බැරිද? කව්ද මෙතන අතක් පයක් නො හොල්ලන එවුන්ට තැම්ම හදල දෙන්ට ඉන්නෙ?" ඔහු බැණ වදියි. එවිට මට සියල්ල හකුලා ගෙන ගොස් ඒ වැඩ රාජකාරි කර දීමට සිදු වෙයි.

තම අභිමතාර්ථසාධනය සඳහා මෙවැනි කෙටි මාවතක් ඇතත් අක්කා කිසි දිනක එයින් ප්‍රයෝජන ගන්නට නො සිතයි. එහෙයින් තාත්තා සිටින විටක ඈ කවදාවත් මෙවැනි ඉල්ලීමක් කරන්නේ නැත. ඇගේ ඒ කාරුණිකභාවයෙන් නැතහොත් දුර්වලතාවෙන් මම නො සෑහෙන තරම් ප්‍රයෝජන ගතිමි. ඈ මගෙන් යමක් ඉල්ලා සිටින විට තාත්තා දුර එනු පෙනුණොත් "අන්න තාත්තත් එනවා. මට වැඩක් තියෙනව." යි මම කියමි. ඒ එක්කම ඇගේ කටට අගුලු වැටෙයි. මම මගේ නිදහස ලබමි.

මෙදින තාත්තා පැමිණෙනු මාවත් අක්කාවත් දුටුවේ නැත. ඔහු දකින්නටත් පෙර ඔහු පැමිණ ඇති බව පැවසුවේ ඔහුගේ ගොරෝසු කටහඬ ය.

“ඔව්! හැමදේම බැහ්! බැහ්! කට විතරයි හොල්ලන්න පුළුවන්. අතක් හොල්ලන්න එපා! කැම් පීම් සේරම දෙපා මුලට පහළ වෙයි. බලා හිටපිය!” ඔහු කීවේ කුමක්දැයි මට එවේලේ තේරුණේ නැත. මා කුරක්කන් වං ගෙඩිය ළඟට වීසි වූයේ ඔහුගේ වචනවල ශබ්දයෙන් විනා අර්ථයෙන් නොවේ.

බඹයක් පමණ දිග විශාල හතරැස් ලී කොටයක් මැදින් දෙපැත්ත කවාකාර ව කපා කුරක්කන් වංගෙඩියේ යටිගල සවි කර ඇත. මේ යටිගලේ මැද කුඤ්ඤයකි. මැද සිදුර සහිත උඩුගල නොවැටී කරකැවෙන්නේ මේ කුඤ්ඤය නිසා ය. මුදුනින් මහත් ව පිහිටි උඩුගලේ වළට අක්කා දුඹුරු පැහැති කුරක්කන් අතලොස්සක් දමයි. ඉක්බිතිව උඩුගලේ පිටතට නෙරාගිය තැනකට සවි කර ඇති අත අක්කාත් මාත් අල්ලා ගෙන ගල කරකවමු. එවිට කුරක්කන් ඇඹරී සුදු පාට වැස්සක් මෙන් ගල වටේට හැලී යයි. ලී කඳේ යටි පැත්තෙන් අඟල් දෙකක් පමණ කපා දැමූ ඉඩෙන් තැබූ විශාල වට්ටියකට ය. මේ පිටි එකතු වන්නේ. කුරක්කන් ඇඹරීම ගැහැනුන්ගේ වැඩක් යැයි සිතා මා ඊට සහභාගි නොවන නමුත් මෙසේ ඒවා අඹරන විට නම් ඇති වන්නේ සතුටකි.

“තාත්තා එනවා දැකලා මට බන්නවන්න කථා කළා නේද?” යි මම නොසතුටු මුහුණින් අක්කාට මිමිණුවෙමි.

“අනේ නෑ මල්ලි, තාත්ත කොහෙන් පහළ උණාද කියල මටත් පුදුමයි! සුගතනුත් එක්ක ආවත් කතා කරනවාවත් ඇහුණෙ නෑ.”

තාත්තාත් පන්සල ළඟ ගෙදර සුගතනුත් ඉස්තෝප්පුවේ ඇඳ මත ඉඳගෙන කතා කරති. අපි දෙන්නා කුරක්කන් අඹරමු. අම්මාත් නංගීත් කුස්සියේ ය. මල්ලි පමණක් තවමත් වත්තේ ය.

“අය්යෙ, අය්යෙ, පොලිස්කාරයෙක්!” හදිස්සියේ ම හති ලමින් අප වෙත දුව ගෙන ආ පොඩි මල්ලි දෑත් වනමින් මට කතා කෙළේ ය. මම කරමින් සිටි වැඩය එහෙමම නතර කර නැගිට සරම සකස් කරමින් ඔහුත් සමඟ ඉස්තෝප්පුවට දිවුවෙමි. පොලිස්කාරයෙක්? පොලිස්කාරයෙකු මේ ගමට පාත්වන්නේ කී කල්පයකටද? අපරාධයක් සිදු වී ඇත්තේ කොහිද? ඔහු එන්නේ කවුරුන් අල්ලන්ටද? කවුරුන් අල්ලන්ට පැමිණියත් ඔහු දකින විට වරදක් කළ නොකළ කාතුළත් ඇති වන්නේ බියකි. ඒ එක්කම කවුරුත් මේ දුලබ දර්ශනය නරඹමින් ඔහු පසු පස්සේ වැටී යති.

මා ඉස්තෝප්පුවට පැමිණෙන විටත්, මට කලින් මල්ලිගෙන් ඒ ආරංචිය ලද තාත්තාත් සුගතනුත් ඇඳෙන් නැගිට පිල අද්දරට වී ඈත බඩවැටිය දෙස බලා සිටිති. අමුත්තකුගේ ඡායාව ඈතින් දිස් වේ. ඒ පොලිස්කාරයෙක් නොවේ. පොලිස්කාරයා අඳින්නේ කාකි කොට කලිසම් ය.

මොහුත් ඒ ප්‍රමාණයේ කොට කලිසමක් ඇඳ සිටියත් ඒ සුදු පාට ය. හිසේ පැළඳි තොප්පිය ද පොලිස් තොප්පියකට වෙනස් ය. කොයි තරම් දර්ශනීය වුවත් අමුත්තෙකුගේ පැමිණීම සුබදායක නො විය හැකි ය.

“කුණු ඉස්පැට්ටර! සුගතන් තම හඳුනා ගැන්ම පිළිබඳව උපන් ගර්වයෙන් යුතුව කීය. “අද උදේ හිටන් පන්සල් ගොඩැල්ලෙ හැම ගෙදරකටම ගිහින් තියෙනව. කක්කුස්සි නැති හැමෝටම නඩු දානවලු. හවස් වෙච්ච නිසා මං හිතුවෙ නෑ මේ පැත්තෙ ඒවි කියලා.”

නඩු දමන බව කීවත් පොලිස් භටයකු කෙරෙහි තරම් බියක් අපට ඔහු විෂයෙහි ඇති නොවී ය. ඒ නිසාම දෝ ඔහුගේ මුහුණෙහි ද සැරපරුෂ බවක් නොපෙනිණි. කෙසේ වුවත් එහි කිසිදු මිත්‍ර ලීලාවක් තිබුණේ ද නැත. පුළුල් වටකුරු ඒ මුහුණ අපේ ගමේ කිසිවකුටත් නොවූ තරම් පුෂ්ටිමත් හා නාගරික විය. ඊටම සරිලන පරිදි ශරීරය ද බර වැඩ නො ගෙන සීතල සෙවණේ වැඩුණු එකක් විය. ඔහු ඇඳ සිටි අත් කොට කමිසයේ බාහුවලත් පපුවේත් පටි අල්ලා තිබේ. පැළඳ සිටි තොප්පිය ද ගල්කැටයකට වුව ද ඔරොත්තු දෙන තරම් ඝන වූවකි.

අමුත්තා ඉදිරියේ පෙර ගමන් නො කර සිටින්නට නො හැකි පරිද්දෙන් තාත්තාත් සුගතනුත් ඔහු ළං වන විට මිදුලට බැස්සාහ. අපි ද ඒ අනුව මිදුලට බැස, ඔවුන් පිටුපසට වීමු. අමුත්තා පැමිණ, අපේ මිදුල අද්දර නතර විය.

“කවුද මේ ගෙදර ගෘහමූලිකයා?” ඔහු කතා කෙළේ කවර භාෂාවකින් ද? වචන සිංහල වුවත් උච්චාරණය සිංහල නො වී ය. තාත්තාට ද මෙය ගැටලුවක් වූ බව පෙනී ගියේ ඔහු විමතියෙන් සුගතන්ගේ මුහුණ බැලූ සැටියෙනි. සුගතන් එය තේරුම් ගැනීමට කලින් අමුත්තාගේ උපකාරය ලැබිණ.

“කවුද මේ ගෙදර ලොක්කා?” මෙවර ඔහුගේ උච්චාරණය ද පෙරට වඩා පැහැදිලි විය.

“මම” තාත්තා බයාදු ලෙස පිළිතුරු දිනි.

“මොකක්ද නම?”

“හේරත්.”

“හේරත් කියන්නෙ මොන හේරත් ද? වාසගමක් නැද්ද?”

“තියෙනව. පටබැඳිගේ හේරත්.”

අමුත්තා ඒ සියල්ල තමා ගෙනවුත් තිබූ දිගටි පොතෙහි සටහන් කර ගති.

“මේ ගෙදර වැසිකිළියක් තියෙනවද?”

තාත්තා යළිත් උඩබිම බලයි.

“මේ ගෙදර කක්කුස්සියක් තියෙනවද?”

“නෑ.”

“සුමාන දෙකක් ඇතුළත වැසිකිළියක් හදන්න ඕනැ. මම ආයිමත් සුමාන දෙකකට පස්සෙ එනව. එතකොට වැසිකිළියක් හදල නොතිබුණොත් නඩු දානවා. එහෙම කළොත් උසාවි ගිහින් දඩ කන්න වේවි.”

මෙයට කිසිවකු පිළිතුරු දුන්නේ නැත. සති දෙකක් තුළ වැසිකිළියක් තනා නිම කරන්නේ කෙසේද යන ප්‍රශ්නය නැඟීමට කිසිවෙක් ඉදිරිපත් නොවී ය. ඔවුහු කවුරුත් අන්දමන්ද වී සිටියාහ. එහෙත් මේ කිසිවකින් අමුත්තා තුළ වෙනසක් නො දක්නා ලදි. ඔහු වත්ත පහළට ඇස් දුවවමින් තවත් ප්‍රශ්නයක් නැඟී ය.

“මෙතනින් එහාට තවත් ගෙවල් තියෙනවද?”

“ඔව්! පල්ලෙහා තියෙන්නෙ වෙල්යාය. ඊට එහායින් තවත් ගම් ගොඩැල්ලක් තියෙනව.”

“ඒ ගෙවල්වලට වැසිකිළි තියෙනවද?”

“එහෙම දෙයක් ගැන අහලවත් නැතුව ඇති මයෙ හිතේ.”

“කොහොමද එහාට යන්නෙ?”

“ඇළට උඩින් ඒදණ්ඩක් දාල තියෙනව. ඒක දිගේ යන්න ඕනෑ.”

තාත්තා අත දික්කර පෙන්වූ පැත්තෙන් වැටී ඇති අඩි පාර දිගේ ඉන්ස්පැක්ටර් ගමන් කරන්ට විය. ඊට කලින් කිසි දිනක මේ බිමට සපත්තු පාරක් නො වදින්නට ඇත. අපි මේ ආගන්තුක දර්ශනය පිටුපස්සේ වැටුණෙමු.

කලින් දින කීපයේ වට වර්ෂාව නිසා ඇළ පිරී තිබිණ. ඉන් එගොඩ වීමට ඒදණ්ඩ හැටියට දමා තිබුණේ තනි පොල් කොටයකි. මේ ඒදණ්ඩ දිගේ එහාට මෙහාට යෑම අපට අරුමයක් නොවී ය. සමහර අවස්ථාවල එය දිගේ එහාට මෙහාට දිවීම සෙල්ලමක් විය. ඉන්ස්පැක්ටර්ට එසේ නොවී ය. ඔහු බර සපත්තු දැමූ පය ඒ මත තබා තද කොට බැලී ය. ඒදණ්ඩ නො සැලී සිටිය නමුත් ඔහුගේ පය බදා ගත්තේ නැත. මෙය ඒ තරම් පරෙස්සම් සහිත ගමනක් නොවන බව ඔහුට ඒත්තු යන්නට ඇත. පය ලිස්සා ගිය හොත්, නැත්නම් සමබර නැති වුව හොත් ඔහු රුඳෙන්නේ අඩි ගණනක් පහළින් ගලා යන දිය පාරෙහි ය. එවිට නෑමෙන් පමණක් තෘප්තිමත්ව ගොඩ ඒමට ලැබුණොත් ඒත් ලොකු වාසනාවකි.

“දැන් හවස් උණා වැඩියි, එහෙට වෙන දවසක යනව” යි ඔහු පය ආපසු ගත්තේ ය.

අප කාටත් නිදහසේ හුස්ම ගන්නට පුළුවන් වූයේ ටිකකට කලින් ඔහු මතු වී ආ බඩවැටිය තුළ ම ඔහු නොපෙනී ගියාට පසුව ය. තාත්තාත් සුගතනුත් ආපසු ඇඳට පැමිණියහ. මීළඟට ඔවුන් කතාබස් කරනු ඇත්තේ ඉන්ස්පැක්ටර් ගැන ය. එයට සවන් දෙන්නට අප තුළ ද ඇත්තේ මහත් කුතුහලයකි. ඒ නිසා අපි ද ඒ කිට්ටුව ම දැවටුණෙමු.

“කුණු ඉස්පැට්ටර තිකෝනිස්කාරයගෙ ගෙදෙට්ට ගිහින් ඇහැව්වලු ‘කක්කුස්සියක් තියෙනවද?’ කියල.” සුගතන් පටන් ගත්තේ ය. “තිකෝනිස් කිව්වලු ‘අනේ බුදු මහත්තයො, මෙහෙ මොන කක්කුස්සිද? ඔන්න ඔතනින් ඔය බැද්දට පාත් වෙන්න.’ එහෙම කියල, ‘කෙල්ලෙ මේ මහත්තයට වතුරපනිට්ටුවක් ගෙනත් දීපිය’ කියලත් කිව්වලු. මිනිහට තරහ ගිය පාර එවෙලෙම නඩු දාන්ඩ නම ලියාගෙන ගියාලු!” මෙය කියා දෙදෙනා ම සිනාසුණහ. සුගතන් හයියෙන් සිනාසෙන විට ‘කොක්’ ‘කොක්’ යන හඬක් නගයි.

“මෙච්චර කල් නොතිබුණු කක්කුස්සියක් මොක ද මේ එක පාරටම ඕනැ වුණේ? කාගෙ හරි මගෝඩියක් වෙන්න ඇති, කාට තියෙන සල්ලිද ඕවා හදන්න? ඕකෙන් මේකෙන් වෙන්නෙ අපටත් උසාවි බඩගාන්න. උන්ට නම් මොකෝ... ආංඩුවෙන් පඩි කකා කියාවි. ‘ඕං හදපන් නැත්නම් නඩු දානව’ කියල. දුප්පත් අපි තමයි නැහෙන්නෙ.”

“දැන් ඔය පාර අද්දර නම් හැම ගෙදරකම කක්කුස්සි හදල තියෙනව. නැති එවුන්ට දඩ ගහලත් තියෙනව.”

"පාර අයිනෙ එහෙම එකක් තියෙන එක හරි. මොකද එහෙ කැලෑ තියෙනවද? මේ කැලෙන් වට වෙලා ඉන්න අපට මොන කක්කුස්සි ද? නීතියෙන් බේරෙන්ඩ හැදුවයි කියමු. ගෙයක් ඇතුළෙ ඉඳ ගෙනත් ඔය වැඩේ කළ හැකි ද? කාට පුළුවන් උණත් මට නම් බෑ."
"උඹ ඔහොම කියනව. කොළඹ රටේ කක්කුස්සි තියෙන්නෙ කොහොමද දන්නව ද? මේ වගේ එපිටින් නෙමෙයි. ගේ ඇතුළෙමලු. උන් නාන්නෙත් ඒක ඇතුළෙම ඉඳගෙනලු නෙ."
"ෂික් විතරක්! ගඳ ගහන්නෙ නැද්ද?"

"ඒව පයිප්ප දිගේ යනවයි කියල තමයි කියන්නෙ. ඒ උණාට මොන ජරාවක්ද කක්කුස්සියක් ගේ ඇතුළෙ තියාගෙන ඉන්න එක. කක්කුස්සියක් එපා, පොඩි ළමයෙක් ගෙයි කැත කළොත් ඒක අස් කර දමන කල් හිරිකිත නැද්ද?"

"මේ මොන කරදරයක් වත් නැනෙ අපේ ගෙදරටත් ඒදණ්ඩකින් ගොඩ වෙලා එන්ඩ තිබුණ නම්!" තාත්තා කියූ දෙයෙහි අර්ථය එකවර ම සුගතන්ට වැටහුණේ නැත. එය වැටහුණ විට ඔහු පෙර මෙන් ම කොක් හඬලා සිනාසුණි.

එදා මා නින්දට ගියේ ද හදිසියේ ගමට පැමිණි මේ අමුත්තා ගැන සිතමිනි. මට ඔහු සිහිනෙනුත් පෙනෙන්නට ඇද්ද? එය කිව නොහැක්කේ මට සිහින මතක නොසිටින බැවිනි. එක් එක් අය තමන් දුටු සිහින ගැන කතා කරන විට රෑ නින්දේ දී මා ද යම් යම් දේ දුටු බව සිහි කළ හැකිය. එහෙත් කිසිවකුට කියන්නට තරම් පැහැදිලි ලෙස ඒවා සිහියට ඇද ගැනීමට නුපුළුවන.

පසුදා උදේ ඉන්ස්පැක්ටර් මගේ සිහියට මුලින් ම නැංගේ නැහැය පිනවා ගෙන කුස්සිය දෙසින් පැතිරී ආ සුවඳක් හේතු කොට ගෙන ය. එය කුරක්කන් රොටි සුවඳකි. ඉන්ස්පැක්ටර් ගියාට පසු තාත්තා ගෙදර ම සිටි නිසා අක්කා මට කුරක්කන් අඹරන්නට කතා කෙළේ නැත. කෙසේ හෝ පිටි ටික අඹරාගෙන රොටි සාදා ඇති බව පෙනේ. මම වහාම කුස්සියට දිව ගියෙමි. අක්කා ලිප ළඟ හිරමනා කොටය තබා වාඩි වී ඉඳියි. ළිප මත තැබූ කබලේ රොටියක් දුම් දමමින් කරවෙයි. උඩුපැත්ත කලින් කර කර අනික් පැත්ත දැමූ රොටියේ ඒ පැත්ත ද කරවූ පසු ඇ හැඳි මිටි දෙකක් එක්කර එය බා ළඟ තිබූ වට්ටිය මත තැබුවා ය. තැන තැන කැන්ද කොළ කෑලි දැවී ගැලවී ගොස් තිබූ රොටිය කිසිදු ඇඟිල්ලක් බැලිල්ලක් නැතිව ගන්නට මම වෑයම් කළෙමි.

"පිච්චෙයි, පිච්චෙයි. කලබල නැතිව ඉඳින් ටිකක්" අක්කා කීවා ය. මම ඇය කියූ දෙය නොඇසුණාක් මෙන් රොටිය ගෙන එය අතින් අතට මාරු කරමින් හා එයට පිඹිමින් ඉස්තෝප්පුවට දුව ගියෙමි.

"කුරක්කන් අඹරන්ඩ අය නැතුවට කන්ඩ අය නම් ඕනෑ තරම් ඉන්නව. මටත් කරන්ඩ තිබුණෙ අර වී ඇටය අහුලපු කිකිළි කරපු දේ" ඇ මා දෙස බලා සිනාසෙමින් කීවා ය.

මීළඟ සතිය හෝ දෙක ඇතුළත ගමේ කවුරුත් කතාබහ වූයේ සෞඛ්‍ය පරීක්ෂකගේ පැමිණීම ගැන ය. සමහරුන් ඔහු හැඳින්වූයේ 'සැන්ටිපෝට්' යන නමිනි. සමහරු වැසිකිළියක් සාදා ගැනීමේ අවශ්‍යතාව ගැන කීහ. සමහරුන් කතා කළේ එහි ඇති දුෂ්කරතා ගැන ය. තවත් සමහරුන්ගේ අවධානය යොමු වී තිබුණේ ඉන්ස්පැක්ටර් කී පරිදි ක්‍රියා නොකළ හොත්

සිදු විය හැකි කරදර පිළිබඳව ය. තාත්තා අයත් වූයේ මේ තුන්වැනි කොටසට ය. ඔහුගේ නොකෙරෙන වෙදකමට ඔහු කෝඳුරුතෙල් හත්පට්ටයක් සොයන්නට පටන් ගති.

"කාට තියෙන සල්ලි ද?" ඔහු වරක් අසයි.

"තියෙන දෙයක් විකුණලා හරි සල්ලි හොයා ගත්තා කියමුකො. කෝ ඉතින් බාස්ලා?" නැවත අසයි.

වර්ෂාවක් වැස පායන්නාක් මෙන් කතාබහ ද කාලයත් සමග තුරල් වී යන්නට විය. සති දෙකතුනකින් එය හැම දෙනාටම අමතක වී ගිය ලෙසක් පෙනෙන්නට තිබුණි. එහෙත් මකරා නිදා ගත්තා විනා මිය ගියේ නැත. අනික් අය නින්දට ගිය අතර ඌ යළිත් නැඟිට ගම පුරා සැරි සරන්නට විය. මාස දෙකකට පමණ පසු ගමේ නාගරික කෙළවරේ සිට කුණු ඉස්පැට්ටර යළිත් හොල්මන් කරන බව කල්තියා ම දැනගන්නට ලැබිණ. එතෙක් නිදා සිටියෝ වහවහා අවදි වන්නට වූහ; අවදි වී දුව පැන ඇවිදින්නට වූහ. සිමෙන්ති කොට්ටය දෙක, ගල් හා වැලි සමග හැම ගෙදරක් ළඟම පාහේ ගොඩ ගැසෙන්නට විය. එය මේසන් බාස්වරුන්ට වැඩ අධික, ඉතා වාසිදායක කාලයක් විය. වැඩක් නැතිව තැන තැන රස්තියාදු වෙමින් සිටි ගැටවරයෝද 'හදිසි බාස්වරුන්' වන්නට වූහ.

අපේ ගෙදරට බාස් කෙනෙකු ආ දිනය අපට විශේෂ දවසක් විය. මල්ලිත් මාත් පමණක් නොව නංගිවත් ඔහු ළඟින් ඉවතට ගියේ නැත. ඔහු යෙදී සිටින ආශ්චර්යවත් ක්‍රියාව දෙස අපි ඇසිපිය නොහෙළා බලා සිටියෙමු.

බාස් පළමුවෙන්ම රට අඹ ලැලිවලින් හතරැස් කොටුවක් තනාලී ය. ඉන් අනතුරුව කැට කළුගල්, වැලි හා සිමෙන්ති වතුරෙන් මිශ්‍ර කර, ඒ බදාමය යකඩ දැලක් මැදි කොට ලී කොටුවෙහි දැමී ය. එසේ කළේ මැද දිගින් අඩියක් පමණ පළලින් අඟල් හතරක් පමණ වූත් ද දිගටි හතරැස් කොටුවක් බේරෙන පරිදි ය. පොඩියට පෙනුණත් මේ වැඩය සඳහා ඔහුට සම්පූර්ණ දවසක් ගත විය. සවස වැසිකිළි ලෑල්ලේ සුද තබා ඔහු ගතමනාවත් රැගෙන ආපසු ගියේ පසුවදා උදේ ලෑල්ලට වතුර ඉස තෙමිය යුතු යැයි අපට උපදෙස් දීමෙන් ඉක්බිතිව ය. හරියටම හෙනහුරා පාත්වූයේ අප මේ අවවාදය ක්‍රියාවට පරිවර්තනය කරමින් සිටිය දී ය.

"කෝ, කව්ද හේරත් කියන්නෙ?"

"මම" තාත්තා ඉදිරිපත් විය.

"කෝ, වැසිකිළිය හැදුවද?" ඔහු ගිගුරුවේ ය.

"තවම ඉවර නෑ."

"ඉවර නෑ කියන්නේ හදන්න පටන් ගත්තද?"

"ඒකට තමයි මේ ලෑල්ල දැම්මෙ."

"ලෑල්ල දැම්මට වැසිකිළියක් හැදෙනවද මිනිහො? සුමාන දෙකකින් හදනව කියල නේද

එදා පොරොන්දු උණේ? දැන් සුමාන දෙක නෙමෙයි, මාස දෙකකටත් වැඩිය ඇති.''

''නෑ ආයිබෝවන්, මේ දවස් ටිකේ එක දිගට ම කුඹුරු වැඩ තිබුණා. ඒකයි ඉවර කරන්න බැරි වුණේ.''

''ඕව ගිහින් කියනව මට නෙවෙයි, උසාවියට. කෝ වළ කපලද?''

තාත්තා උඩ බිම බැලී ය; ''තවම නෑ''යි අනතුරුව කී ය.

''වළ කපන්න පටන් ගත්තෙවත් නැතුවයි 'තවම නෑ'! ගෑවෙ, තව සුමාන දෙකකින් වැඩ ඉවර කරල නොතිබුණොත් බලා ගත හැකි, කාටද වරදින්නෙ කියල.''

''හැම දෙනා ම ලෑලි දමන හින්ද දැම්ම මිසක වළක් ඕනැයි කියල මට නම් කල්පනාවක් වත් උණේ නෑ.'' යි සෞඛ්‍ය පරීක්ෂකවරයා පිටත් ව ගිය ඉක්බිති තාත්තා තනියම කී ය.

වැසිකිළි තැනීමට කිසිම උනන්දුවක් නොගත් කිහිප දෙනෙකුට ම නඩු පැවරීමට ලියා ගෙන ගිය බව සැලවූයෙන් පසුවදා ම වළක් කැපීම ආරම්භ කරන ලදි. එය තාත්තාට ම කළ හැකි දෙයක් වූයෙන් උපදෙස් හැරෙන්නට වෙන උදව්වක් කිසිවකුගෙන් අවශ්‍ය නොවී ය. වළෙන් පසු නැවතත් වැඩ නතර විය. ඒ, මෙවරත් සෞඛ්‍ය පරීක්ෂක සති දෙකක් ඇතුළත නොපැමිණි බැවිනි. එහෙත් හය මසකට පමණ පසු යළිත් ඔහු ගෙදරට පාත් වූ කල ගැලවී ගත හැකි වූයේ නොවඳින වැඳුම් වැඳ, කෙසේ හෝ තව සති දෙකක් ඇතුළත වැසිකිළිය තනා නිම කරන බවට පොරොන්දුවක් දීමෙන් ඉක්බිතිව ය.

තව දුරටත් මෙය කල්දැමිය නොහැකි ය. අඩක් වැඩ අවසන් කර ඇති නිසා එසේ කල් දැමීමේ තේරුමක් ද නැත. නඩු, උසාවි යනු බොහෝ ගැමියන්ට මෙන් ම තාත්තාට ද රෞරව නරකය වැනි භයානක දේවල් ය. මේ නිසා ගෙදරට පුංචි පැටියකු ඇති වූවාක් මෙන්, ගේ කිට්ටුව පුංචි වැසිකිළියක් තැනිණ. මේ පුංචි පැටවා මහ එකාටත් වඩා ලස්සන විය. මහ ගෙදර බිම ගොමමැටි ය. මෙහි සිමෙන්ති ය. මහ ගෙයි බිත්තිවල ගොම මැටි ය. මෙහි සුදුහුණු ය. නැකම හැඟවීමට මෙන් දෙකේ ම වහල සෙවිලි කර තිබුණේ පොල් අතුවලිනි. පොඩි එකාගේ උපන් දිනය 1924.12.1 යනුවෙන් උළුවස්සට උඩින් කොටා තිබිණි.

සෞඛ්‍ය පරීක්ෂකවරයා ඊළඟ වාරයේ පැමිණි විට අපේ මේ හපන්කම දැක තෘප්තිමත් වූවාට සැක නැත. ඔහු වැසිකිළිය වටේ යමින් පරීක්ෂා කර බැලී ය; දොරෙන් ඇතුළු වී වළට එබිකම් කර බැලී ය. කවර අඩුපාඩුවක් පෙන්නා දෙනු ඇද්දැයි අප විමතියෙන් බලා සිටි අතර ඔහුට පෙන්වීමට දෙයක් එහි නොවී ය. ඔහු පිටුපස තාත්තා සැනසිලි සුසුමක් හෙළී ය.

වැසිකළිය තනා නිම වූ නමුත් අපි කිසිවෙක් එය පාවිච්චි නො කළෙමු. නීතියෙන් ගැලවීමට සෞඛ්‍ය පරීක්ෂකටත් අපටත් අවශ්‍ය වූයේ ගොඩනැගිල්ල පමණකි. වැසිකිළිය තැනීමෙන් පසු එය අනිවාර්යයෙන් ම පාවිච්චියට ගනු ඇතැයි ඉන්ස්පැක්ටර් සිතුවා ද විය හැකි ය.

අපි නම් එයට කක්කුස්සිය කියා වත් නොකීවෙමු. අපට නුහුරු එය අප හැඳින්වූයේ 'වැසිකිළිය' යන නුහුරු, එහෙත් ගෞරවාන්විත නමිනි. මේ අතර මල්ලිත් නංගීත් එය වෙනත් වැඩකට යොදා ගත්හ. එනම් සෙල්ලම් බත් ඉවීමටත්, සෙල්ලම් කඩ දැමීමටත් ය!

සැමදාම උදෑසන අපි එක් එක්කෙනා එක එක දිසාවෙන් කැලෑ රොදට පිවිසෙමු. පඳුරු ඈත් මෑත් කර රිංගන අපට කෙනෙකුට නිදහසේ වාඩි වී සිටීමට තරම් ඉඩකඩ ඇතිව ගස් කොළන්වලින් වට වුණු බිම්කඩක් හමු වෙයි. ගස් මැත් කරන අඩිය තබන හඬින් ම නිලමැසි හමුදාවක් රූං ගාගෙන අහසට නැග ආවොත් අපි එතැනින් වහාම පසුබසිමු. වනරොදින් පිටවන පිරිමින් කෙළින් ම යන්නේ වත්ත පහළින් ගලා යන ඇළ පාර වෙතට ය. ගැහැනු වතුර පනිට්ටුවකුත් රැගෙන පොල් අතු මැස්සටත් දර මැස්සටත් අතර වන හිස් බිම් තීරුවට යති. මෙහි පිටුපසින් බඩවැටියකි. ඉදිරිපසින් එනසාල් පඳුරු කීපයකි. එහෙයින් එහි ගිය කෙනෙකු පිටත සිටින අයෙකුට පෙනෙන්නේ නැත.

රාත්‍රි කාලයෙහි නම් කැලෑ රොදෙහි ද අර තරම් ඇතුළට යෑම අවශ්‍ය නොවේ. මේ ගමනට වඩාත් ම හොඳ පොල් කටුවක ගසන ලද ඉටිපන්දමකි. පොල්කටුව අනික් පැත්තට හරවා තැබූ කල්හි ඉඳගෙන සිටින තැනැත්තා නොපෙනෙන හෙයිනි. එහෙත් හැමදාම ගෙදර ඉටිපන්දම් ඇත්තේ නැත. වැස්සක් සුළඟක් ඇතොත් කුප්පි ලාම්පුව ගෙන යෑමට ද නුපුළුවන. එවිට හුළු අත්තකටත් වඩා හොඳ හනස්සකි. සමහර හනසු ඉතාමත් උපකාරශීලී ය. ඒවා එළිය අනවශ්‍ය විට ටිකක් නිඳි කරවා, අවශ්‍ය විටක දල්වා ගැනීමට පුළුවන. එළිය ඇතත් නැතත් පාරක් තොටක් අපවිත්‍ර නොකිරීමට කවුරුත් පරෙස්සම් වූහ. එසේ කළහොත් අධෝමුඛයෙහි ගෙඩි සෑදෙතැයි යන විශ්වාසය කා තුළත් තදින් මුල් බැස ගෙන පැවති බැවිනි.

අලුත් අවුරුද්දේ අලුත් පන්තියකට ගිය විට අපට ඉගැන්වූ විෂයන් අතර සෞඛ්‍ය විද්‍යාව ද විය. විෂබීජ හා ක්ෂුද්‍ර ප්‍රාණීන් පිළිබඳව ද මෙහිදී උගන්වනු ලැබිණ. ඒ අනුව ඇතැම් ලෙඩ රෝග සෑදුණේ ඔවුන්ගෙනි. මෙය මෙතෙක් මා සිතා සිටි රෝග නිදානවලට වඩා වෙනස් විය. කුමන ලෙඩක් සෑදී වෙද මහතා ළඟට ගියත් ඔහු කීවේ වාතය, පිත නැත හොත් සෙම කිපීමෙන් එය හටගෙන ඇති බව ය. අම්මා හා තාත්තාත් එය එසේ ම විශ්වාස කළ අතර යක්ෂ දෝෂ හා ප්‍රේත දෝෂවලින්ද ලෙඩ හට ගන්නා බව ඔවුන් අතර ඇති වූ කතාබස්වලින් පැහැදිලි විය. මේ පරස්පර විරෝධ භාවයෙන් මා තුළ විමතියක් හට ගත්තෙන් මම පාසලේ උගත් කරුණු ගැන අම්මාට කීවෙමි.

"ඇහැටවත් නොපෙනෙන සතුන්ට පුළුවන් ද මෙච්චර ලොකු මිනිස් ඇඟකට හානි කරන්න? එහෙම නම් මැක්කො, මකුණො කන තරමට මිනිස්සුයි කියල ජාතියක් ඉතුරු වේවියැ?" අම්මා කීවා ය.

"එහෙම නම් අපට පෙරේතයො කොහොමටවත් පෙනෙන්නෙ නෑ නොවැ?"

"ඇහැට නොපෙනුණාට සමහර පෙරේතයො ඉන්නව කඳු පරුවත තරම් විශාල. එක පෙරේත වර්ගයක් ඉන්නවලු ඇඟ පර්වතයක් තරම් විශාල උණාට කට ඉඳිකටු මලක් තරමට පුංචි."

"ඉතින් ඒ නොපෙනෙන සතා පෙනෙන දෙයක් කාපුවහම ඒ කාපු දේවත් පේන්ට එපායැ?"

"පෙරේතයො කෑම කන්නෙ නෑ. කෑමට දිෂ්ටිය හෙළනව. එහෙම දිෂ්ටිය හෙළපු කෑම කාපුවහම තමයි ලෙඩ වෙන්නෙ."

විමතිය මුළුමනින් ම පහ නුවූවත් අම්මා කියූ දෙය ඇත්ත වන්නට ඇතැයි මම එවේලේ සිතුවෙමි. එසේ වුවත් පාසලේ දී සෞඛ්‍ය පාඩම තව දුරටත් ඉගෙන ගන්නා විට ඒ ඉගෙන ගන්නා කරුණු වඩා සත්‍යයයි සිතෙන්නට විය. වැසිකිළි පාවිච්චි නො කිරීම නිසා පාචනය, කොලරාව, කොකුපණු රෝගය වැනි ලෙඩ රෝග ඇති වන බවද කියැවිණි. පාසලේ පෙන්වූ 'මැජික්' හෙවත් නිසල රූපරාමු ප්‍රදර්ශනයක දී කොකුපණු රෝගීන්ගේ අසූචි මාර්ගයෙන් කොකුපණු රෝගය පැතිරෙන ඡායාරූප දක්නට ලැබීමෙන් මේ අදහස වඩාත් තහවුරු විය. එපමණක් නොව, වැසිකිළි පාවිච්චිය අර්ථවත් ක්‍රියාවකැයි ද ඒත්තු ගැන්විණි.

අප පාසලේ වැසිකිළියක් හා කැසිකිළියක් තිබූ නමුත් මම කවදාවත් වැසිකිළිය ප්‍රයෝජනයට ගෙන නැත්තෙමි. අවශ්‍යතාවක් ඇති වූ විට පවා ගෙදර එනතුරු තද කරගෙන සිටියෙමි. වෙනත් ළමයින් ද මෙහි යනු මා දැක නැත. එහෙයින් එය ගුරුවරුන්ට පමණක් සීමා වූවක් ලෙස සැලකීමෙහි වරදක් නැත. විවේක කාලයේ සීනුව නාද වත් ම අප රංචුව පිටින් ම දුවගෙන ගියේ මූත්‍රා කිරීම සඳහා කැසිකිළිය වෙතට ය.

වියපැහැදම් කොට මහන්සි වී වැසිකිළියක් තනා අලංකාරය සඳහා තබා ගැනීමේ තේරුම කුමක් ද? කැලෑ රොදට වදිද්දී වරක් දෙකක් ම පයට දැනුණු පිළිකුල් ස්පර්ශය මතක් වන විටක් හිරිකිතයක් ඇති කරලයි. මේ හැරෙන්නට, අලුත් භාණ්ඩයක් භාවිතයට ගැනීමට කෙනෙකු තුළ ඇති වන ආශාවට සමාන ආශාවක් ද මා තුළ ඇත.

මුලින් ම මා වැසිකිළිය පාවිච්චියට ගත්තේ ගෙදර කාටවත් නොදැනෙන පරිදි ය. මල්ලි හෝ නංගී එහි නොගොස් කොළ රොඩු විසිරී තරමක් 'අපිරිසිදු' වී තිබීම ද මට පහසුවක් විය. වැසිකිළිය ප්‍රයෝජනයට ගත්තත් ජලය සඳහා එදින ද මම ඇළපාරට ගියෙමි. ගොස් වෙල්යායේ උඩ යට බලා, කිසිවෙකු පෙනෙන්නට නොසිටියෙන් එතැනම වාඩි වූයෙමි.

කෙසේ වුවද මෙය මට ම තනි කර තබා ගැනීමට තරම් 'බර වැඩි' අත්දැකීමක් විය. පිට යාළුවකුට එය නොකිය හැකි ය. ගෙදරින් වුව ද කිව හැක්කේ මල්ලිට පමණකි. මල්ලි මා සිතූ තරම් විශ්වාසවන්තයෙක් නොවී ය.

"අම්මේ...." යැයි කට පුරවගෙන ඔහු කුස්සිය දෙසට දුවන්නට සූදානම් විය. මම අතින් අල්ලා ඔහු නතර කළෙමි.

"ඕක ඔය තරම් අඬබෙර ගහන්න දෙයක් නෙවෙයි. දැන් කවුරුවත් කැලෑ ගානෙ රිංගන්නෙ නෑ" යි මම කීමි.

අම්මාට නො කීවත් ඔහුට ද එය තනිව රැක ගත හැකි රහසක් නොවී ය. ඔහු එය නංගීට කියා තිබිණ. නංගී එය අක්කාගේ කනේ තැබුවා ය.

"ංහ්! එයාට විතරක් මොක ද? මමත් හෙට යනවා." යි නංගී තර්ජනය ද කළා ය. "උඩහ ගෙදර ගුණවතීල අපට හැමදාම හිනා වෙනව, කක්කුස්සියක් හදාගෙන පෙනුමට තියාගෙන ඉන්නව කියල."

පසුදින උදේ නංගී වෙනදාටත් කලින් ගෙයින් දොරට බැස්සා ය. වතුර පතිට්ටුවක් පුරවා ගත් ඈ වැසිකිළියට වැදී දොර වසා ගත්තා ය. එදින ම මල්ලිත්, දිනකින් දෙකකින් අක්කාත් අම්මාත් ඈ අනුකරණය කළහ.

තවත් කාලයක් තිස්සේ පෙර සිරිත අනුගමනය කළේ තාත්තා පමණකි. ළමයින් ලොකු වී ගෙදර දොරේ වියදම් වැඩී යත් ම කැලෑව කුඩා වන්නට විය. ඒ සමග ම නිතර ප්‍රයෝජනයට ගැන්ම නිසා වැසිකිළිය ද ජරාජීර්ණ වී ඉන් සිහින් දුගඳක් ද හමා එයි. දැන් අප එය හඳුන්වන්නේ ද වැසිකිළිය කියා නො ව කක්කුස්සිය යනුවෙනි. දැන් එය තාත්තාට වුව ද ප්‍රයෝජන ගැනීමට අසීරු නොවන ස්ථානයක් වී ඇත. එහෙයින් ඔහු එහි යන නමුත් පැරණි ඇබ්බැහිකම්වල නෂ්ටාවශේෂයක් හැටියට ඉන් අනතුරුව වත්ත පහළ දිය පාර වෙත යයි.

## අභ්‍යාස

01. වැසිකිළි භාවිතය පිළිබඳව එදා ගම්මුන් තුළ පැවති ආකල්පය කෙබඳු ද යි මෙම කෙටිකතාව ඇසුරෙන් විමසන්න.

02. අපට වැසිකිළියක් කෙටිකතාවෙහි සිද්ධි හා අවස්ථා නිරූපණයේ දී කතුවරයා දක්වා ඇති දක්ෂතාව විග්‍රහ කරන්න.

03. වැසිකිළි සැකසීමේ ව්‍යාපාරය මහජන සෞඛ්‍ය පරීක්ෂකවරයා ජය ගත්ත ද එය භාවිත කිරීමේ ජයග්‍රහණය ලබන්නේ කථකයා යි. 'අපට වැසිකිළියක්' කෙටිකතාව ඇසුරෙන් පැහැදිලි කරන්න.

04. "අපට වැසිකිළියක් කෙටිකතාව සඳහා යොදා ගත් භාෂාව එහි සාර්ථකත්වයට ප්‍රධාන හේතුවකි." විමසන්න.

05. කෙටිකතාවේ චරිත, එහි අරමුණ සාක්ෂාත් වන අන්දමට නිරූපණය කර ඇති ආකාරය පැහැදිලි කරන්න.

# 14 දියමන්ති මාලය

ගී ද මෝපසං (1850 - 1893)



ගී ද මෝපසං 1850 අගෝස්තු මස 5 වන දා ප්‍රංසයේ දී උපත ලැබී ය. විවිධ ප්‍රදේශවල පැවති සාහිත්‍ය සභාවලට සහභාගි වෙමින් ඔහු සිය සාහිත්‍ය ජීවිතය ගොඩනගා ගත්තේ ය. පසු කාලීනව ඔහු ලොව කෙටිකතාකරුවන් අතර ප්‍රබල නිර්මාණකරුවකු බවට පත් විය.

ඔහු විසින් රචනා කරන ලද නවකතා 9ක් පමණ වන අතර කෙටිකතා 300ක් පමණ රචනා කොට ඇති බව කියැවේ. මේ පාඩමෙහි එන, මෝපසං ලියූ 'දියමන්ති මාලය' පාඨක විචාර සම්භාවනාවට පත් වූ උසස් ගණයේ කෙටිකතාවකි. එය සිංහලයට පරිවර්තනය කොට ඇත්තේ කේ. ජී. කරුණාතිලකයන් විසිනි.

ඈ වූ කලී, දෛවයට සිදු වන ඇතැම් වැරදීම් නිසා දෝ ලිපිකරු පවුල්වල උපත ලබන ඒ සුන්දර රූමත් කාන්තාවන්ගෙන් එකියක් වූවා ය. ඇය වෙනුවෙන් වෙන් කරන ලද දායාදයක් නො වී ය. එමෙන් ම ධනවත්, උසස් පිරිමියකු විසින් දුන හැඳින ගනු ලැබ, ආලය කරනු ලැබ, විවාහ කර ගනු ලැබීමේ බලාපොරොත්තුවක් හෝ හැකි කමක් ද ඇය වෙත නොවූයේ ය. එහෙයින් ඇය අධ්‍යාපන අමාත්‍යාංශයේ සුළු ලිපිකරුවකුට තමා විවාහ කර දීමට ඉඩ හැරියා ය.

හැඩ වැඩ ඇතිව ඇඳීමට පැලඳීමට හැකිකමක් නො තිබුණ හෙයින් ඈ චාම් ව ඇන්ද ය. චාම්ව පැලැන්දා ය; අනෙක් රුචි-අරුචිකම් ද බැරිකම කරණ කොට ගෙන සරල අන්දමින් පවත්වා ගත්තා ය. එහෙත් ඇය සිතින් ජීවත් වූයේ තමාට තරම් නො වන පහත් විවාහයකට මැදිහත් වූ එකියක මෙන් අසන්තෝෂයෙනි. කුමක් නිසා ද යත හොත්: ස්ත්‍රීන්ට කුලයක් හෝ පන්තියක් නොමැති බැවිනි; ස්ත්‍රීන් සම්බන්ධයෙන් කුලය හා පන්තිය වෙනුවට ක්‍රියා කරන්නේ ඔවුන් ගේ රූ සපුව, හාවභාව ලීලා හා ලලිත කාන්තා ගති ගුණ වන හෙයිනි. ඔවුන් සතු සහජ සුකෝමලත්වයත්, ඉවෙන් මෙන් ඔවුන් තුළ පහළ වන සිත් සතන් ඇද ගැනීමේ සමත් ප්‍රිය මනාප භාවයත්, අල්ලාප සල්ලාපයෙහි චතුරතාවත් උසස් බවේ එක ම ලක්ෂණය වෙයි. එ මෙන් ම, ඒවා නිසා ම මුඩුක්කුවේ වසන තරුණියත් ඉතා ම උසස් ආර්යාවත් යන දෙදෙනා ම එක හා සමාන තත්ත්වයකට පත් වෙති.

තමා ඉපදී ඇත්තේ සියලු ම සැප සම්පත් හා සුඛ විහරණ ආස්වාදනය කිරීමට ය යන හැඟීම නිසා ඈ නිරන්තරයෙන් දුක් වේදනාවලට භාජනය වූවා ය. නිවෙසේ දිළිඳු අසරණකමින්, එහි බිත්තිවල කාලකණ්ණි දුක් බර පෙනුමෙන්, දිරා ගිය පුටුවලින් හා අවලස්සන දොර ජනෙල් රෙදිවලින් බලවත් සේ සිත් තැවුලට පත් ඈ මනස්තාපයෙනුත් පශ්චාත්තාපයෙනුත් කාලය ගත කළා ය. ඇයගේ සමාජ තත්ත්වයේ සිටි අනෙක් ස්ත්‍රියකට කිසි ම අමුතු ශෝකයක් හෝ අමුතු දොම්නසක් ඇති නොවන මේ සියලු ම දේවලින් ඈ කනස්සල්ලටත් කනගාටුවටත් පත් වූවා ය. ඇයගේ කුඩා නිවෙසේ වැඩපළ කර දීමට පැමිණි මෙහෙකාර දැරිය දැකීමෙන් ඇගේ සිත දොම්නස් සහගත කටුක සිතිවිලි රාශියකින් පිරී ඉතිරී ගියේ ය. පෙර දිග මහාර්ඝ තිරරෙදිවලින් අලංකාර කරන ලද, උස් ලෝකඩ පහන් රුක්වලින් ඒකාලෝක කරන ලද, ගිනි උදුනේ සුව පහස් දනවන උණුසුම කරණ කොට ගෙන විශාල අත් පුටුවල වැතිර නිදිබරව සිටින, සරුවාල ඇඳ ගත් දූවැන්ත සේවකයන් දෙදෙනකුත් විසින් ආවතේව කරනු ලබන, නිහඬ නිශ්ශබ්ද අන්තර් ගර්භාගාර පිළිබඳ සිහින ඈ සිතින් මවා ගත්තා ය; අනර්ඝ කෞතුක වස්තුන්ගෙන් පිරුණා වූ සූක්ෂ්ම කර්මාන්තයන්ගෙන් හෙබි ගෘහ භාණ්ඩවලින් ද එල්ලන ලද පුරාණ සේද තිර රෙදිවලින් විචිත්‍ර වූ අතිවිශාල ශාලා ද සෑම ගැහැනියක ම ඊර්ෂ්‍යා පරවශ වූත් ප්‍රාර්ථනීය වූත් සිතින් අශ්‍රය කිරීමට ආශාවෙන් සිටින චිර ප්‍රසිද්ධ මිනිසුන්ගෙන් සැදුණු ඉතා විශ්වාසී මිතුරන් ස්වල්ප දෙනකුන්ගේ ප්‍රිය සමාගමය සඳහා ම වෙන් කරන ලද සුගන්ධවත් සුන්දර ආගාර ද සිතින් මවා ගත් ඈ ඒවා පිළිබඳ කල්පනාවෙන් මනෝලෝකයක ජීවත් වූවා ය.

දින තුනක් පරණ වූ මේස ඇතිරිල්ලක් එළන ලද රවුම් මේසයට රාත්‍රී ආහාර සඳහා වාඩි වූ ඇය, තමා ඉදිරියෙන් හිඳ ගත් සැමියා සුප් බඳුනෙහි වැහුම් අරිමින් මහත් ප්‍රබෝධයකින්, “ආ, හරි ෂෝක් සුප් එකක් නෙ! මෙච්චර රස ඇති වෙන කිසි ම ආහාරයක් නෑ!” යි ප්‍රීති රාවයක් නැගූ විට, කල්පනා කළා බිත්තිවල එල්ලන ලද පෞරාණික මනුෂ්‍ය වර්ගයන්ගෙන් හා දෙව් ලියන්ගෙන් සැදුණ වන රොදක පියා හඹන අද්භූත පක්ෂීන්ගේ රූප සටහන්වලින් පිරුණු වර්ණවත් තිරරෙදි ගැන ය; කාන්තියෙන් කැලුම් විහිදූ රිදීමුවා බඳුන් ගැන ය; ප්‍රණීත ආහාර පාන ගැන ය; ආශ්චර්යවත් තැටිවල බහන ලද රස මසවුළු ගැන ය; ට්‍රෞට් මත්ස්‍යයන්ගේ ළා රත් පැහැති මස හෝ වටු කුරුල්ලන්ගේ අත් හැඳි අනුභව කරන ගමන් ම තේරුම් ගැනීමට නුපුළුවන් මඳහසක් මුවගෙහි රඳවා ගෙන රහස් කෙඳිරිවලින් කියනු ලබන ලලනෝපචාරී සංලාපයන්ට ඇහුම් කන් දෙන අන්දම ගැන ය. ඇයට ඇඳුම් පැලඳුම් හෝ මුතු මැණික් හෝ කිසිවක් නොතිබුණේ ය. එහෙත් ඇය ආශා කළේ ද ඒවාට ම ය. තමා ඉපදී ඇත්තේ ඒවා සඳහා ම යැ යි සිතූ ඈ, අන්‍යයන් වශී කර ගැනීමටත්, අන්‍යයන් විසින් ප්‍රාර්ථනා කරනු ලැබීමටත්, බෙහෙවින් ම ප්‍රියංකර වීමෙන් අන්‍යයන්ගේ මන නුවන් පොලොඹවා ගැනීමටත් ඇත් නම් කෙතරම් හොඳ දැ යි කල්පනා කළා ය.

ඇයට තමා හා එකට ඉගෙන ගත් මිතුරියක් සිටියා ය. මිතුරිය බැලීමට ගොස් පෙරළා ආ සෑම විටෙක ම ඈ බලවත් චිත්ත සන්තාපයකට හා දුක් වේදනාවකට භාජන වූවා ය. මිතුරිය හමු වී ආපසු එන ඇය, දින ගණනාවක් ම දුකට හා දොම්නසට ද සංවේගයට හා සන්තාපයට ද ගොදුරක්ව හඬා වැලපීම සිරිතක් වූයේ ය; එ හෙයින් ඈ තවත් මිතුරිය බැලීමට නො යෑමට සිතා ගත්තා ය.

එක්තරා සන්ධ්‍යාවක දී ලොකු ලියුම් කවරයක් අතින් ගත් ඇගේ සැමියා මහත් සන්තෝෂයකින් නිවෙසට පැමිණියේ ය.

"ඔන්න ඔයාට බඩුවක් තියෙනවා," යි ඔහු කී ය.

වහා ම කවරය ඉරා ලියුම විවෘත කළ ඇ, එතුළින් මුද්‍රිත කාඩ් පතක් එළියට ගත්තා ය. එහි මෙ සේ මුද්‍රණය කර තිබිණ:

**"අධ්‍යාපන අමාත්‍යවරයා සහ රම්පොනෝෆ්ෂෝ මැතිනිය, ලොයිසල් මහතාගේ හා එම මැතිනියගේ ප්‍රිය සමාගමය, ජනවාරි මස 18 වැනි දින සවස අමාත්‍යාංශ මන්දිරයේ දී මහත් හරසරින් අපේක්ෂා කරති."**

මෙම කාඩ් පත කියවා බැලූ ඇ, සැමියා බලාපොරොත්තු වූ අන්දමින් ප්‍රමෝදයට පත් වනු වෙනුවට අවඥාවෙන් එය මේසය මතට විසි කර දැමුවා ය.

"ඕකෙන් මට මොකක් කරන්නෙයි කියලා ද කියන්නේ?"

"ඇයි අනේ, මම හිතුවා ඔයා ඕකට සතුටු වෙයි කියලා; ඔයා කවදා වත් ගමනක් බිමනක් යන්නෙ නෑ නේ; ඉතින් ඒකටත් එක්ක මේක හොඳ අවස්ථාවක්. ඕක මං ගත්තේ කො තරම් වදෙන් පොරෙන් ද; හොඳට තෝරලා බේරලා යි ඕවා දෙන්නේ; ලිපිකරුවන්ට ලැබෙන්නේ බොහොම ටික යි; දළකාරයෝ ඔක්කොම ටික එහේ දි ඔයාට බලා ගන්න පුළුවන් වේවි."

කෝපයෙන් ඔහු දෙස බැල්මක් හෙළූ ඇ නො ඉවසිල්ලට පත් වූවා ය.

"ඉතින් මොකක් ද මට තියෙන්නෙ ඇඟේ දා ගෙන යන්න ඔයි වගේ තැනකට?"

මේ ගැන ඔහු කල්පනා කර තිබුණේ නැත; ඔහු ගොත ගැසුවේ ය.

"ඇයි, ටීටර් බලන්න යන කොට ඇඳ ගෙන යන එක? මට නම් ඒක හරි හොඳයි."

මෙවිට භාර්යාව හඬන්නට පටන් ගනු දැකීමෙන් අන්ද මන්දව වික්ෂිප්තයට පත් වුණු ඔහු කීමට කටට ගත් දෙයත් නතර කර ගත්තේ ය. ඇගේ නෙත් කොන්වලින් විශාල කඳුළු බිඳු දෙකක් මතු වී මුව දෙකොනට රූරා බසින්නට වී ය.

"මොක ද මේ ඔයාට වෙලා තියෙන්නේ? මොක ද මේ වෙලා තියෙන්නේ?" යි ඔහු පැකිළෙමින් ඇසුවේ ය.

මෙහි දී බලවත් වෑයමකින් තම ශෝකය මැඩ ගත් ඇ, තෙත් කොපුල් තල පිස දමමින් සන්සුන් විලාසයකින් පිළිතුරු දුන්නා ය.

"නෑ, මොකුත් නෑ. මට අඳින්න අඳුමක් නෑ. ඒක හින්දා ඔය පාටියට යන්න බෑ. මට වඩා හොඳට ඇඳුම් පැළඳුම් තියෙන භාර්යාවක් ඉන්න යාළුවෙකුට ඕක දෙන්න."

බලාපොරොත්තු සුන් වී යැමෙන් ඔහු බලවත් සේ දොම්නයට පත් වූයේ ය.

"මේ බලන්න මැටිල්ඩා," යි ඔහු උදෙ‍්‍යාගයෙන් පැවසුවේ ය. "සෑහෙන ඇඳුමකට කීයක් විතර යාවි ද? වෙන ගමනකට බිමනකටත් ඇඳ ගෙන යන්න පුළුවන් විදියෙ එකකට, බොහොම චාම් පහේ."

ඈ, අරපිරිමැස්මෙන් යුතු ලිපිකරුවාගෙන් එකෙණෙහි ම ප්‍රතික්ෂේප කිරීමක් හෝ විස්මයාකුල රාවයක් හෝ නො ලැබීමට නම් කිව යුත්තේ කෙතරම් මුදල් ප්‍රමාණයක් ද යන්න සිතින් ගණන් බලමින් තත්පර කීපයක් මේ ගැන කල්පනා කර බැලුවා ය. අවසානයේ දී ඈ මඳක් පැකිළෙමින් මෙසේ කීවා ය:

"හරියට ම මට කියන්න බෑ, ඒ වුණත් මං හිතනවා ප්‍රන්කු හාර සීයකින් විතර පිරි මහ ගන්න පුළුවන් වේ වි කියලා."

මෙය ඇසීමෙන් ලිපිකරුවා මඳක් සුදුමැළි වී ගියේ ය. කුමක් නිසා ද යත්; ඉරු දිනවල දී තම මිතුරන් සමග වටුවන් වෙඩි තැබීම සඳහා නාන්තේර් තැන්නට ඒළග ග්‍රීෂ්ම ඍතුවේ සිට යන අදහසින් තුවක්කුවක් මිල දී ගැනීමට ඔහු ඉතිරි කර ගෙන තිබූ මුදල් ප්‍රමාණය ද හරියට ම ඒ ගණන ම වූ හෙයිනි.

එ සේ වුව ද ඔහු, "හොඳ යි, මං ඔයාට දෙන්නම් ප්‍රන්කු හාර සීයක්; ලස්සන ම ඇඳුමක් ගන්න උත්සාහ කර ලා බලන්න," යි කී ය.

උත්සව දිනය ළඟා වන්නට වී ය. එහෙත් ලොයිසල් මහත්මිය දුකෙන් හා දෙම්නසින් සිටිනු දක්නට ලැබිණ. කෙසේ වුව ද, ඇගේ ඇඳුම නම් සූදානම් ව තිබුණේ ය. එක්තරා සන්ධ්‍යාවක දී ඇගේ සැමියා ඇයට කථා කළේ ය. "මොක ද දැන් ඔයාට වෙලා තියෙන්නේ? දැන් දවස් තුනක වෙලේ ඉඳන් ඔයා ටිකක් අමුතු විදියකට යි ඉන්නේ?"

"කනේ කරේ දා ගන්න මොකුත් ම නැතිකම ගැන යි මං මේ දවස් ටිකේ ම කල්පනා කර කර හිටියෙ. මේක මගේ හිතට ලොකු අමාරුවක්. අඳින්න ආබරණයක්, මැණික් ගලක් කියලා මොකුත් ම දෙයක් ඇත්තේ නෑ," යි ඈ පිළිතුරු දුන්නා ය. "මං නිකම් ම නිකම් මොකුත් ම නැති එකියක් වගෙ පෙනේවි. පාටියට නො යනවා නම් වැඩිය හොඳ යි කියලත් මට හිතෙනවා."

"මල් ටිකක් ගහ ගන්නකො," යි ඇගේ සැමියා පැවසී ය. "අවුරුද්දේ මේ කාලෙ දි මල් ඇඳීම තමයි අලුත් ම පන්නේ; ප්‍රන්කු දහයක් දුන්නම හොඳ ලස්සන රෝස මල් දෙක තුනක් ගන්න පුළුවන් වේවි."
එහෙත් මේ කියුම ඈ නො පිළිගත්තා ය.

"නෑ.... පොහොසත් ගෑනු මැද්දේ දුප්පත් විදියට ඉන්න එක තරම් ලැජ්ජා නැති වැඩක් නෑ."

"ඔයා කොච්චර මෝඩ ද!" යි මෙහි දී ඇගේ සැමියා එක් වර ම රාවයක් නැගුවේ ය. "ගිහින් හම්බ වෙන්නකො ඔයාගෙ යාළුවාව: ෆොරෙස්ටියර් නෝනාව. හම්බ වෙලා, පස්සෙ ගිහින් දෙන කං ඉල්ල ගන්නකො කනට කරට දා ගන්න මොකවත්. එහෙම එකක් කර ගන්න තරමට යාළුකමක් තියෙනවා නේද?"

මෙය ඇසූ ඈ ප්‍රීති රාවයක් පිට කළා ය.

"ඇත්ත නේන්නං! මට එහෙම එකක් ගැන කල්පනාවක් වුණේ ම නෑ නෙ."

ඊට පසු දින තම මිතුරිය බැලීමට ගිය ඈ තමාට මුහුණ පාන්නට වී ඇති දුෂ්කරතාව ගැන ඇයට කීවා ය.

ෆොරෙස්ටියර් මහත්මිය කණ්ණාඩි මේසයෙන් විශාල ස්වර්ණාභරණ පෙට්ටියක් එළියට ගෙන ලොයිසල් මහත්මිය වෙත එය ගෙන ආවා ය. අනතුරුව එය විවෘත කළ ඈ, "මේවායින් ඔයාට ඕන එකක් තෝරා ගන්න," යි කීවා ය.

මෙහි දී මුලින් ම ලොයිසල් මහත්මියගේ ඇස ගැසුණේ වළලු වගයකට ය; අනතුරු ව මුතු මාලයක් ද ඊටත් පසු ව රනින් හා රුවනින් නිමවන ලද්දා වූත් විශිෂ්ට කැටයමින් අලංකාර වූත් වෙනීසියානු කුරුසයක් ද ඈ දුටුවා ය. මේ රත්නාභරණ එකින් එක ගෙන පැලඳ ගත් ලොයිසල් මහත්මිය ඒවායෙන් ලැබෙන අලංකාරය සලකා ගනු සඳහා කැටපත ඉදිරියේ සිට ගත්තා ය. ඉක්බිතිව ඒවා ළිහා තැබීමට සිත සාදා ගත නො හැකි වූ ඈ, පැකිළෙමින් වරින් වර, "වෙන ආභරණ හේම මුකුත් නැද්ද අනේ?" යි මිතුරියගෙන් ප්‍රශ්න කළා ය.

"ඇයි මේ තව තියෙන්නේ, හොඳට බලන්නකො අනේ. ඔයා ගෙ හිතට මේවයින් මොකක් අල්ලයි ද කියලා නම් මට කියන්න බෑ."

මෙහි දී හදිස්සියෙන් ම ලොයිසල් මහත්මිය, කළු සැටින් පෙට්ටියක බහන ලද ඉතා විචිත්‍ර දියමන්ති මාලයක් දුටුවා ය. එය දුටු කෙණෙහි ම ඇගේ හදවත ලජ්ජා විරහිත ආශාවකින් වේගයෙන් ස්පන්දනය වන්නට වූයේ ය. එය ගනිත් ම ඇයගේ අත වෙවුලී ය. උස් කරකින් යුතු වූ තම ඇඳුමට උඩින් ගෙල වටා එය බැඳ ගත් ඈ කැටපත ඉදිරියට ගොස් තම දර්ශනයෙන් තොමෝ ම වශීකෘතව ප්‍රහර්ෂයෙන් ටික වේලාවක් බලා ගත් වන ම බලා ගෙන සිටියා ය.

ඉක්බිති ව ඈ වේදනාත්මක ස්වරයකින්,
"මේක මට ණයට දෙන්න පුළුවන් ද? මේක විතර ම යි මං ඉල්ලන්නේ," යි ඇසුවා ය.

"ඕකත් වැඩක් යැ අනේ! අරං යන්නකො ඉතින්."

නො ඉවසිය හැකි ප්‍රීතියකින් හා ප්‍රමෝදයකින් තම මිතුරිය සිප වැලඳ ගත් ඈ, අනතුරුව එම මහාර්ඝ වස්තුව ද රැගෙන නිවෙසින් පිටත්ව ගියා ය.

උත්සව දිනය එළඹියේ ය. එ දින උත්සවයට සහභාගි වුණු ලොයිසල් මහත්මිය උත්කර්ෂවත් අන්දමින් පෙනී සිටියා ය. උත්සවයට පැමිණ සිටි අන් සියලු ම කාන්තාවන්ට වඩා රූමත් වූත් හාවභාවයෙන් පිරුණා වූත් ලාලිත්‍යවත් වූත් ඇයගේ මුවගෙහි ඉවසුම් නො දුන් සන්තෝෂයකින් රැඳුණු මඳහසක් වී ය. සෑම පිරිමියෙක් ම දල්වා ගත් දෙනෙතින් ඇයට බැලුම් හෙළුවේ ය; ඇය ගේ නම කුමක් දැ යි විමසුවේ ය. සෑම දෙනෙක් ම ඇයට හඳුන්වා දෙනු ලැබීමට ආශා කළෝ ය. කැබිනට්ටුවේ සෑම නිලධාරියකු තුළ ම ඇය සමඟ වොල්ට්ස් භ්‍රමණ නැටුමක යෙදීමේ ආශාවක් පහළ විය. අමාත්‍යවරයාගේ බැල්මට ද ඈ හසු වූවා ය.

මෙසේ සෑම දෙනකු තුළ ම අනුරාගයක් දනවූ ඈ බලවත් ප්‍රීතියකින් හා සොම්නසකින් උද්දාම ව නැටුවා ය. කාන්තා හදවතට එතරම් රස බර වන පූර්ණ විජයග්‍රාහී හැඟුමින් යුතු වූ ඈ, බැලුවන්ගේ හදවත් තුළ දැල්වූ ලාලසාවන් ද සෑම අතකින් ම තමා කරා ගලා ආ ආශ්චර්යවත් ආහ්ලාදයන් හා බහුමානයන් ද කරණ කොට ගෙන පහළ වූ අතිමහත් සන්තෝෂයකින් දැවටී ගියා, තම සාර්ථකත්වයත් රූප සෞන්දර්යයත් පිළිබඳ අභිමානයෙන් අන් කිසිවක් ගැන කල්පනාවක් නොමැති ව ආනන්ද ප්‍රවාහයක ගිලෙමින් හර්ෂෝන්මාදයෙන් නැටුවා ය.

ඇය ආපසු ගියේ අලුයම හතරට පමණ ය. මැදියම් රැයේ සිට ඇගේ සැමියා, තම බිරියන්ට සන්තෝෂයෙන් කාලය ගත කිරීමට ඉඩ හළ තමා හා සමාන වූ තවත් සැමියන් තිදෙනකුන් සමඟ හිස් පාළු කාමරයක නින්දෙන් පසු වූයේ ය.

ආපසු යෑමට සැරසෙත් දී ඔහු ගෙනවුත් තිබූ බ්ලැන්කේට්ටුව ඇයගේ කර වටා දමා පෙරවී ය. සාමාන්‍ය ජනයාගේ දිළිඳු පොරෝනයක් වූ එයත් නැටුම් උත්සවයට ඇඳ සිටි සාඩම්බර ඇඳුමත් අතර වූ වෙනස කැපී පෙනිණ. මේ ගැන ඇයට ද හැඟී ගිය හෙයින් අගනා ලොම් කබාවල දැවටෙමින් සිටි අනෙක් කාන්තාවන්ගේ ඇසට හසු නොවනු සඳහා එතැනින් හැකි ඉක්මනින් පලා යාමට ඈ උත්සාහ කළා ය. එහෙත් ලොයිසල් මහතා ඇය නතර කර ගත්තේ ය.

"ටිකක් ඉන්න, මැටිල්ඩා, එළියට බැස්සොත් හෙම්බිරිස්සාවක් එහෙම හැදෙන්න පුළුවනි. මං ගිහිල්ලා කැබ් එකක් අරන් එන කං ටිකක් ඉන්න."

එහෙත් ඔහුට කන් නුදුන් ඈ, වහ වහා තරප්පු පෙළින් පහළට බැස්සා ය. එසේ බැස වීථියට බට ඔවුන්ට කුලී රියක් සොයා ගැනීමට නො හැකි වී ය. එ හෙයින් ඔවුහු ඈත ගමන් ගත් කුලී රියැදුරන්ට හඬ ගසමින්, කුලී රියක් සොයමින් ඉදිරියට යන්නට වූ හ.

සීතලෙන් වෙවුලමින් කනස්සලු සහගත සිතින්, ඔවුහු සේන් නදිය දෙසට ගමන් කළෝ ය. අවසානයේ දී සේන් නදී බඩ, බඩු ගොඩ බාන වේදිකාවේ දී රාත්‍රියේ එහා මෙහා

යන එන්නා වූ ද තම කාලකණ්ණි දුක්බර තත්ත්වය දිවා කාලයේ දී පෙන්වීමට ලජ්ජාවෙන් මෙන් පැරිස් නගරය අවට කෙදිනක වත් දහවල් කල දී දකින්නට නො ලැබෙන්නා වූ ද ඒ පැරණි පන්නයේ රථවලින් එකක් ඔවුන්ට දකින්නට ලැබිණි.

මෙම කුලී රථයෙන් දේ මාතර් වීථියට පැමිණි ඔවුහු ශෝකාකුල ව තමන්ගේ නිවෙසට පා නැඟූ හ.

ඇයට නම් දුන් සියල්ල ම අවසාන ය. එහෙත් ඔහු කල්පනා කළේ යළිත් උදේ දහයට තමා කාර්යාලයේ පෙනී සිටිය යුතු වීම ගැන ය.

නිවෙසේ දී නැවත වරක් තම රූප සෞන්දර්යය ආස්වාදනය කිරීමේ අටියෙන් කැටපත ඉදිරියට ගිය ඈ, තම පොරෝනය ඉවත් කළා ය. එකෙණෙහි ම ඈ මහ හඬක් නැඟුවා ය. ඇය ගෙලෙහි බැඳ ගෙන සිටි මාලය එහි දක්නට නො තිබිණි.

"ඇයි මොක ද මේ?" යි මේ වන විට අඩක් දුරට ඇඳුම් මාරු කර සිටි ඇගේ සැමියා ප්‍රශ්න කළේ ය.

කිව නොහැකි තරම් වේදනාවකින් පීඩිත වූ ඈ ඔහු දෙසට හැරුණා ය.

"ෆොරෙස්ටියර් නෝනාගේ මාලෙ - මාලෙ නැති වෙලා."

දෙකන් ඇදහිය නොහැකි වූ ඔහු තිගැස්සුණේ ය.

"මොකක්? මොකක් - ඒක වෙන්න බෑ."

ඉක්බිතිව ඔවුහු ඇගේ පොරෝනයේ රැළි අතරත් ඇඳුමේ රැළි අතරත් සාක්කුවලත් බැලිය හැකි අනෙක් සෑම තැනකත් මාලය වැටී ඇත්දැ යි පරීක්ෂා කර බැලූ හ. එහෙත් ඔවුන්ට එය සොයා ගැනීමට නොහැකි වූයේ ය.

"පාටිය ඉවර වෙලා ආපහු එන කොට මාලෙ තිබුණයි කියලා ඔයාට මතක ද?" යි ඔහු ඇසුවේ ය.

"ඔව්, ඇමති මැඳුරෙ ශාලාවේ දී මං ඒක අත ගාලත් බැලුවා."

"ඒ වුණාට පාරෙදි නැති වුණා නම් ඒක වැටෙන සද්දෙ අපිට ඇහෙන්න ඕන නෙ. මං හිතන්නෙ කැබ් එකේ දී වෙන්න ඇති වැටුණ නම් වැටෙන්න ඇත්තෙ."

"මාත් හිතනවා; කැබ් එකේ නොම්මරය ඔයා ලියා ගත්තා ද?"

"නෑ, ඔයා ලියා ගත්තා ද?"
"නෑ."

ඔවුහු භ්‍රාන්තව ඔවුනොවුන්ගේ මුහුණු බලා ගත්හ. අවසානයේ දී ලොයිසල් යළිත් වරක් ඇඳුම් ලා ගත්තේ ය.

"අපි ආපු පාර දිගේ ආපහු පයින් ම මං යන්නම්," යි ඔහු කී ය. "පයින් ම ගිහිල්ලා හොයා ගන්න පුළුවන් ද කියලා බලන්නම්,"

මෙසේ කියූ ඔහු ගෙයින් එළියට බැස යන්නට ගියේ ය. සිදු වූ දෙයින් අන්තයට ම මැඩී ගිය ලොයිසල් මහත්මිය සිහි කල්පනාවෙන් තොර ව ඇඳට යැමට ද ශක්තියක් නොමැතිව නැටුම් උත්සවයට ඇඳ ගෙන ගිය ඇඳුම පිටින් ම පුටුවකට වී ගුළි ගැසී බලා ගෙන සිටියා ය.

උදේ හතට පමණ ඇගේ සැමියා පෙරළා නිවෙසට පැමිණියේ ය; ඔහුට මාලය සම්බ වී නො තිබිණ.

ඔහු පොලිස් සථානයටත් ප්‍රවෘත්ති පත්‍ර කාර්යාලවලටත් කුලී රථ සමාගම්වලටත් ගොස් මේ ගැන දැනුම් දුන්නේ ය; මාලය සොයා දෙන්නකුට තෑග්ගක් දීමට ද ඔහු ඉදිරිපත් වූයේ ය. අල්ප මාත්‍ර වූ හෝ බලාපොරොත්තුවක් තැබිය හැකි යම් තැනක් වී නම් ඒ සෑම තැනකට ම ඔහු ගොස් සොයා බැලුවේ ය.

ඒ මුළු දිනය ම ඈ මේ බියකරු විපතින් කම්පාවට පත් ව ආකුල ව්‍යාකුලව ගිය මනසින් කාලය ගත කළා ය.

ලොයිසල් සුදුමැළි ව, ඇදී ගිය මුහුණින් රාත්‍රියේ නිවෙසට පැමිණියේ ය.

"දැන් ඉතින් තියෙන්නෙ, යාළුවාට ලියුමක් දාන්න," යි ඔහු කී ය. "මාලෙ ගාංචුව කැඩුණ හින්දා ඒක හදන්න දුන්නයි කියලා ලියලා අරින්න. එතකොට අපිට මේක ගැන තවත් සොයලා බලන්න කල් ලැබේවි."

ඔහු කී පරිදි ඈ ලියමන ලියුවා ය.

සුමානයක් ගත වෙත් ම ඔවුන්ගේ බලාපොරොත්තු සියල්ල ම සුන් වී ගියේ ය.

එම සුමානයේ දී අවුරුදු පහකින් වයසට ගොස් සිටි ලොයිසල් මහතා, "දැන් ඉතින් නැති වුණු මාලෙ වෙනුවට වෙනින් මාලයක් අපි අරන් දෙන්න බලන්න ඕනෙ," යි පැවසුවේ ය.

ඊළඟ දිනයෙහි ඔවුහු මාල පෙට්ටිය ද රැගෙන එහි නම සඳහන්ව තිබූ ස්වර්ණාභරණ වෙළෙන්දා සොයා ගෙන ගියෝ ය. කුවිතාන්සි පොත් පෙරළා බැලූ වෙළෙන්දා, "මේ මාලෙ විකුණලා තියෙන්නෙ මම නෙවෙයි නෝනා. මම මාල පෙට්ටිය විතරක් සමහර වෙලාවට විකුණන්න ඇති," යි කීවේ ය.

ඉක්බිතිව ඔවුහු පසුතැවිල්ලෙන් හා වේදනාවෙන් පීඩිතව තම තමන්ගේ මතකයේ සැටියට අර නැති වූ මාලයට සමාන මාලයක් සොයමින් වෙළෙන්දකු වෙළෙන්දකු පාසා යැමට පටන් ගත්තෝ ය.

මෙසේ එබඳු මාලයක් සොයමින් ඇවිද්දා වූ ඔවුන්ට පැලේ රෝයල් වීථියේ පිහිටි කිසි යම් සාප්පුවක දී තමන් සොයන මාලයට සෑම අතකින් ම වාගේ සමාන වූ මාලයක් හමු වූයේ ය. එහි වටිනාකම ප්‍රන්කු හතලිස් දාහක් වී ය. තිස් හය දාහකට එය ඔවුන්ට විකිණීමට වෙළෙන්දා කැමති වූයේ ය.

දින තුනක් යන තුරු එය නො විකුණා තබා ගන්නා ලෙසටත් පෙබරවාරි මාසය අවසාන වීමට පළමු නැති වූ මාලය සම්බ වුණ හොත් මේ මාලය ප්‍රන්කු තිස් හතර දාහකට ආපසු ගන්නා ලෙසටත් ඔවුහු ඇවිටිලි කර, වෙළෙන්දාගෙන් කැමැත්ත ලබා ගත්තෝ ය.

ලොයිසල් වෙත පියාගෙන් ලැබුණ ප්‍රන්කු දහ අට දාහක් වී ය. ඉතිරි මුදල ණයට ගත යුතු වූයේ ය.

සැබවින් ම ඔහු එය ණයට ගත්තේ ය. එක් අයගෙන් ප්‍රන්කු දාහක් ද තවත් අයකුගෙන් ප්‍රන්කු පන් දාහක් ද තවත් දෙ තැනකින් ලුවී පහක් හා තුනක් ද ඔහු ණයට ගත්තේ ය. මේ සඳහා ප්‍රොමිසරි නොට්ටුවලට අත්සන් තැබූ ඔහු විනාශකාරී ගිවිසුම්වලට මැදිහත් වී ය; අධික ලෙස පොලී අය කරන්නන් හා මුදල් ණයට දෙන්නන් සමග බැඳුම්වලට එළඹුණේ ය. ඔහු තමාගේ මුළු අනාගතය ම උකස් කළේ ය; ගෙවීමට හැකි වේ ද හැකි නො වේ ද යන්න නො දැන ම ණය පිළිබඳ ලියකියවිලිවලට අත්සන් තැබුවේ ය. මෙසේ අනාගතයේ දී විඳීමට සිදු වන දුක් පීඩාවන් හා කම්කටොලු ද දරුණු අගහිඟකම් හා ආපදාවන් ද ශාරීරික වූත් මානසික වූත් ආපත්තීන් හා විපත්තීන් ද ගැන බියෙන් ඇලළෙමින් ම ඔහු ප්‍රන්කු තිස් හය දහස ගෙන ගොස් අලුත් මාලය මිල දී ගැනීමට වෙළෙන්දා ගේ මේසය මත තැබී ය.

ලොයිසල් මහත්මිය මාලය රැගෙන, පෙරළා ෆොරෙස්ටියර් මහත්මිය කරා ගිය විට ඇය නොරුස්නා විලාසයකින් මෙසේ කීවා ය:

"මීට කලින් නේද මේක ගෙනත් දෙන්න තිවුණේ? මටත් ඕක ඕන කෙරුවා නම් එහෙම?"

ෆොරෙස්ටියර් මහත්මිය, තම මිතුරිය බියෙන් සිතා ගෙන සිටි පරිදි මාල පෙට්ටිය විවෘත කර නො බැලුවා ය. එහි තිබුණේ වෙන මාලයක් බව දැන ගත්තා නම් ඇය කුමක් සිතනු ඇත් ද? තමා හෙරකැයි සිතා නො ගන්නී ද?

එතැන් සිට අග-හිඟකම්වලින් මිරිකුණු ජීවිතයක බියකරුකම ලොයිසල් මහත්මියට දැනෙන්නට වී ය. මුල සිට ම ඈ තමා සතු කොටස නිර්භීතව වීරවත්ව ඉටු කළා ය. මේ භයංකර ණයතුරුස් සියල්ල ම ගෙවා අවසන් කළ යුතු වූයේ ය. ඇය සියල්ල ම විඳ දරා ගනු ඇත. සේවිකාව අස් කර දමනු ලැබූ අතර, නිවෙස ද වෙනස් කරන ලද්දේ ය. ඔවුහු උඩු මහලක පියසි කොනකට නුදුරු කුඩා කාමරයක වාසයට පැමිණියහ.

ගෙදර දොරක පවත්නා බර වැඩ කටයුතු ගැන ද මුළුතැන්ගෙයක පීඩාකාරී වෙහෙසකර වැඩ පළ ගැන ද ඇය තුළ අවබෝධයක් ඇති වූයේ ය. ඈ තෙල් සහිත හැළි වළන් ද

වෙනත් මැටි බඳුන් ද පිඟන් කෝප්ප හා දීසි පීරිසි ද තම රෝස පැහැති නිය ගෙවී යන තුරු සේදුවා ය. කිලිටි රෙදි පෙරදි ද කමිස හා වෙනත් ඇඳුම් පැළඳුම් ද සේදූ ඈ, ඒවා වැලක වැනුවා ය; සෑම උදයක ම කසළ කූඩය පහළ වීථියට ගෙන ගොස් දැමූ ඈ, වීථියේ සිට දිය බඳුන් නිවෙසට උස්සා ගෙන එන අතර මඟ දී තරප්පු පෙළේ සෑම තලයක දී ම නතර වී හති ඇරියා ය. දිළිඳු දුප්පත් ගැහැනියක මෙන් ඇඳුම් පැළඳුම් කළ ඈ අතේ එල්ලා ගත් මල්ලක් ඇතිව පලතුරු කුළුබඩු මස් ආදිය විකුණන වෙළෙන්දන් වෙත ගොස් සෑම තඹයක් ම ඉතිරි කර ගැනීමේ බලාපොරොත්තුවෙන් ඔවුන් සමඟ කේවෙල් කරමින් සණ්ඩු දබර කරමින් නින්දා අපහාස වින්ද ය.

සෑම මාසයක දී ම සමහර නෝට්ටු ගෙවිය යුතු වූ අතර, සමහර නෝට්ටු අලුත් කර ගත යුතු වී ය; මෙ සේ මෙ පරිද්දෙන් කාලය ගත වී ගියේ ය.

ඇගේ සැමියා සවස් කාලයේ දී කිසි යම් වෙළෙන්දකුගේ ගිණුම් වාර්තා සකස් කිරීමෙහි යෙදුණේ ය; බොහෝ විට රාත්‍රි කාලය ඔහු ගත කෙළේ පැන්ස බාගයකට පිටුව ගණනෙ පිටපත් කිරීමෙහි යෙදීමෙනි.

මෙම ජීවිතය අවුරුදු දහයක් පැවතුණේ ය.

අවුරුදු දහය අවසානයේ දී ණය තුරුස් සියල්ල ම අධික පොලී ගන්නන්ගේ මුදල් ද වැල් පොලියෙන් එක පිට එක එකතු වූ මුදල් ද ආදි වශයෙන් ණය තුරුස් සියල්ල ම ඔවුහු ගෙවා නිදහස් කර දැමූ හ.

මේ වන විට ලොයිසල් මහත්මිය මහලු පෙනුමකින් යුතුව සිටියා ය; ඈ දිළිඳු ගෙවල වසන අනෙක් ස්ත්‍රීන් මෙන් හැඩිදැඩි, ශක්තිමත්, ගොරෝසු, දරදඬු ස්ත්‍රියක බවට පත්ව සිටියා ය. අවුල්ව ගිය කිලිටි කෙසින් ද විසිරී ගිය අවිනීත ඇඳුම් පැළඳුමින් ද රතුව රළු වූ දෑත්වලින් ද යුතු වූ ඈ, මහ හඬින් කෑගසමින් කථා කළා ය; දිය පහරවල් වේගයෙන් ඒ මේ අත ගසමින් බිම සේදුවා ය; එහෙත් ඇතැම් විටෙක සැමියා කාර්යාලයට ගොස් සිටින අවස්ථාවල දී ජනේලය අසලින් වාඩි වන ඈ, දිගු කලෙකට පෙර ගත කළ ඒ සුන්දර සන්ධ්‍යාව ගැනත්, තමා ඒ තරම් රූමත්ව දැකුම්කලුව සන්තෝෂයෙන් ගත කළ ඒ උත්සවය ගැනත් කල්පනා කරමින් කාලය ගත කළා ය.

එම මාලය ඇය අතින් නැති නොවූයේ නම් කුමක් සිදු විය හැකිව තිබුණේ ද? කවුරු එය දනිත් ද? කවුරු දනිත් ද? ජීවිතය කෙතරම් අද්භූත ජනක ද? කෙතරම් පෙරළෙනසුලු ද? අපගේ විනාශයට හෝ ගැලවීමට වුවමනා කරන්නේ කෙතරම් සුළු, කෙතරම් අල්ප මාත්‍ර දෙයක් ද?

එක් ඉරු දිනෙක, සතියේ වැඩවලින් විවේකයක් ලබනු සඳහා ෂාං සෙලිසේහි ඇවිදීමට ගිය ලොයිසල් මහත්මියට, කුඩා දරුවකු අතින් අල්ලා ගෙන ගමන් කරමින් සිටි ස්ත්‍රියක් හදිසියේ ම දකින්නට ලැබුණා ය. ඒ ෆොරෙස්ටියර් මහත්මිය වූවා ය. ඈ එකල තරුණ වියේ සිටි අන්දමින් ම, යොවුන් බවින් යුතුව රූමත්ව සුන්දරව සිටියා ය.

ලොයිසල් මහත්මිය ආවේගයන්ගෙන් කැලඹී ගියා ය. ඇයට කථා කළ යුතු ද? ඔව්, සත්තකින් ම කථා කළ යුතු ය.

දැන් සියල්ල ම ගෙවා අවසන් කර ඇති හෙයින් සියල්ල ම ඇයට හෙළි කළ යුතු ය. එසේ නො කළ යුත්තේ මන්ද?

ඉක්බිතිව ලොයිසල් මහත්මිය ඇය වෙතට ගියා ය.

"සුභ උදෑසනක් වේවා, ජීන්!"

ඇය හඳුනා ගැනීමට ෆොරෙස්ටියර් මහත්මියට නො හැකි වූ හෙයින්, දුප්පත් දිළිඳු ස්ත්‍රියක තමාට මෙසේ දන්නා හඳුනන නියායෙන් ආමන්ත්‍රණය කිරීම ගැන ඈ පුදුමයට පත් වූවා ය. "මට මේ එක්කෙනාව අඳුනන්න බෑ," යි ඈ ගොතගසමින් පැවසූවා ය. "මොකක් හරි වැරදීමක් වෙලා වෙන්න ඇති."

"නෑ. වැරදීමක් වෙලා නෑ. මම මැටිල්ඩා ලොයිසල්."

මෙය අසත් ම ඇගේ මිතුරිය විස්මයාකුල රාවයක් පිට කළා ය.

"අනේ, මගේ අසරණ මැටිල්ඩා... ඔයා කොච්චර වෙනස් වෙලා ද...?"

"ඔව්, එදා ඔයාව හම්බු වෙලා කථා බස් කරලා ගිය දවසෙ ඉඳන් අද වන තුරු මම වින්ද කරදර හිරිහැර අනන්ත යි... අප්‍රමාණ යි... ඉතින් ඒ ඔක්කෝම මං වින්දෙ ඔයා හින්දා..."

"මොනවා....? මං හින්දා....? ඒ කොහොම ද....?"

"එදා අමාත්‍යාංශයේ පාටියට මට ඇඳ ගෙන යන්න ඔයා දීපු දියමන්ති මාලය ඔයාට මතක ද?"

"ඔව්, මතක යි."
"ඒක මගෙන් නැති වුණා...."

"ඒ කොහොම ද....? මට ඒක ඔයා ආපහු ගෙනැවිත් දුන්නා නෙ."

"නෑ, මං ඒක ආපසු ගෙනැවිත් දුන්නෙ නෑ. මං ආපසු ගෙනැවිත් දුන්නෙ ඒ මාලෙ වගේ ම වෙනින් මාලයක්. ඉතින් පහු වුණු අවුරුදු දහය තිස්සේ ම අපි ඒකට ණය ගෙවුවා. ඔයාට තේරෙනවා ඇති නේ, මොකවත් ම නැති අපිට එච්චර සල්ලියක් ගෙවන එක ලේසි වැඩක් වෙන්න බැරි විත්තිය... කොහොම හරි අපි ඒ ණය ටික ගෙවලා ඉවර කෙරුවා; ඒක මගේ හිතට ලොකු සතුටක්."

ෆොරෙස්ටියර් මහත්මිය නතර වී බලා ගත් ගමන් සිටියා ය.

“ඔයා කියන්නෙ මගේ දියමන්ති මාලෙ වෙනුවට ඔයා වෙනින් දියමන්ති මාලයක් මට ගෙනත් දුන්නයි කියලා ද?”

“ඔව්, ඔයාට ඒක තේරුණෙ නෑ නේ ද? ආයි ඇරලා නෑ, දෙක ම එක වගේ ම යි.”

මෙ සේ කියූ ඈ, ආඩම්බරයත් අහිංසක සන්තෝෂයත් ගැබ් වුණු මඳහසක් පෑවා ය.

බලවත් සේ කම්පාවට පත් ෆොරෙස්ටියර් මහත්මිය ඇයගේ දෑත අල්ලා ගත්තා ය.

“අනේ, මගේ අසරණ මැටිල්ඩා! මගේ ඒ මාලෙ බොරු දියමන්ති මාලයක්! හොඳට ම වැඩි වුණොත් ඒක වටිව් ප්රන්කු පන්සීයක්....!”

## අභ්‍යාස

01. දියමන්ති මාලය නැති වීමට පෙර සිහින ලෝකයක ජීවත් වූ මැටිල්ඩා පසු ව සැබෑ ලෝකයේ කටයුතු කළ ආකාරය පැහැදිලි කරන්න.

02. දියමන්ති මාලය කෙටිකතාවේ “මැටිල්ඩාගේ සැමියා වන ලොයිසල් යහපත් සැමියෙකි.” ඔබේ අදහස් දක්වන්න.

03. මෙම කෙටිකතාවෙහි අත්දැකීම ප්‍රකාශ කිරීම සඳහා අවස්ථා හා සිද්ධි නිරූපණය කර ඇති ආකාරය සාකච්ඡා කරන්න.

04. කතුවරයා කෙටිකතාවේ චරිත සජීවී ලෙස නිරූපණය කර ඇති ආකාරය සාකච්ඡා කරන්න.

# 15 දෑතේ කරගැට සිඹ සනසන්නට...

මහගම සේකර (1929 - 1976)



සියනෑ කෝරළයේ කිරිඳිවැල නගරයට ආසන්න රදාවාන ගම් පියසෙහි දී මහගම සේකර මහතා උපන්නේ ය. ගැමි පරිසරයක හැදී වැඩෙමින් ජීවන තක්සලාවෙන් නොමඳ අත්දැකීම් ලත් හෙතෙම පසු කලෙක සිය නිර්මාණ ජීවිතයට එම අත්දැකීම් පිටිවහලක් කර ගත්තේ ය. ගුරුවරයෙකු ලෙස සිය වෘත්තීය දිවිය ආරම්භ කළ සේකර, ගුරු විද්‍යාල කථිකාචාර්යවරයකු, ගුවන්විදුලි ශිල්පියකු මෙන් ම පුවත්පත් කලාවේදියෙක් ද වූයේ ය.

කාව්‍ය, ගීත, නාට්‍ය, නවකතා, කෙටිකතා, සිනමාව, චිත්‍ර කලාව හා පුවත්පත් කලාව යන විවිධ සාහිත්‍යාංග මගින් ඔහු නිර්මාණකරණයෙහි ලා තම සමත්කම් ප්‍රකට කළේ ය. කෙසේ වෙතත් සේකර වඩාත් රසික විචාරක අවධානය දිනා ගත්තේ කාව්‍ය නිර්මාණකරණයෙනි. **නොමියෙමි, සක්වාලිහිණි, ප්‍රබුද්ධ** ඔහු ලියූ කාව්‍ය කෘති කිහිපයකි. ඔහුගේ නාට්‍ය රචනා ගීත නාටක හා (ගද්‍යමය ස්වරූපයෙන් කෙරෙන සංවාද රහිත, හුදෙක් ගායනයෙන් ම භාව සූචනය කෙරෙන නාටක) ගීතාංග නාටක, (ගීතයෙන් ම කතා විකාශනය සිදු නො වන, ගද්‍ය සංවාද ද ඇතුළත් ගීතය භාව සූචනයේ අංගයක් පමණක් ලෙස භාවිත කරන නාටක) යන දෙකොටසට වෙන් කර දැක්විය හැකි ය. කුණ්ඩලකේශී, සද්දන්ත, හංස ගීතය ඔහු කළ නාට්‍ය කිහිපයකි.

**තුංමංහංදිය** හා **මනෝමන්දිර** ඔහු ලියූ නවකතා වන අතර, පසු ව **තුංමංහංදිය** ඔහු අතින් ම සිනමා කෘතියක් බවට ද පත් විය. සේකර අතින් ප්‍රබන්ධිත ගීත ඉතා ජනප්‍රිය විය. 'රත්නදීප ජන්ම භූමි', 'ඇසේ මතු වන කඳුළු බිඳු ගෙන', 'පාළු අඳුරු නිල් අහස මමයි' වැනි ගීත ඉන් සමහරකි. 'අන්න බලන් සඳ', 'ඈත කඳුකර හිමව් අරණේ' ඔහු ලියූ ජනප්‍රිය නාට්‍ය ගීත කීපයකි.

මහගම සේකරයන්ගේ කාව්‍ය හා ගී පද රචනාවන්හි ජන ගී සම්ප්‍රදාය හා සම්භාව්‍ය සාහිත්‍යය මැනවින් සම්මිශ්‍රණය වී තිබිණි. ඒවා සැමෙකක් ම අර්ථ හා භාව පූර්ණ නිර්මාණ ය. සාම්ප්‍රදායික හෙළ කලාව ඇතුළු සංස්කෘතික ලක්ෂණ අවියෝජනීය ව ඔහුගේ නිර්මාණ හා බැඳී පැවතුණි.

සේකරයන් ලියූ ප්‍රබුද්ධ ඇතුළු කෘති ගණනාවක් ම ප්‍රකාශයට පත් වන්නේ ඔහු මිය යෑමෙන් අනතුරුව ය. **සිංහල ගද්‍ය පද්‍ය නිර්මාණයන්හි රිද්ම ලක්ෂණ** නම් වූ පර්යේෂණ ග්‍රන්ථය ද එවැන්නකි. මෙම නිබන්ධය සඳහා මහගම සේකර මහතාට ආචාර්ය උපාධිය

පිරිනැමිණි. මියගිය අයකු පර්යේෂණය නිබන්ධයක් සඳහා ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලයේ ආචාර්ය උපාධියෙන් පිදුම් ලද ප්‍රථම අවස්ථාව ද මෙය වේ.

මෙම පාඩම සඳහා යොදා ගෙන ඇති 'දෑතේ කරගැට සිඹ සනසන්නට' නිර්මාණය **ප්‍රබුද්ධ** කාව්‍ය සංග්‍රහයෙන් උපුටා ගත් කොටසකි. පසු ව **මහගම සේකරයන්ගේ නොපළ ගීත** කෘතියෙහි ද 'ප්‍රාර්ථනා' නමින් එය පළ වී ඇත. මෙම පද වැල ඩබ්. ඩී. අමරදේවයන් විසින් සංගීතවත් කොට විමලා අමරදේවයන් විසින් ගුවන් විදුලි ගීතයක් ලෙස ද ගායනා කරනු ලැබිණ.

මෙම නිර්මාණයෙන් දේශයේ අතීත ශ්‍රී විභූතිය, ජාතිකාභිමානය හා ශ්‍රමාභිමානය යන සංකල්ප ශ්‍රාවකයා තුළ ජනිත කෙරෙන අතර, සමෘද්ධිමත් හෙට දිනයක් පිළිබඳ අනාගත අපේක්ෂා දල්වන විශිෂ්ට නිර්මාණයක් ලෙස ද මෙය ඇගයීමට ලක් ව ඇත.

දෑතේ කරගැට සිඹ සනසන්නට
ළා ගොයමේ දළු පවන් සලයි
දහදිය මුතු ඇට මල් වරුසා වී
කරල් බරින් පීදී වැගිරෙයි

අඩ සඳ මෝරන මැදියම් අහසින්
බිලිඳු හදට කිරි දියර ගලයි
හෙට ඉදි වන නව ලෝකය දක දක
පුංචි පුතා හීනෙන් හිනැහෙයි

දහසක් වැව් බැඳි යෝධ මිනිස් කැල
යළි ඉපදී ඇති මවු දෙරණේ
සත් රුවනින් නව නිදහන් මතු වී
පුතුගෙ සිනාවෙනි ඔප වැටුණේ

දෑසේ කඳුළැලි පිසදා බලනෙමි
හෙට හිරු එළියට වඩින දිනේ
ණය නැති බිය නැති නිවහල් යුගයක
පුංචි පුතා රජ කරනු පෙනේ

මා ගත වෙහෙසට ආදරයෙන් දිය
උල්පත පාදන පුංචි පුතුන්
ඒ ගත වෙහෙස ම සතුටක් වෙයි මට
ඔබ සිහි වන විට පුංචි පුතුන්

දෙදහස් පන්සිය වසරක් තිස්සේ
මා දුටු සිහිනය පුංචි පුතුන්
ඔබ හට ලෝකය ඉදි කර දී මිස
යා නොහැකි ය මට පුංචි පුතුන්

**අභ්‍යාස**

1. මෙම නිර්මාණයෙන් ජාතික අභිමානයත්, ශ්‍රමාභිමානයත් ඉස්මතු කර ඇති ආකාරය පැහැදිලි කරන්න.

2. නිර්මාණකරුවා තම නිර්මාණය අර්ථ සම්පන්න කිරීමට අතීත ශ්‍රී විභූතිය යොදා ගෙන ඇති ආකාරය අගය කරන්න.

3. මෙම නිර්මාණයෙන් ඉස්මතු වන කවියාගේ ප්‍රාර්ථනා ඇගයීමට ලක් කරන්න.

4. මෙය රසවත් නිර්මාණයක් බවට පත් කිරීමට රචකයා යොදා ගෙන ඇති ධ්වනිතාර්ථ, භාවාර්ථ, රූපකාර්ථ, සංකේත වැනි රචනා උපක්‍රම විමසන්න.

# 16

# වස්සානය

**රත්න ශ්‍රී විජේසිංහ (1953)**



1953 ජූනි මස දෙවැනි දින දකුණු පළාතේ නාකියාදෙණිය තෙල්ලඹුරේ ග්‍රාමයේ දී රත්න ශ්‍රී විජේසිංහ උපන්නේ ය. ඔහු ප්‍රාථමික අධ්‍යාපනය ලැබුයේ නාවල රජයේ පාසල, තෙල්ලඹුර විද්‍යාකාන්ති විදුහල හා තෙල්ලඹුර දුටුගැමුණු විදුහල යන පාසල්වලිනි. පහ ශ්‍රේණියේ ශිෂ්‍යත්වය සමත්වූ රත්න ශ්‍රී, ද්විතීයික අධ්‍යාපනය සඳහා හික්කඩුවේ ශ්‍රී සුමංගල මධ්‍ය මහා විද්‍යාලයට ඇතුළු විය. ඉනික්බිති ගාල්ල රිච්මන්ඩ් විද්‍යාලයෙන් උසස් පෙළ තෙක් විද්‍යා අංශයෙන් උගත් හෙතෙම පසුව පේරාදෙණිය විශ්වවිද්‍යාලයෙන් සිංහල විෂය පිළිබඳ ගෞරව උපාධිය ලබා ගත්තේ ය. කැලණිය විශ්වවිද්‍යාලයේ ශාස්ත්‍රපති උපාධිධරයකු ද වන රත්න ශ්‍රී සිය වෘත්තීය ජීවිතය අරඹන්නේ ගුරුවරයකු ලෙසිනි. පසු කලෙක දකුණු පළාත් අධ්‍යාපන දෙපාර්තමේන්තුවේ සිංහල භාෂා ඒකකය භාර ව කටයුතු කළ ඔහු අනතුරුව උණවටුන අමරසූරිය ගුරු විද්‍යාලයේ කථිකාචාර්යවරයකු ලෙස ද සේවය කළේය. එමෙන් ම ඔහු අමාත්‍යාංශ කිහිපයක ජ්‍යෙෂ්ඨ සහකාර ලේකම් තනතුරු දරා ඇත.

පුවත්පත් කවි පිටු ගණනාවක් සංස්කරණයෙහි යෙදෙමින් ආධුනික කවීන්ට ගුරු උපදේශ හා ධෛර්යය සපයන රත්න ශ්‍රී රූපවාහිනී හා ගුවන්විදුලි වැඩසටහන් සම්පාදකයකු ලෙස ද පරිචයක් ලැබී ය. තීරු ලිපි රචනයෙන් සහ විශේෂාංග ලිපි සම්පාදනයෙන් රත්න ශ්‍රී පුවත්පත් කලාවට ද විශේෂ දායකත්වයක් සපයයි.

මේ සියලු සාහිත්‍ය කර්තව්‍යයන් අතරේ රත්න ශ්‍රී විජේසිංහයන් වඩාත් ම ජනප්‍රිය වූයේ කාව්‍ය හා ගී පද රචනයෙනි. 1975 දී පළ කළ **බිය නොවන් අයියණ්ඩි** ඔහුගේ ප්‍රථම කාව්‍ය සංග්‍රහයයි. පසුව පාඨක විචාරක නොමඳ අවධානය දිනූ **වස්සානේ** කාව්‍ය කෘතිය පළ විය. **සුබ උදෑසන** (රාජ්‍ය සම්මාන) **සල් ගහ යට**, **තරු ලකුණ**, **මධ්‍යම යාමය**, ඔහුගේ අනෙකුත් කාව්‍ය කෘති අතර වේ. රත්න ශ්‍රීගේ ගීත සංග්‍රහයන් වශයෙන් **වංකගිරි අරණේ** (රාජ්‍ය සම්මාන) **සුදු නෙළුම** (රාජ්‍ය සම්මාන), **ගංගා ගීතය**, **ඉර බටු තරුව**, **නෙත නිලුපුල්** (රාජ්‍ය සම්මාන), **ආලකමන්දා** (රාජ්‍ය සම්මාන) යන කෘති හඳුන්වා දිය හැකි ය. **සැළලිහිණියෝ**, **රන්කිරිකට**, **රතු කිකිළි**, **සින්දු කියන උණ පඳුර** (රාජ්‍ය සම්මාන) යන කෘති ඔහුගේ ළමා කෘති අතර වේ. **ලස්සනම අහස හා මතක සිතුවිලි**, **කටුගහයට**, **ලියවැල**, **අත් පසුර** යන ලිපි සංග්‍රහයන් හා **මහගම සේකර හා සමාජ යථාර්ථය** (මහාචාර්ය සුචරිත ගම්ලත් සමග) විමර්ශන කෘතිය රත්න ශ්‍රීගේ ලේඛන කාර්යයන් අතර වේ.

“මගේ බිසව්නේ අසාපන්”, “කිරුළ මුතු ලිහී”, “චන්ද්‍ර මණ්ඩලේ සැතපුණ පුංචි සාවියේ”, “බිම්බරක් සෙනග ගැවසුණ”, “ලෙන්චිනා මගේ නංගියේ”, වැනි ජනප්‍රිය ගී සිය ගණනක් රත්න ශ්‍රී ලියා ඇත. රත්න ශ්‍රී විජේසිංහ සාහිත්‍යධරයාගේ නිර්මාණ මෙහෙවර විමර්ශනය කරමින් රචිත විද්වත් ලිපි රැසකින් සමන්විත **රත්න ශ්‍රී නවකවියේ චන්ද්‍රෝදය** කෘතිය ඔහුගේ නිර්මාණ දිවිය පිළිබඳ මාහැඟි විවරණයකි. රාජ්‍ය සම්මාන රැසකින් පිදුම් ලත් මෙම නිර්මාණකරුවා ජපන් “බුන්කා” සම්මානයෙන් ද ඇගයීමට ලක් කෙරිණි. අද දවසේත් රත්න ශ්‍රී විජේසිංහ සිංහල සාහිත්‍ය ක්ෂේත්‍රයේ පෝෂණයට නිබඳ ව දායක වෙමින් සිටියි.

රත්න ශ්‍රී විජේසිංහයන්ගේ වස්සානේ කාව්‍ය කෘතියෙහි එන ‘වස්සානය’ පද්‍ය පන්තිය නිර්මාණය වූයේ ඔහු ගුරුවරයකු ලෙස මොනරාගල දිස්ත්‍රික්කයේ හුලංදා ඔය සමීපයේ ජීවත් වූ කාලයේ ය. එම පරිසරය ද ජන ජීවිතය ද මැනවින් අත්විඳි කවියා එමගින් නිර්මාණ රැසක් ජාතියට දායාද කළේ ය. ‘වස්සානය’ පද්‍ය නිර්මාණය ජීවන දර්ශනයක් කැටිකරගත් අපූර්ව පරිසර චිත්‍රණයක් ද වෙයි.

ඔය දෑල දොඩමලු ය, සුවඳ බැරුවා ඉන්ට
නිල් වතුර තුරුලු කර කෙසේ අතහැර යම් ද?
කෙකටියා පඳුර සුදු මල් පොකුර වඩාගෙන
සොඳුර, නුඹ වාගේ ම හිනැහේය මා එක්ක

කුඹුක් අතු වතුර අතගගා නැමිලා දියට
දිය කෙළින හැටි පුංචි මාළුවෝ දුටුවා ද?
පුර පසේ සඳ එක්ක තරගයට මෝරන්ට
හුලංදා ඔය කිම් ද මල්වරව ඉල්මහට?

සෙනේහය පිරී ගිය ඔබෙ නයන නිල් පොකුණ
දිය නිලන වැසි සමේ රැලි නගා උතුරා ය
තඹර පෙති අතර හෙල්මැලි රේණු වැසි වසින
ඔබෙ සිනාවෙන් නිවේ හුණුව ගිය ලේ නහර

දෙවැට දිග කරඳවැල් ආරුක්කු යට සැඟව
නිල් කුරුලු බිලිඳු නිදි, ඇහැරවන්නේ කුමට?
රැගෙන දෝතට පෙරා උණුහුමට හිරු එළිය
මිහිරි මවුකිරි වගේ පොවන්නෙමි නුඹලාට

රමණීය වන ගැබෙහි මොනරුන්ට පිල් වියන
සන්නාලියන් කොහොම ඇන්දා ද දේදුන්න?
වැහි වතුර ඉහිනවා නම් ඔවුන් විහිළුවට
කුරුල්ලෝ ඉගිල්ලී වරෙන් නුඹ මා ළඟට

වැහි වලාකුළු රංචු කඳු මුදුන්වල ලගින
දූන් ඒවි තැනි බිමට - සීතල යි මගෙ සිතට
වැසි සමේ රැ ඇඳේ සිහිනයක් වී ඉන්න
ඔබ එන්න - ඉතින් මගෙ හෙට දවස මට දෙන්න

ගිම්හානයේ ගිලන් වී කෘශව සුදුමැලිව
ඇදි ඇදී ඉකි ගැසූ ගඟ නැවත පිරිපුන් ය
දුෂ්කර ය කියා හැර යා යුතු ද ජීවිතය?
කටු පොකුර සිප ගනිමි හෙට මලක් වනු පිණිස

## අභ්‍යාස

01. පහත සඳහන් යෙදුම්වල අදහස් පැහැදිලි කරන්න.

“කෙකටියා පඳුර සුදු මල් පොකුර වඩා ගෙන”
“කුඹුක් අතු වතුර අතගගා නැමිලා දියට”
“රමණීය වන ගැබේ මොනරුන්ට පිල් වියන”
“වැහි වලාකුළු රංචු කඳු මුදුන්වල ලගින”
“කටු පොකුර සිප ගනිමි හෙට මලක් වනු පිණිස”

02. අපූර්ව කාව්‍යෝක්ති නිර්මාණයෙහිලා කවියා දක්වන සමත්කම උදාහරණ දෙමින් පැහැදිලි කරන්න.

03. පරිසරයේ ජීව අජීව වස්තූන් කෙරෙහි වස්සාන සමයෙහි බලපෑම කවියා වර්ණනයට හසු කරන අයුරු විස්තර කරන්න.

04. අජීව වස්තූන් සජීවකරණයේ දී කවියා භාවිත කරන උපක්‍රම සාකච්ඡා කරන්න.

05. මෙම කවි පෙළෙන් දක්වෙන ජීවන දෘෂ්ටිය පැහැදිලි කරන්න.

06. “වස්සානය කාව්‍ය පන්තිය චමත්කාර ජනක පරිසර වර්ණනයකි.” මේ කියමන සාකච්ඡා කරන්න.

# සිංහල සාහිත්‍ය ඉතිහාසය සැකෙවින්

සිංහල නිර්මාණාත්මක ලේඛන අතර පැරණි ම ඒවා අපට හමු වන්නේ සීගිරි කුරුටු ලිපි අතර වේ. පද්‍ය නිර්මාණ බහුල ව දැකිය හැකි මෙම ලේඛන අතර ගද්‍යමය පාඨ කිහිපයක් ද අන්තර්ගත ය. සීගිරි කුරුටු ලිපි බහුතරයක් සවන සියවසේ සිට දසවන සියවස තෙක් අවධියට අයත් බව හඳුනාගෙන ඇත.

**දම්පියා අටුවා ගැටපදය** දැනට හමු වී ඇති පැරණි ම සිංහල කෘතියයි. දෙබිස වැජා අබා සලමෙවන් හෙවත් පස්වන කාශ්‍යප රජු විසින් මෙම කෘතිය රචනා කර ඇත. සිංහල භාෂාව හා එහි ඉතිහාසය හැදෑරීමේ දී මෙය ප්‍රබල මූලාශ්‍රයකි. විනය ග්‍රන්ථයක් වන **සිඛවළඳ හා සිඛවළඳ විනිස** ද සාමණේර භික්ෂූන් සඳහා විනය නීති සංග්‍රහයක් වන **හෙරණ සිඛ** හා **හෙරණ සිඛ විනිස** ද මේ කාලයේ දී ලියා ඇත. කාව්‍ය ශාස්ත්‍රයට අදාළ ව ලියවුණු **සියබස්ලකර** කෘතිය ද මේ යුගයේ බිහි වූ ලේඛන අතර වැදගත් වේ. එය දණ්ඩි නමැති භාරතීය පඬිවරයාගේ **කාව්‍යාදර්ශ** නම් අලංකාර ග්‍රන්ථයේ අනුවාදයකි. සියබස්ලකර කතුවරයා දසවන සියවස මැද භාගයේ ලංකාව පාලනය කළ සිවුවන සේන රජතුමා බව පිළිගැනේ. මෙම කෘතිය මෙන් ම සීගිරි කැටපත් පවුරේ නිර්මාණ ද මෙම අවධියේ ලංකා සමාජයෙහි කාව්‍ය රචනය පිළිබඳව පැවති උනන්දුව සංකේතවත් කරයි.

දොළොස්වන සහ දහතුන්වන සියවස් අතර කාලය සැලකීමේ දී **සසදාවත, මුවදෙව්දාවත** හා **කව්සිළුමිණ** එකල බිහි වූ කව් පොත් වේ. මේ අතර, කව්සිළුමිණ සිංහල සාහිත්‍යයේ විශිෂ්ටතම පද්‍ය කෘතිය ලෙස ද සැලකේ. මේ අවධියට අදාළ ගද්‍ය ග්‍රන්ථ අතර ගුරුළුගෝමීන්ගේ **අමාවතුර** හා **ධර්ම ප්‍රදීපිකාව,** විද්‍යාචක්‍රවර්තිගේ **බුත්සරණ** කැපී පෙනෙයි. වර්තමානයේ පවා උසස් අධ්‍යාපන ආයතනවල ව්‍යාකරණ ශාස්ත්‍රයට අදාළ ව අධ්‍යයනය කෙරෙන **සිදත් සඟරාව** ද ඡන්දස් ශාස්ත්‍රයට අදාළ ව අධ්‍යයනය කෙරෙන **එළු සඳැස් ලකුණ** ද මෙම වකවානුවේ දී ලියන ලදැයි සැලකේ. දැනට විද්‍යමාන නොවන පැරණි පද්‍ය කාව්‍යවලින් උපුටාගත් පාඨ මේ කෘති දෙකෙහි ම ඇතුළත් වේ. ඒවා ඉපැරණි සිංහල සාහිත්‍යය පිළිබඳ ගවේෂණයේ දී මනා පිටුබලයක් සපයයි.

දීර්ඝ ගද්‍ය ග්‍රන්ථ හා සිවුපද කාව්‍ය ග්‍රන්ථ ලිවීම ආරම්භ වී ඇත්තේ දහතුන්වන සහ දහහතරවන සියවස් හි දී පමණ ය. ධර්මසේන හිමියන් විසින් රචනා කරන ලද **සද්ධර්මරත්නාවලිය** සහ මයූරපාද පරිවේණාධිපති බුද්ධපුත්‍ර හිමියන් විසින් රචනා කරන ලද **පූජාවලිය** දීර්ඝ ගද්‍ය කෘති අතර ප්‍රධාන වේ. සිංහල ජන ජීවිතය හා බැඳුණු **පන්සිය පනස් ජාතක පොත** ද වැදගත් දීර්ඝ ගද්‍ය ග්‍රන්ථයකි. එය **පාලි ජාතකට්ඨකතාව** ආශ්‍රයෙන් රචනා කර ඇත.

පැරණි ම සිංහල සිවුපද කාව්‍ය ග්‍රන්ථ ලෙස සැලකෙන්නේ **තිසර සන්දේශය** හා **මයූර සන්දේශයයි.** පක්ෂීන් අත දෙවියන්ට යැවෙන පණිවුඩ සේ ලියවී ඇති මෙම සිවුපද කාව්‍ය කෘති, සන්දේශ සාහිත්‍යය නමින් ද හැඳින්වේ. මෙම සම්ප්‍රදායට ම අනුගත **පරෙවි, ගිරා, සැළලිහිණි, හංස, කෝකිල** හා සැවුල් ආදි සන්දේශ කාව්‍ය පහළොස්වන සියවසේ දී පමණ ලියවිණි.

**කව්සිළුමිණ** ආදි මහා කාව්‍ය ගණයට අයත් වන, තොටගමුවේ රාහුල හිමියන් රචනා කළ **කාව්‍යශේඛරය** හා වීදාගම මෛත්‍රේය හිමි රචනා කළ **බුදු ගුණ අලංකාරය** සහ වෑත්තෑවේ හිමි රචනා කළ **ගුත්තිල කාව්‍යය** ද මේ අවධියට අයත් සිවුපද කාව්‍ය අතර සුවිශේෂ වේ.

ඉහත දැක්වුණු සාහිත්‍ය නිර්මාණ සියල්ල සම්භාව්‍ය සාහිත්‍ය ගණයට අයත් කෙරෙන අතර මේ පෙළෙහි අවසාන පුරුක ලෙස සැලකෙන අලගියවන්න මුකවෙටිගේ **කුස ජාතක කාව්‍යය** ද සිවුපද කාව්‍ය ග්‍රන්ථයකි.

සාහිත්‍යකරණයට රජුන්ගේ දායකත්වය ලැබීම ලංකා ඉතිහාසයේ මුල් අවධියේ සිට සොළොස්වන සියවස දක්වා කැපී පෙනෙන ලක්ෂණයකි. අනුරාධපුර යුගයේ විසූ පස්වන කාශ්‍යප හා සිවුවන සේන, දඹදෙණි යුගයේ විසූ දෙවන පරාක්‍රමබාහු සහ කෝට්ටේ යුගයේ විසූ සවන පරාක්‍රමබාහු යන රජවරු ග්‍රන්ථ කර්තෘවරු ද වෙති. වංසකථාවලට අනුව දෙවන මුගලන් රජු මහා සාහිත්‍යධරයෙකි. බුද්ධදාස, සිවුවන පරාක්‍රමබාහු යන රජවරු ද, ලීලාවතී රැජින ද දෙවන පරාක්‍රමබාහු රජ සමයෙහි විසූ දේවප්‍රතිරාජ නම් අමාත්‍යවරයා ද, නන්නුරුතුනෛයාර් අමාත්‍යවරයා ද උලකුඩය දේවිය ද සාහිත්‍යකරණයට අනුග්‍රහ දැක්වූ අය ලෙස දැක්වෙති. පොත් පිටපත් කිරීම සඳහා විශේෂ නිලධාරීන් කොටසක් පත් කර, ඔවුන්ට වැටුප් ගෙවන ලද බවට ද සාධක හමු වේ. පසුකාලීන ව විදේශීය ආක්‍රමණ නිසා පන්සල් විහාරාරාම විනාශ කිරීමේ දී පන්සල්වල පැවති පොත්ගුල් විනාශ වී යෑම ද අනුබල දෙන ආරාමික පරිසරයට හානි පැමිණීම ද වැනි කරුණු හේතුවෙන් සිංහල සාහිත්‍යයේ පරිහානියක් ඇති විය. නැවත සාහිත්‍යකරණයට ප්‍රබෝධයක් ඇති කිරීමට දහඅටවන සියවසේ වැලිවිට සරණංකර සංඝරාජ හිමියන් විසින් කරන ලද ශාසනික ප්‍රතිසංස්කරණ හේතු විය. එහෙත් එය ප්‍රබල සාහිත්‍ය නිර්මාණ බිහි වීමට තරම් ප්‍රමාණවත් නො වී ය. මෙතෙක් ප්‍රභූ ජනයා සහ භික්ෂූන් ප්‍රමුඛ ව නියැලුණු ග්‍රන්ථකරණයට සාමාන්‍ය ජනතාව ප්‍රවිෂ්ට වීම මෙකල දැකිය හැකි ය. එයට නිදසුන් කළ හැකි විශේෂ ම කෘති දෙක වෙස්සන්තර ජාතක කාව්‍යය හා යසෝදරාවතයි.

පුර්තුගීසීන් බයිබලය ආශ්‍රිත කතා සිංහලයට පරිවර්තනය කිරීම ආරම්භ කිරීම ද දහඅටවන සියවස මැද භාගයේ දී ලන්දේසීන් විසින් මෙරටට මුද්‍රණ ශිල්පය හඳුන්වා දෙමින් බයිබලය සිංහලයට පරිවර්තනය කර මුද්‍රණය කිරීම ද සිංහල ග්‍රන්ථකරණයේ නව වෙනස්කම් විය. දහනවවන සියවසේ දී ඉංග්‍රීසීහු ද මෙරට මුද්‍රණාල පිහිටුවා, බයිබලයට අමතර ව පුවත්පත්, සඟරා ද සිංහල පාඨකයන්ට හඳුන්වා දුන්හ. මෙම ක්‍රියාවලියට සමගාමී ව සිංහල බෞද්ධ ප්‍රකාශන මුද්‍රණයට ස්වකීය මුද්‍රණාල පිහිටුවා ගැනීමට ස්වදේශික ජනතාව ද උත්සුක වූහ. නව පිරිවෙන් ආරම්භ වීමත් සමග පැරණි සිංහල පොත් හා සඟරා මුද්‍රණයට ඔවුහු පෙලඹුණහ. මේ අතර ඉංග්‍රීසි ප්‍රබන්ධ කතා අනුකරණය කරමින් දේශීය ජන ජීවිතය වස්තු කර ගත් ප්‍රබන්ධ කතා ලිවීමට සිංහල රචකයෝ යොමු වූහ.

මෙලෙස ආරම්භ වුණු නූතන සිංහල සාහිත්‍යයේ පුරෝගාමීන් ලෙස සැලකෙන්නෝ පියදාස සිරිසේන, ඩබ්ලියු.ඒ. සිල්වා, කුමාරතුංග මුනිදාස, රැපියෙල් තෙන්නකෝන්, මාර්ටින් වික්‍රමසිංහ, මහගමසේකර, ජී.බී. සේනානායක, මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර ආදීහු ය. ඔවුහු සම්භාව්‍ය සාහිත්‍යයෙන් සහ විශ්ව සාහිත්‍යයෙන් ආභාසය ලබමින් නූතන සිංහල සාහිත්‍ය ක්ෂේත්‍රය පෝෂණය කළහ. ඔවුන්ගේ ආභාසය ලබමින්, ලෝකයේ නව සාහිත්‍ය ප්‍රවණතා ගවේෂණය කරමින් නූතන සිංහල සාහිත්‍ය ක්ෂේත්‍රයට එක් වූ ලේඛකයෝ බොහෝ වෙති. වර්තමාන සිංහල සාහිත්‍යය මේ සියල්ල ඇසුරේ නිර්මාණය වෙයි.